# ජායාරූපකරණයෙන් නිවන් මග



NIRVANA
DHAMMA
නිර්වාණ ධර්ම
www.nirvanadhamma.com

# ඡායාරූපකරණයෙන් නිවන් මඟ

## www.nirvanadhamma.com

("නිර්වාණ ධර්ම" වෙබ් අඩවියේ ප්‍රකාශිත ලිපි ඇසුරිනි)

ඡායාරූපකරණයෙන් නිවන් මඟ

------------------------------------------------------------

රජිතා විදුරන්සි

------------------------------------------------------------

ප්‍රථම මුද්‍රණය ශ්‍රී බු. ව. 2558 (ක්‍රි. ව. 2015)

------------------------------------------------------------



------------------------------------------------------------

පරිඝණක අකුරු සැකසුම සහ පිටකවර නිර්මාණය :

රජිතා විදුරන්සි | කැළණිය, ශ්‍රී ලංකා

------------------------------------------------------------

ප්‍රකාශනය : ග්‍රන්ථයක් වශයෙන් මුද්‍රණය කොට ප්‍රකාශයට පත්කර නොමැත.

======

# පිදුම

උත්තරීතර ශ්‍රී සත්ධර්මයේ පිපාසයෙන්

පෙළෙන්නාවූ සෑම සියලු සතහට...

නිර්වාණ අවබෝධය පිණිස

අංශූ මාත්‍ර වශයෙන් හෝ

උපකාර කරගත හැකි

අමා පැන් පොදක්ම වේවා!!!

======

---

බාහිරයේ දෑ සොයන්නට, අනුන්ගේ දෑ සොයන්නට යොමු කරන සිත
තමන්වම සොයාගැනීමට යොමු කරන්නේ ප්‍රඥාවන්තයාය!
තමන්ට හමුවන සෑම දෙයක්ම තමන්ගේ යථාර්ථය සොයාගැනීම පිණිස
භාවිතා කරන්නේ ප්‍රඥාවන්තයාය!
එවන් ප්‍රඥාවන්තයින්ට බාහිරවූ දෑහි...
බාහිරවූ පුද්ගලයන්ගේ අඩුපාඩු දැකීම පිණිස
වැය කරන්නට කාලයක් නැත්තේමය!
තමන්ටම යොමුවූ සිතැතිව වාසය කරයි!
තමන්වම සොයාගනියි!
තමන්ගෙන් නිදහස්ව නිවීම අත්දකියි!!!

---



තථාගතප්පවේදිතො ධම්මවිනයො භික්ඛවේ
විවටො විරෝචති නො පටිච්ඡන්නො

තථාගතයන් වහන්සේ විසින්
දේශනා කරන ලද ධර්මය විවෘත වූයේ ම බබලයි
වැසුනේ නොම බබලයි



## කතෘගෙන් සටහනක්...

සත්ධර්ම දැනුම සහ අවබෝධය යනු අවස්ථා දෙකකි.  සත්ධර්ම දැනුමකින් තොරව සත්ධර්මාවබෝධයට පත්විය හැකි අතර වර්ථමානය වන විට සත්ධර්ම දැනුම නිසාම සත්ධර්මාවබෝධයට පත්වන මානසිකත්වය බොහෝ පිරිසකගෙන් ගිලිහී ඇති සෙයකි. මෙවැනි සත්ධර්ම කරුණු රැගත්තාවූ ග්‍රන්ථයන් තුල පවසන දෑ වැටහීම යනු සත්ධර්ම **දැනුම ලැබීමක් විනා** සත්ධර්මාවබෝධයට පත්වූවා යැයි නිගමන නොගත යුතුයි.

කල්‍යාණ මිත්‍ර ආශ්‍රය තුලින් සත්ධර්මයක් ශ්‍රවණය කරන්නාවූ අවස්ථාවක තම තමන්ගේ සිත් තුල යෝනිසෝමනසිකාරය සහ ධම්මානුධම්මපටිපදාව යන කරුණු දෙක යෙදෙන අවස්ථාවක සත්ධර්මාවබෝධය සිද්ධ වේ.  සත්ධර්මාවබෝධයක් ලත් කෙනෙකුට මෙසේ කියවා ගන්නා දැනුමද තම තමන්ගේ මාර්ගය අප්‍රමාදීව ඉක්මනින් පූර්ණය පිණිස භාවිතා කරගත හැකිය.

තවමත් ධර්මාවබෝධයකට පත් නොවූ පුද්ගලයෙකු හට පොත පත කියවීම යනු ධර්මයට කැමැත්තක් ඇතිකරවා නිවන් මාර්ගය පිණිස උනන්දුවක් ඇති කර දෙන උපකාරකයක් පමණි.  පෙර නොඇසූ විරූ දහමක් ප්‍රථම වරට කියවා තේරුම් ගන්නවා යැයි යමෙක් කියන්නේ නම්... ඒ තුලින් මාර්ග ඵලයක් ලබන්නේ යැයි යමෙක් කියනවා නම්... එය කුඩා දරුවෙකු විසින් අකුරු ලියන්නේ කියවන්නේ කෙසේද යන්නවත් නොදැන විශ්වවිද්‍යාලයක විභාගයක් සමත් වීමට හැකි යැයි පවසනවා වැනි දෙයකි.

රාගයක් ද්වේශයක් මෝහයක් වැඩෙන්නාවූ දෙයක්ම කියවා ඇසුරු කරනවාට වඩා රාගයෙන් ද්වේශයෙන් මෝහයෙන් මිදීමේ යහපත පෙන්වා දෙන්නාවූ අර්ථවත් සත්ධර්මය රැගත් පොත පත කියවීම වඩාත් යහපත් දෙයකි.  එහෙත් සෑම විටකම මේ ධර්ම දැනුම යනු ධර්මාවබෝධයට පත්වීම නොවේ යන සිහියෙන් යුක්තව සිටීම, අධික මාන්නයන් ආදිය ඇතිවීමෙන් වැළකී නිසි ලෙසින් ධර්මාවබෝධයට පත්වීමට අවශ්‍ය කරන්නාවූ පසුතලය දීමට හැකියාවක් ලැබේ.

ධර්ම දැනුමෙන් පොහොසත්වූවාට ඒ දැනුමෙන් පවසන්නාවූ දෑ කෙරෙහි අවබෝධයෙන් තොර නම් ඒ දැනුමෙන් ලැබෙන යහපත් ඵලයක් නොමැත.  මේ පොත පතෙහි සඳහන් වන්නාවූ දහම් දැනුම අංශු මාත්‍ර තරමින් හෝ වැටහෙන ආකාරයෙන් තම තමන්ගේ ජීවිත වලට ලංකරගෙන නිසි ඵල නෙලාගැනීමට ප්‍රඥාවන්තවන්ත වන්න!  ඔබව බේරාගැනීමට කිසිවෙකුත් නොමැති අතර ඔබේ ගැලවුම්කාරයා විය යුත්තේ ඔබම පමණි!

රජිතා විදුරන්සි - කැළණිය | ශ්‍රී ලංකාව
viduransi@gmail.com
www.nirvanadhamma.com
http://blog.nirvanadhamma.com



## කෘතඥෝපහාර...

කුඩා අවධියේ පටන්ගෙනම මාගේ චිත්ත සන්තානයේ
සමීපතම කල්‍යාණ මිත්‍රයාණන්වහන්සේ වශයෙන් කටයුතු කලාවූ
මඟ නොමඟ පෙන්වා දුන්නාවූ
ඒ අප භාග්‍යවත්වූ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන්වහන්සේට,
ඒ අමා මෑණියන්වහන්සේට, ඒ බුදු පියාණන්වහන්සේට
මාගේ පළමු නමස්කාරය වේවා!!!

නිසි මඟ නිසි එල තෙලාගන්නට උපකාරයක්ම වන්නාවූ
නිවීම පිණිසම රැකවරණය ලබා දෙන්නාවූ ඒ උත්තරීතර සත්ධර්ම රත්නයට
මාගේ දෙවන නමස්කාරය වේවා!!!

උතුම්වූ මහ රහතන්වහන්සේලා ප්‍රමුඛ කරගත්තාවූ
ආර්ය මහා සංඝරත්නයටත්...
නිවන් මාර්ගය කළ එළි කරගැනීම පිණිස
නිති අවවාද අනුශාසනා ලබාදෙමින් උපකාරයක්ම වූ
උත්තරීතර කල්‍යාණ මිත්‍රයාණන්වහන්සේ වන
අතිපූජ්‍ය වන්දනීය වහරක අභයරතනාලංකාර හිමියන්ටත්
මාගේ තෙවන නමස්කාරය වේවා!!!

අප්‍රමාදීව නිවන් මාර්ගය පූර්ණය කරගැනීම පිණිස
නන් අයුරින් අවවාද අනුශාසනා දෙන්නාවූ සෑම සියලූ
කල්‍යාණ මිත්‍රයාණන්වහන්සේලා ප්‍රමුඛ කරගත්තාවූ
අනන්ත සසර පුරාවට දෙමව්පියන් ලෙසින් කටයුතු කලාවූ
ගුරුභවතුන් ලෙසින් කටයුතු කලාවූ
සහකරුවන් සහකාරියන් ලෙසින් කටයුතු කලාවූ
ඥාති හිතමිත්‍රාදීන් වශයෙන් කටයුතු කලාවූ
සෑම සියලූ සතට මාගේ හතරවන නමස්කාරය වේවා!!!

අංශු මාත්‍ර වශයෙන් හෝ ඒ උත්තරීතර නිවීම පිණිසම හේතුවන්නාවූ සත්ධර්මය
විවෘත කරමින් බබළවන්නාවූ මොහොතක් පාසා ලැබෙන්නාවූ
ඒ සියලූ යහපත්වූ පුණ්‍ය කුසල ශක්තීන් සියලූ ලෝ සතට නොඅඩුව ලැබේවා!!!

ඒ අප්‍රමාණ පුණ්‍ය කුසල ශක්තීන්ගේ බලයෙන් අනන්ත සසර පුරාවට
කරන්නට යෙදුනාවූ සියලූ පුණ්‍ය කුසල ශක්තීන් ඇදී ඒවා!!!

ඒ අප්‍රමාණ පුණ්‍ය කුසල ශක්තීන්ගේ බලයෙන්
සියලූ දුක් කෙලවර කරගැනීම පිණිස
සියලූ සතට ධර්මාවබෝධයටම හේතු සකස් වේවා!!!
තෙරුවන් සරණ ලැබ සෑම සතට නිවී සැනසීමම වේවා!!!

~~~~~~~~~~~~~
~~~~~~~~~~~~~

# පටුන

පිටුව

නිර්වාණය අපේක්ෂා කරන්නවුන් විසින් නිවීම පිණිස තෝරාගැනීමට අවශ්‍ය කරන චතුරාර්ය සත්‍ය ධර්මය හෙවත් දුක, දුකට හේතුව, දුක නිරෝධය සහ දුක නිරෝධ මාර්ගය තවත් ආකාරයකින් විග්‍රහ වීමක් තමයි ලෝකයත්, ඒ ලෝකයට හේතුවත්, ලෝක නිරෝධයත්, ලෝක නිරෝධ මාර්ගයත් කියන්නාවූ ආකාරයට විග්‍රහ වීම. මා විසින් සටහන් තබන්නට යෙදෙන ලිපි තුල නිතරම පාහේ පෙන්වා දෙන කරුණක් වන්නේ නිවීම පිණිස නිසි ලෙසින් "ලෝකය" හඳුනාගැනීම වැදගත් බවයි.

ඒ එය ඉතාමත් වැදගත් නිසාමයි. ඉතින් බුදු පියාණන්වහන්සේ විසින් මතුකර ප්‍රකට කොට නිර්වාණය ලැබීම පිණිස ලබාදුන්නාවූ ඒ පෙර නොඇසූ විරූ දහම, විග්‍රහ කරගන්නට පහසුවක් වීම පිණිස අප බොහෝ දෙනෙකුට සමීප උපමාවක් තුලින් පෙන්වා දෙන්නට තමයි මේ සටහන වෙන් වෙන්නේ.

මේ ලිපියේ තිබෙන්නාවූ කරුණු දත්ත වශයෙන් තමන්ට වැටහුණාය කියලා සත්ධර්මාවබෝධයට පත්වී ඇතැයි යන නිගමනයට පත්වීමට ඉක්මන් නොවී නිසි අවබෝධය ලැබීම පිණිස කළ්‍යාණ මිත්‍ර ආශ්‍රය, සත්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්මපටිපදාව යන සෝතාපන්න වීමට අවශ්‍ය කරන පසුතලය තමන්ටම ලබාදීමට නොපසුබටව උත්සාහවන්ත විය යුතුයි. කියවීම යනු ධර්මය අවබෝධකරගැනීම උපකාර වන ඉතාමත් මූලික මට්ටමේ උපනිශ්‍රයක් පමණක් බව නිතරම සිහිපත් කරන්නට කැමැතියි.

කියවීම තුලින් සත්ධර්මය කෙරෙහි ආකර්ශණයක් වුවමනාවක් ඇතිකරගැනීමට රුකුලක් වෙනවා මෙන්ම අවබෝධ වූවන්ට තව තවත් මාර්ගය ඉක්මනින් වඩා ගැනීමට පහසුවන ආකාරයේ කරුණු ලැබීමට උපකාර වෙනවා. බුදු හිමියන් විසින් අර්හත්වය දක්වාම අප තුල තිබිය යුතු පසුතලය ලෙසින් පෙන්වා දුන්නේම මේ කියන්නාවූ පිණිස කළ්‍යාණ මිත්‍ර ආශ්‍රය, සත්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්මපටිපදාව අවස්ථාවන් 4යි.

ඉතින් මේ සියල්ල සිහිපත් කලේ කියවා ලබන දැනුමෙන් හෝ වේවා යම් කිසි සත්ධර්ම දේශනයක් වුවත් නිතර ඇසීම නිසාවෙන් ඒවායේ කරුණු දත්තයන් වශයෙන් වැඩිපුර මතකයේ රැඳීම ධර්මාවබෝධය ලෙසින් වරදවා වටහාගැනීමට යොමුනොවීම පිණිසයි.

ඉතින් මේ ලිපිය තුලින් සම්පූර්ණයෙන්ම "ඡායාරූපකරණ ශිල්පය" නමැති උපමාව භාවිතා කිරීම තුලින් තමයි සත්ධර්මය විමර්ශණය කරන්නට යොමුවෙන්නේ. ඡායාරූපයක් ගැනීම සඳහා කැමරාවක් භාවිතා කිරීමට එය ශිල්පයක් වශයෙන් දැනගෙන සිටීමම අත්‍යවශ්‍ය නොවන්නක් බව මේ වන විට අත්දැකීම් ඇති බොහෝ දෙනෙක් දන්නා කරුණක්.

ඉතින් අතිදුර්ලභ පෙර නොඇසූ විරූ දහම මතුකරගැනීම පිණිස සිහියෙන් නුවණින් වීර්යයෙන් යුතුව කටයුතු කරගන්නවා නම් ඕනෑම අවස්ථාවක් තුලින් මේ ගැඹුරු සත්ධර්මය මතුකරගැනීමට අපට හැකියාවක් ලැබෙනවා. ඒ ආකාරයේ මානසිකත්වයක් ලැබෙන්නේ නම් නිර්වාණ මාර්ගය පූර්ණය පිණිස කටයුතු සම්පාදනය කරගැනීම බොහෝම පහසුවෙනවා.

ඉතින් මේ ලිපිය වෙන් වන්නේ කැමරාවක් භාවිතා කරන විටදී ඒ ක්‍රියාව උපමාවට ගෙන මේ ගැඹුරු සත්ධර්මය මතුකරගැනීමටයි. අන්න ඒ නිසා තම තමන් විසින් කැමරාවක් භාවිතා කරන්නට යෙදෙන අවස්ථාවන් සිහිපත් කරගෙන අදාල මෙනෙහි කිරීම කරගැනීමට වටහාගැනීමට උත්සාහවන්ත වීම සුදුසුයි. ඒ වගේම තමන් තුලත් එවන් වූ අවබෝධයක් ලැබීමට අවබෝධය දියුණු කරගැනීමට අප්‍රමාදීව කටයුතු කරගැනීමම සුදුසුයි.

සත්ධර්මය තුල විග්‍රහ වන ඇස, කණ, දිව, නාසය, කය, මන සහ ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ සහ ධර්ම තේරුම්ගැනීම ඉතාමත් වැදගත් වෙනවා. නිතරම පාහේ ධර්මය තුල පෙන්වා දී තිබෙන්නේ මේ හැමෝටම බැලූ බැල්මට එකවර දැක හඳුනාගන්නට තියෙන්නාවූ ඉන්ද්‍රියයන් වශයෙන් කයේ පිහිටා තිබෙන ඇස, කණ, දිව, නාසය, කය සහ ඒවාට ගෝචර වන බාහිරයේ තිබෙන්නාවූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන කොටස්ම තමයි, ලෙසින් අප බහුතරයක් දෙනා බොහෝ විට පැටලිලි සහිතව මේවා තෝරාගෙන සිටිනවා.

ඒ නිසාම ඇස බෙදා විදර්ශනා කරන්නට කිවූ විට දන්නා තරම් දහම් කොටස් යොදා කඩා බිඳ දමා බලන්නේ බාහිරයේ මේ කය තුල තිබෙන්නාවූ මසින් ලෙයින් සකස් වෙච්ච මේ ඇස යයි හඳුනාගන්නාවූ මස් ගුලියමයි. රූපයක් බෙදා විදර්ශනා කරන්නට කියූ විට දන්නා තරම් දහම් කොටස් යොදා කඩා බිඳ දමා බලන්නේ බාහිරයේ පවතින්නාවූ සත්වයෙක්, පුද්ගලයෙක්, ද්‍රව්‍යයක්, වස්තුවක් යන කොටස් වලට බෙදා වෙන්කරගෙන සිටින්නාවූ රූපයක්මයි.

සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු දෘෂ්ඨිය නැතිකරගැනීම පිණිස කටයුතු කරන මාර්ගය පටලවාගෙන ඒ දෘෂ්ඨිය එසේ තිබියදීම ඒ දෘෂ්ඨියේම මනස මෙහෙයවා ඒවා බෙදා බැලූවාට එයින් ලැබෙන ප්‍රතිඵලය නිවීම ලබාදෙන්නට උපකාර වෙන්නේ නෑ. අන්න ඒ වගේම තමයි අප බහුතරයක් දෙනා හඳුනන මේ **ලෙයින් මසින් සකස් වෙච්ච ඇස** බිඳුවාට හෝ එය පිළිකුල් කලාට හෝ මමත්වය ප්‍රහාණය පිණිස කටයුතු සිදුවන්නේ නෑ. “මමය, මගේය, මගේ ආත්මය” යන දෘෂ්ඨිය නැති වීම පිණිස හෝ “මම, මගේ, මගේ ආත්මය” නැවත නැවත සකස්වීම නැවැත්වීම පිණිස ඒ ලැබෙන ප්‍රතිඵලය එතරම් උපකාර වෙන්නේ නෑ.

එහෙත් තමන්ටත් නොදැනීම රාග ද්වේශ සැඟවීයාම නිසාවෙන් ලෞකික වශයෙන් රාගය ද්වේශය යටපත් වූ මානසික තත්වයකින් කටයුතු කරගන්නට හැකියාවක් අනිවාර්යෙන්ම ලැබෙනවා. එහෙත් ඒ තුල මෝහය ගැබ්වෙනවා නම් බලාපොරොත්තු වන නිවීම ලැබෙන්නේ නැතිනම් නැවත රාග ද්වේශ නැඟී එන්නට හේතු යෙදෙනවා නම් ඒ කරන දෙයින් ඵලක් නෑ නේද?

යථා තත්වය පිළිබඳව අවබෝධයක් නැතිව මේ ආකාරයට බාහිරයේ පවතින්නාවූ ලෝකයක් පිළිබඳව අදහස් ගෙන එය කඩා බිඳ දමමින් “අනිච්ච / අනිත්‍ය” වශයෙන් හෝ වේවා දුක් වශයෙන් හෝ වේවා “අනත්ථ / අනාත්ම” වශයෙන් හෝ වේවා බැලූවා යැයි ලැබෙන නිවීමක් නොමැති බව හඳුනාගත යුතු වෙනවා. එසේ “අනිච්ච, දුක්ඛ, අනත්ත” සංඥාවන් යමෙකුට වැඩෙනවා යැයි කියනවා නම් ඒ වැඩෙන්නේද බාහිරයේ ඕනෑම කෙනෙකුට ඉතාමත් පහසුවෙන් තෝරාගන්නට හැකි ධර්මතාවයක් පිළිබඳව වූ සංඥාවක් මිස යථාවබෝධයෙන් දකින්නාවූ “අනිච්ච, දුක්ඛ, අනත්ත” සංඥා නොවන බව බුද්ධිමත්ව වටහාගත යුතු වෙනවා.

එහෙනම් මොකක්ද මේ පැටලිල්ල? ලිහාගත යුතුමයි. නැතහොත් “ආශ්‍රව සහිත වූත් සුගතියකට හේතුවන්නාවූත් පැවැත්ම පිණිසම වන්නාවූත් ලෞකික ආර්ය මාර්ගයම” වැඩෙනවා මිස “ආශ්‍රව රහිත වූත් පැවැත්ම නැවැත්ම පිණිස වන්නාවූත් නිවනම ලැබෙන්නාවූ ලෝකෝත්තර ආර්ය මාර්ගය” මඟහැරී යනවා. නිවීමක් ලෙසින් රැවටෙනවා මිස නිවීමක් ලැබගැනීමට නොහැකි වෙනවා.

යහපත අයහපත කියන්නාවූ දැට සාපේක්ෂව බැලූ කල මේ කියන “ආශ්‍රව සහිත වූත් සුගතියකට හේතුවන්නාවූත් පැවැත්ම පිණිස වන ලෞකික ආර්ය මාර්ගය” දස වස්තුක මිත්‍යා දෘෂ්ඨියෙන් යුතු මාර්ගයට වඩා යහපත් වුවත්... එයට වඩා මිත්‍යාවෙන් අඩු සම්මා දිට්ඨියෙන් යුක්ත තත්වයක් වුවත්... නිවීමට සාපේක්ෂව සැලකූ කල මේ කියන්නාවූ “ආශ්‍රව සහිත වූත් සුගතියකට හේතුවන්නාවූත්

පැවැත්ම පිණිස වන ලෞකික ආර්ය මාර්ගය"ත් මිත්‍යා දෘෂ්ඨියටම අයත් කොටසක් බව තේරුම් ගත යුතුයි.

ඉතින් බොහෝ දෙනෙක් සම්මා දිට්ඨියෙන් යුතුව නිවීම පිණිසවූ ආර්ය මාර්ගය තුල තමන් සිටිනවා යැයි පටලවාගෙන වඩන්නේත් මේ කියන්නාවූ නිවීමට සාපේක්ෂව ගත් විට මිත්‍යා දිට්ඨික මාර්ගයක්ම තමයි. සූත්‍ර පිඨකය <මජ්ඣිම නිකාය - 3 < 2. අනුපද වග්ගය < 7. මහා චත්තාරිසක සූත්‍රය < පිටු අංක 212 _ 222 < ( PDF පිටු අංක 227 - 238) මේ කරුණ පිළිබඳව විස්තර විමසා බැලීමට බුද්ධිමත් ඔබට හැකියි.

අන්න ඒ නිසා මූලික ධර්මාවබෝධය ඉතාමත් වැදගත් වෙනවා. අවබෝධයෙන් තොරව නිවීම පිණිස මාර්ගයක් පෑදෙනවා යන්න සිදුවන්නක් නොවේ. ඉතින් අන්න ඒ නිසා මේ කරුණ සිහිතබාගෙන මේ සියලූ දේ අංශු මාත්‍ර වශයෙන් හෝ තේරුම්ගැනීමට, පැටලී ඇති තැන් හඳුනාගැනීමට අවශ්‍ය කරන කරුණු කීපයක් ගොනු කොට මේ ලිපිය සටහන් තබන්නම්.

## ...නොදුටු ඉන්ද්‍රිය - 03

ඉහත විස්තර කල ආකාරයට නිවීම ලැබීම පිණිස තෝරාගත යුතු ධර්මයේ සඳහන් වන ඇස, කණ, දිව, නාසය, කය යන දෑ මේ ලෙයින් මසින් සකස් වෙච්ච බැලූ බැල්මට පහසුවෙන් දැකගැනීමට දැනගැනීමට හැකි ඉන්ද්‍රිය නම් නොවේ. ඇස, කණ, දිව, නාසය, කය ලෙසින් අප බාහිරයේ දකින්නාවූ ලෙයින් මසින් සකස් වුණාවූ මේ ඉන්ද්‍රියයන් හඳුනාගැනීමට කිසිවෙකුටත් මහා අපහසුවක් වන්නේ නෑ. එය බාහිරයට විද්‍යාමානයි. ඒ නිසාම පංච ඉන්ද්‍රියයන්ට ගෝචරයි.

ඇස, කණ, දිව, නාසය, කය කියන්නාවූ තත්වයන්ම භාවිතා කරලා දැකගන්නට හැකි තත්වයක් තමයි ඒ තුල පවතින්නේ. එපමණක් නොවේ හොඳින් නුවණින් විමසා බැලූවහොත් ඇස, කණ, දිව, නාසය කියන්නේත් කයේම පවතින්නාවූ ඉන්ද්‍රියයන් වශයෙන් වෙන්වූ කය කියන්නාවූ ඉන්ද්‍රියයටම අයත් කොටස් කිහිපයක්ම වන බව ඔබට දැකගන්නට හැකිවේවි. උදාහරණයකින් කියනවා නම් ඇසට ඇන්නොත් දැනෙන්නේ කායික ස්පර්ශයක් ලෙසින් නොවේද? කණ ඇල්ලූවොත්, නාසය, දිව මේ දේවල් වලට ඇනලා බලන්න... මේවාට තට්ටුවක් දාලා කයට ස්පර්ශ කියන කොටසට අදාලවම නේද දැනෙන්නේ කියලා බලන්න.

එහෙනම් ඒ කියන ඉන්ද්‍රියයන් හඳුනාගැනීම පෙර නොඇසූ විරූ අමුතු දහමක් වෙනවාද? නෑ නේද? තමන්ගේම නුවණින් බුද්ධිමත්ව විමසා බලන්නකෝ. එතකොට ඒ ඉන්ද්‍රියයන් අනිච්ච වශයෙන් දුක් වශයෙන් අනත්ත වශයෙන් ගලපා බැලූවොත් ලැබෙන ප්‍රතිඵලය තුල ගැබ්වූ පෙර නොඇසූ විරූ අමුතු දහමක් තියෙනවද?

මෙතරම් කාලයක් ඔබ මේ ආකාරයෙන් බලන්නට ඇතිනේ. එහෙනම් තවමත් ධර්මය තුල පෙන්වා දුන්නාවූ ප්‍රතිඵල නොලැබුවේ ඇයි දැයි ගැටලූවක් ආවේ නැතිද? නිවැරදිව සිහියෙන් යුතුව කායානුපස්සනාව සිදුවෙනවා නම්, වේදනානුපස්සනාව සිදුවෙනවා නම්, ධම්මානුපස්සනාව සිදුවෙනවා නම්, චිත්තානුපස්සනාව සිදුවෙනවා නම් අනාගාමී හෝ අරිහත් ඵලයන් හිමිවන බව බුදු හිමියන් පෙන්වා දුන්නාවූ කාරණයකි. කය නිසි සේ හඳුනන්නේ නැතිව කල හැකි කායානුපස්සනාව කුමක්ද? සිත හඳුනන්නේ නැතිව කල හැකි චිත්තානුපස්සනාව කුමක්ද?

ඉතින් පැටලීමක් තියෙනවා ඇතැයි සිතුනේ නැතිද? එහෙමත් නැතිනම් ප්‍රතිඵල නොලැබෙන්නේ පින් මදි නිසාවෙන් යැයි සිතා පසුබට වෙලාද ඉන්නේ?

ප්‍රඥාවන්තයින් පිණිසම වූ මේ අපූරු පෙර නොඇසූ විරූ දහම් මතුකරගැනීම පිණිස අප්‍රමාදීව කටයුතු කරගැනීම ඔබට භාර කරමින් මට හැකි පමණින් අඩුම තරමේ අප බොහෝ දෙනෙක් විසින් මෙතෙක් කාලයක් වැඩූ දහම් තුල යම් කිසි පැටලීමක් තියෙනවා යැයි හඳුනාගැනීමට තරම්වත් උපකාර වන අයුරින් මේ සටහන තබන්නට උත්සාහ දරන්නම්.

ඉතින් සත්ධර්මය තුල කියැවෙන ඇස, කණ, දිව, නාසය, කය කියන්නාවූ කොටස ඔය කියන්නාවූ පංච ඉන්ද්‍රියයන්ට හසුවන්නක් නොවේ. ඒ විතරක් නොවේ මේ කියන්නාවූ ලෙයින් මසින් සකස් වූ ඇස, කණ, දිව, නාසය, කය කියන්නාවූ බාහිරයට විද්‍යාමාන ඉන්ද්‍රියයන් ඉක්මවා ගිය මේ ධර්මයේ අප විසින් නිර්වාණය පිණිස තෝරාගත යුතු ඇස, කණ, දිව, නාසය, කය කියන කොටස නිරෝධ කරන්නට හැකි කොටසක්. ඒ කියන්නේ අරිහත්වයත් සමඟම එය නැතිවෙනවා. නවතිනවා. එය නුවණින්ම දැකිය යුතු පෙර නොඇසූ විරූ දහමක්. ඒ බව දැකගැනීමට හොඳම ධර්ම කොටස තමයි පටිච්ච සමුප්පාදයේ තිබෙන "සළායතන" කියන ධර්ම කොටස.

විටෙක සැරියුත් මහරහතන් වහන්සේ විසින් සළායතන දැනගැනීම, සළායතන උදාවීම දැනගැනීම, සළායතන නිරෝධය දැනගැනීම, සළායතන නිරෝධ මාර්ගය දැනගැනීම යනු සම්මා දිට්ඨිය පහළ කරගැනීමට හේතු උපකාර වන ධර්මයක් ලෙසින් පෙන්වා දෙනවා. එයින් පැහැදිලි වන කරුණක් තමයි එහෙනම් මේ කියන සළායතන නිරෝධ කරන්නට හැකියි කියන දේ. එහෙනම් එය බාහිරයේ මේ අපට දැකගන්නට තියෙන්නාවූ ලෙයින් මසින් සකස් වෙච්ච ඇස නම් වූ මස් ගුලියවත්, කණ නම්වූ මස් පෙත්තවත්, නාසය නම් වූ මස් ගුලියවත්, දිව නම් වූ මස් ගුලියවත්, කය නම් වූ මස් ගොඩවත් විය නොහැකියි.

## ...නිරෝධය - 04

මේ හැමෝටම පහසුවෙන් දැකගත හැකි තවත් ටිකක් හොඳින් විමර්ශණය කල විට හොඳින්ම හඳුනාගන්නට හැකි වැඩකට ඇති දෙයක් නොවේ යැයි අදහස් ලැබෙන අසාර යැයි අදහස ලැබෙන මේ පංච ඉන්ද්‍රියයන් සළායතන ලෙසින් ඔබ දැනටමත් වරදවා වටහාගෙන සිටිනවා නම් එය නිවැරදි කරගත යුතු පැටලුම් ඇරගත යුතු කරුණක් ලෙසින් සිහිපත් කර සිටිනවා.

සූත්‍ර පිටකය <මජ්ඣිම නිකාය - 1 < 1. මූලපරියාය වග්ගය < 9. සම්මාදිට්ඨි සූත්‍රය < පිටු අංක 110 _ 133 < ( PDF පිටු අංක 129 - 152)

**4. යතො ඛො ආවුසොඅරියසාවකො එවං සළායතනං පජානාති, එවං සළායතනසමුදයං පජානාති, එවං සළායතනනිරොධං පජානාති, එවං සළායතනනිරොධගාමිනිං පටිපදං පජානාති, සො සබ්බසො රාගානුසයං පහාය -පෙ- එත්තාවතාපි ඛො ආවුසො අරියසාවකො සම්මාදිට්ඨි හොති. උජුගතාස්ස දිට්ඨි. ධම්මෙ අවෙච්චප්පසාදෙන සමන්නාගතො ආගතො ඉමං සද්ධම්මන්ති.**

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

**4. ඇවැත්නි, යම් කලෙක පටන් ආර්‍යශ්‍රාවක තෙමේ මෙසේ සළායතන දනී ද, සළායතනසමුදය දනී ද, සළායතන නිරොධය දනී ද, සළායතන නිරොධගාමිනී ප්‍රතිපදාව දනී ද, හෙතෙම සර්වප්‍රකාරයෙන් ම රාගානුශය නැති කොට…ඇවැත්නි, මෙතෙකිනුත් ආර්‍යශ්‍රාවක තෙමේ සම්‍යග්දෘෂ්ටික වෙයි. ඔහුගේ දෘෂ්ටිය ඍජු වෙයි. දහම්හි ගුණ දැන පැහැදීමෙන් යුක්ත වූයේ මේ නිර්වාණධර්මයට පැමිණියේ වෙයි.**

එතකොට කෙනෙකුට හිතෙන්න පුළුවන් ඉතින් හරිනේ මේ කියන්නේ මස් ලේ වලින් සකස් වෙච්ච ඇස, කණ, දිව, නාසය, කය ගැනම තමයි… ඇයි? අරිහත්වීමෙන් පසුව නැවත උපතක් නැනේ ඒ කියන්නේ නැවත ඇස, කණ, දිව, නාසය, කය හටගැනීමක් නැතිබව තමයි මේ පෙන්වා දෙන්නේ කියලා.

ඉතින් අපි මේ අර්ථයෙන් නැවතුණොත් නම් කිසිදාක නිවන අවබෝධකරගන්නට නම් නොහැකිවෙනවා. එය සළායතන හඳුනාගැනීමවත්, සළායතන වලට හේතුව දැනගැනීමවත්, සළායතන නිරෝධය හෝ නිරෝධ මාර්ගය දැනගැනීමවත් අසලකින් තැබිය හැකි දෙයක් නෙවේ. කෙටියෙන් කියනවා නම් බුදු හිමියන් පෙන්වා දුන්නාවූ හේතු නිරෝධය තුලින් ඵලය නිරෝධය වන බව කියන්නාවූ මූලික සිද්ධාන්තය පිළිබඳව තවමත් හරිහැටි අදහසක් පහල වී නොමැති බව බුද්ධිමත්ව තෝරාගත යුතු වෙනවා.

මේ වගේ හිතෙනවා නම් ඔබ විසින් සිහිපත් කරගත යුතු වෙන වැදගත් කාරණයක් තියෙනවා. ඒ තමයි ජීවත් වෙලා ඉන්න විට අරිහත්වයට පත්වූ අරිහතුන්වහන්සේ කෙනෙක් පිරිණිවන් පානා තෙක් ඇස, කණ, දිව, නාසය, කය කියන දේ තිබෙනවානේ.

එසේ නම් උන්වහන්සේ විසින් නිරෝධ කලාවූ ඇස, කණ, දිව, නාසය, කය කියන කොටස කුමක්ද යන්න නැණවත්ව විවෘත මනසකින් විමර්ශණය කල යුතු වෙනවා. ඒ වගේමයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන්නාවූ කොටස දැනට ඔබ හඳුනන දෑ යැයි සිතෙනවා නම් ඒවාද ජීවත් වන කාලය තුලදීම නිරෝධ වන්නාවූ කොටසක් බව සිහිපත් කරගත යුතු වෙනවා. ජීවත්ව සිටියදීම නිරෝධ වනවා නම් අරිහතුන්වහන්සේට පවා පේන රූප මොනවාදැයි විමසා බලන්නට සිද්ධ වෙනවා. එහිද යම් පැටලුමක් වේදෝයි විමසා දැන ගත යුතු වෙනවා.

එහෙනම් සළායතන කියන්නේ අවිද්‍යාව තිබෙන තාක්, අවිද්‍යාව හෙවත් යථාර්ථය නොදැනුවත්කම කියන්නාවූ තත්වය මුල්කරගෙන හටගන්නා ඇස, කණ, දිව, නාසය, කය සහ මන කියන්නාවූ අවස්ථාවන්ගෙන් යුක්ත තත්වයක්. අවිද්‍යාව මුල්කරගෙන හටගෙන අවිද්‍යාව පදනම් කරගෙන පැවතී අවිද්‍යාව නැතිවෙනවිට නැතිවී යන නිසාම තමයි මේ කියන ප්‍රඥාවෙන් දැකිය යුතු ඇස, කණ, දිව, නාසය, කය කියන අවස්ථාවන් ජීවත්ව සිටියදීම නිරෝධ කල හැකි තත්වයක් බව පෙන්වා දී තිබෙන්නේ. ඒ වගේමයි ඒවාට ගෝචර වන බාහිර ආයතන වශයෙන් දක්වන රූපායතන, ශබ්ධායතන, ගන්ධායතන, රසායතන, ස්පර්ශායතන, ධම්මායතන කියන තත්වයත් නිරෝධ කරන්නට හැකි තත්වයක්.

අන්න ඒ නිසා මේ දේවල් නැණවත්ව විමසා බලා යහපත පිණිස උපකාර කරගැනීම වැදගත් වෙනවා.

ඉතින් අප අවබෝධ කරගත යුතුවෙන්නේ මේ මස් ලේ කයින් සකස් වෙච්ච ඇස ගැන නොවේ. එයින් ඔබ්බට ගියාවූ නුවණින්ම දැකිය යුතු නුවණින්ම හඳුනාගත යුතු මොහොතක් පාසා අවිද්‍යාව හේතුවෙන් සකස් වෙන ඇසක් තියෙනවා. කණ, දිව, නාසය, කය සහ මනත් එසේමයි. අන්න ඒ ඉන්ද්‍රියයන් තමයි අවබෝධකරගත යුතු වෙන්නේ. ඉතින් මෙන්න මේ ප්‍රඥාවන්තව දැකිය යුතු නුවණින්ම දැකිය යුතු පෙර නොඇසූ විරූ දහම දැකගැනීමට රුකුලක් වීම පිණිස "ඡායාරූපකරණය" කියන අවස්ථාව මෙසේ උපමාවට ගැනීමට බලාපොරොත්තු වෙනවා.

එසේ නම් මේ සටහන පූර්ණ වශයෙන්ම දිග හැරෙන්නේ මෙන්න මේ කියන මූලිකම උපමාව වූ කැමරාවක් භාවිතයෙන් රූප ගැනීම කියන තත්වයට ගලපා පෙර නොඇසූ විරූ දහම් විවිධාකාරයෙන් මතු කරදීමටයි. ප්‍රඥාවන්තයා පුංචි උපමාවක් තුලිනුත් මේ සත්ධර්මය තෝරාගන්නවා යැයි බුදු වදන සිහිපත් කරගෙන ප්‍රඥාවන්තව මේ කියන දේ නුවණින් විමර්ශණය පිණිස උත්සාහ දැරීම තුල ඔබට අනුමාන ඥානයක් හෝ පහල කරගැනීමට අවස්ථාව සැලසේවි.

මෙතෙක් කාලයක් පැටලුන දේ බොහෝ යැයි හඳුනා ගැනීමම ඔබට විමුක්ති මාර්ගයට පත්වීමට මහෝපකාරයක්ම වේවි. අන්න ඒ නිසා මතවාදයන් විශ්වාසයන් පසෙකලා තම තමන්ගේ යහපත පිණිස මේ කියන්නාවූ දෑ හැකි පමණින් තෝරාගැනීමට උත්සාහවන්ත වීම ඔබ ඔබටම කරගන්නා යහපතක් බව වටහාගැනීම සුදුසුයි.



ඡායාරූපකරණය පිණිස කැමරාවක් අවශ්‍ය වෙනවා. ඡායාරූප ශිල්පියෙක් අවශ්‍ය වෙනවා. ඡායාරූප ශිල්පියා කැමරාව භාවිතා කරමින් විවිධ ශිල්පීය ක්‍රම භාවිතයෙන් නොයෙක් නොයෙක් රූප රාමු හසුකරගනිමින් ඡායාරූප ගැනීම තමයි ඡායාරූපකරණය ලෙසින් අප සරලවම හඳුන්වන්නේ.

මෙහිදී කැමරාව හොඳින් තිබෙන අවස්ථාවක ඡායාරූප ශිල්පියාත් හොඳින් ඉන්නා අවස්ථාවක බාහිර වූ අවස්ථාවක් ඡායාරූපයක් ලෙසින් පටිගත කරගන්නට හැකිවෙනවා. ඉන්පසුව ඒ ගබඩා වූ සටහන හෙවත් ඡායාරූපය දෙස බලමින් සතුටු වෙනවා දුක් වෙනවා මධ්‍යස්ථව හැසිරෙනවා.

හොඳයි... දැන් ටිකක් විතර ගැඹුරින් හිතලා බලන්න මේ ඡායාරූප ශිල්පියා විසින් ඡායාරූපයක් වශයෙන් ලබාගත්තේ බාහිරයේ තිබූ ඔහුට / ඇයට යහපත් යැයි සිතුණ, ඡායාරූපයක් වශයෙන් හසුකරගැනීමට සුදුසුයැයි සිතුණාවූ යම්කිසි අවස්ථාවක්. එහෙම නේද? ඒ හැඟීම ඔස්සේ ඔහු / ඇය විසින් ඒ අවස්ථාව රාමුගත කොට ඡායාරූපයක් ලබාගන්නවා.

ඒ ලබාගත්තාවූ ඡායාරූපයේ සටහන් වන දත්තයන් සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු යන මැනගැනීමට ලක්කරගෙන දන්නාවූ දැනුමක් තුලින් යම් යම් ආකාරයෙන් හඳුනා ගැනීම් සිදුකරනවා... එහෙම නේද?

එහෙත් ඡායාරූප ශිල්පියා විසින් ලබාගත්තාවූ මේ ඡායාරූපයට ගිනි තිබ්බා කියලා හිතන්න. දැන් ඒ ඡායාරූපයේ ඉන්න සත්තු මැරුණා කියලා හෝ ගස් ගිනි ගන්නවා කියලා හෝ කියමින් ඒ ඡායාරූප ශිල්පියා හඬනවාද?

ඔබේ ඡායාරූපයක් ගිනි ගන්නාවිට ඔබ ගිනිගන්නවා යැයි සිතමින් ඔබ කෑ ගසමින් විලාප තියමින් හෝ හඬනවාද?

ඡායාරූපය අහිමි වීමේ දුක මිස සැබෑවටම ඒ ඡායාරූපයේ තිබූ ස්ථාන හෝ සත්වයින් හෝ ගින්නෙන් විනාශ වුණා යැයි හැඟීමක් ඔබට එනවාද? නෑ නේද? අපි කව්රුවත් ඡායාරූපයක් ගිනිගන්නා විට ඒ ඡායාරූපයේ සිටින සත්ව පුද්ගලයින් හෝ වේවා ද්‍රව්‍ය වස්තු හෝ වේවා ගිනි ගන්නවා කියලා දුක් වෙන්නේ නෑ. ගිනිගැනීම සිදුවන්නේ ඡායාරූපය හෙවත් ඒ යම් අවස්ථාවක් හසුකරගත්තාවූ සටහනට කියලා වැටහීමක් අප තුල තිබෙනවා. එහෙම නේද?



එහෙත් සැබෑ ජීවිතය යැයි පවසන විට අප කරන්නේ නම් ඡායාරූප ගිනි ගන්නවා කියලා දුක් වෙනවා වැනි දෙයක්ය කියලා කිව්වොත් ඔබට සිතේවි මට පිස්සු කියලා. ඇත්තටම පිස්සු මට විතරද එහෙමත් නැතිනම් මේ දේ පිළිබඳව කිසිදු අදහසක් නැතිව කටයුතු කරගෙන යන අප හැමෝටම පිස්සුදැයි විමසා බැලූවොත් හොඳයි නේද?

හොඳයි, තීක්ෂණ නුවණකින් යුතුව හොඳ සිහියෙන් යුතුව මේ තත්වය නුවණින් විමසා බැලීම පිණිස අප යොමුවෙමු. විමර්ශණශීලීත්වය ඉතාමත් වැදගත් නිසාම විවෘත මනසකින් කියවා අනුමාන වශයෙන් හෝ පෙර නොඇසූ විරූ දහම් දැකගැනීම පිණිස උපමා සසඳා දැකිය යුතු කොටස් හඳුනාගන්නට අවබෝධ කරගන්නට උත්සාහ දැරීම යහපතකි.

“ඡායාරූපකරණය” නමැති මෙම උපමාව සිහිතබාගෙන මෙහි කියැවෙන දේ නුවණින් සසඳමින් අදහස වටහාගැනීම ඉතාමත් වැදගත්.

## ...ඇත්ත වූ ඡායාරූපය – 06

මස් ලේ කයින් සකස් වෙච්ච ඇස් ගුලිය හොඳින් ක්‍රියාත්මක වන තුරු බාහිරයේ රූප දැක ඒවා පටිගත කරගැනීම සිදුවෙනවා. අවිද්‍යාවත් හොඳින් පදමට තියෙනවා නම් ඒ පටිගත වෙච්ච මතක සටහනම තමයි මොහොතක් පාසා අපි මේ “ඇත්තක්ය” මෙයම තමයි යථාර්ථය, ලෙසින් රැවටිලා ඉන්නේ.

ටිකක් විතර වැටහුණාද? බොහෝම ගැඹුරු කොටසක් මතුපිටින් වැටහුණාට සතුටු නොවී නුවණින් විමසන්නට පෙළඹෙන්න.

උදාහරණයකට ඔබේ කුඩා කාලයේ ඡායාරූපයක් මේ දැන්මම අරගෙන බලන්න. ඔබ ඒ ඡායාරූපය දෙස බලාගෙන එහි ඉන්නේ ඔබ යැයි පවසනවා. “මේ ඉන්නේ මම, මේ මගේ පොඩි කාලේ ඡායාරූපයක්...” මේ විදියට කියනවානේ නේද?

දැන් නුවණින් හිතන්න ඔය පොඩි කාලේ ඡායාරූපයේ ඉන්නා ඔබමද දැන් ඉන්නේ? ඒ ඡායාරූපයට හසුවී තිබෙන තත්වය දැන් සම්පූර්ණයෙන්ම වෙනස්ම තත්වයක් බවට පරිවර්ථනය වෙලා නැතිද? ඒ ඡායාරූපයේ ඉන්නා කුඩා දරුවා ඔබද? නැතිනම් ඒ ඉන්නේ ඔබ යැයි විශ්වාස කරනවාද? මේ ඡායාරූපයේ ඉන්නේ මම යැයි පවසන විට කණ්ණාඩියෙන් ඔබේ රුව බලන්න. ඔබට ඒ ඡායාරූපයේ පවතින රුවට 100%ක් සමාන රූපයක් ලැබෙනවාද?

මේ අවස්ථාව තෝරාගැනීමට පහසුව පිණිස කුඩා කාලයේ පටන්ගෙන මේ වනතෙක් මගේ යැයි කියන්නාවූ ඡායාරූප පෙලක් තමයි මේ ලබාදී තියෙන්නේ.



එසේ නම් දැන් නුවණින් විමසා හඳුනාගත යුතුයි ඡායාරූපයක් ඇසුරු කරන විට ඒ ඡායාරූපයට හසුවී ඇති අවස්ථාව බාහිරයේ නොපවතින බව. ඒ තත්වය ඉතිරි නැතිවම ගෙවී ගොස් ඇති බව නුවණින් දැක හඳුනාගත යුතුයි.

එහෙත් මනසේ විශ්වාසයක් පවතිනවා දැන් පවතින තත්වයම තමයි ඡායාරූපයේ තිබෙන්නේ කියලා... එහෙම නේද?

එහෙම නොවුනා නම් කුඩා කල ඡායාරූපයක් පෙන්වා "මේ ඉන්නේ මම" යැයි කියන්නේ නැතේ නේද?

තවත් උදාහරණයක් සළකා බලන්න.

ඔබ ගිය විනෝදගමනක හෝ යම් කිසි ස්ථානයක ඡායරූපයක් ගන්න... ඒ ඡායාරූපයේ තිබෙන අවස්ථාව ඒ ස්ථානයේ මේ වන විට තිබෙනවාදැයි නුවණින් විමසා බලන්න. ඔබ ඡායාරූපය දිහා බලාගෙන මේ තියෙන්නේ මේ ස්ථානයනේ කියන විටදී එම ස්ථානයේ වර්ථමානයේ ගැවසෙන කෙනෙක් "ආ දැන් නම් මෙතැන ගොඩක් වෙනස් වෙලා" කියන්නත් පුළුවන් එහෙම නේද? ඒත් ඔබගේ මනස කියනවා නම් වෙනස් වෙලා හෝ මේ ඡායාරූපයේ තියෙන්නේ ඒ ස්ථානයමයිනේ කියලා එය ගැලපෙන්නේ නෑ වගේ නේද?

අපට සිද්ධ වෙන්නේ මෙයයි... අපට හිතෙන්නේම වෙනස් වෙලා හෝ පවතින්නේ එකම දෙයක්මයි කියලයි... ඒත් ඇත්ත එයට වඩා වෙනස්... අවිද්‍යාව ඇති තාක් අප තුල මෙන්න මේ වගේ විකාර වැඩක් සිද්ධ වෙනවා.



යතාර්ථයක් ලෙසින්... වර්ථමානය ලෙසින් ඇසුරු කරන මොහොත මෙන්න මේ කැමරාවේ සටහන් වූ ඡායාරූපයක් වගේ මතක සටහනක් පමණක් බව යම් මොහොතක ඔබට ඔබගේම නුවණින් දැක අවබෝධ කරගන්නට හැකිවුයේ නම් විකාර වැඩසටහන් ඔක්කෝම නවතිනවා. ඒ දෙය තේරුම් ගන්නා පමණින් අවබෝධ වන පමණින් බොහෝ නිදහසක් ලැබෙනවා.

විකාර වැඩ කිව්වේ ඇයි දන්නවද? ටිකක් හිතන්න මුලින්ම කිව්වා වගේ ඡායාරූපයක් ගිනි ගන්නකොට ඇත්තටම ඒ ඡායාරූපයේ ඉන්න සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු තත්වයන් ගිනි ගන්නවා කියලා ඔබට හැඟෙනවා නම් ඒ අනුව ප්‍රතිචාර දැක්වෙනවා නම් "ඒ මොන විකාර පිස්සු වැඩක්ද" කියලා ඔබට හිතේවි නේද?

එහෙනම් දැන් ඉතාමත් වේගයෙන් අතීතයට ගෙවී ගොස් එකතු වෙලා මේ මොහොතේ බින්දුවක්වත් ඉතිරි නැතිව විනාශ වෙලාම ගිය අවස්ථාවක සටහනක් අපිත් යතාර්ථයක් ලෙසින් ගෙන මේ මොහොතේ සිද්ධ වෙන දේවල් යැයි ප්‍රතිචාර දක්වන්නේ නම් අර ඡායාරූපයක් ගිනි ගන්නකොට

එහි සිටින පිරිස හෝ ස්ථාන විනාශ වුනා යැයි කම්පාවන ආකාරයේ විකාර මානසිකත්වයෙන් යුතු වෙනවා නේද?

ඒ විතරක්ද? එහෙම සිදුවෙනවා නම් එතැනදී ඡායාරූපය කියන්නේ බාහිරයේ පවතින ඇත්ත තත්වයක් ලෙසින් අදහසකුත් සිතට ලැබිලා එහෙම නේද?

අන්න ඒ වගේ මේ බාහිරයේ පවතින දෑ යැයි බාහිරයේ පවතින්නාවූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ යැයි ඇසුරු කර වින්දනයක් ලබන්නේ අතීතයට ගෙවී ගිය බින්දුවක්වත් ඉතිරි නැතිව විනාශ වී ගිය අතීත තත්වයක සටහනක්ම පමණයි.

කැමරාවෙන් ඡායාරූප ගැනීම පිණිස අදාල බොත්තම ඔබනා තාක් ඡායාරූප පටිගතවෙනවානේ. නේද? විද්‍යුත් බලයත් හොඳින් තියෙනවා නම් පටිගත කිරීමට අවශ්‍ය කරන මතක ගබඩාවත් හිස් නම් ඡායාරූප ශිල්පියාටත් මහන්සියක් දැනෙන්නේම නැතිනම්... ඕනෑ තරම් ඡායාරූප ගන්නට හැකියි නේද?

අපිට වෙලා තියෙන්නෙත් මේ වගේ සිද්ධියක්. අපේ මතක ගබඩාව පිරෙන්නේම නෑ... එයට ඕනෑ තරම් පටිගත කරගන්නට හැකියි. අවිද්‍යාව තිබෙන තුරු නිරන්තරයෙන් ඡායාරූප ගැනීම අප තුලත් සිද්ධ වෙනවා. ඡායරූපකරණයේ යෙදී සිටිනාතාක් ඇසුරු කරන්නට ඕනෑ තරම් ඡායාරූප තිබෙනවා.

## ...ආර්යයන්ට සමුද්‍ර - 07

මේ සිද්ධිය අපේ බුදු පියාණන්වහන්සේ විසින් විටෙක මෙන්න මේ විදියට පෙන්වා දෙනවා...

සූත්‍ර පිටකය < සංයුත්ත නිකාය - 4 < සළායතන වග්ග < 1. වෙදනා සංයුත්තය < 18. සමුද්ද වග්ගය < 1. සමුද්ද සූත්‍රය, 2. දුතිය සමුද්ද සූත්‍රය < පිටු අංක 312 - 315 (PDF පිටු අංක 337 - 339)

228. සමුද්දො සමුද්දොති භික්ඛවෙ අස්සුතවා පුථුජ්ජනො භාසති නෙසො භික්ඛවෙ අරියස්ස විනයෙ සමුද්දො, මහා එසො භික්ඛවෙ උදකරාසි, මහා උදකණ්ණවො. චක්ඛු භික්ඛවෙ පුරිසස්ස සමුද්දො, තස්ස රූපමයො වෙගො. යො තං රූපමයං වෙගං සහති, අයං වුච්චති භික්ඛවෙ අතරි චක්ඛු සමුද්දං සඌමිං[1] සාවට්ටං සගාහං සරක්ඛසං තිණ්ණො පාරගතො[2] ථලෙ තිට්ඨති බ්‍රාහ්මණො.

යො ඉමං සමුද්දං සගාහං
සරක්ඛසං සඌමිභයං[3] දුත්තරං අච්චතරි
ස වෙදගූ වුසිතබ්‍රහ්මචරියො
ලොකන්තගූ පාරගතොති වුච්චතීති.

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

228. මහණෙනි අශ්‍රැතවත් පුහුදුන් තෙමේ මුහුද මුහුද යි කියයි. මහණෙනි මෙය බුදුසස්නෙහි මුහුද නො වේ. මහණෙනි මෙය මහ දියරැසෙකි, මහ දියකඳෙකි. මහණෙනි මිනිසාගේ ඇස මුහුදෙකි, එහි රූමුවා වේගය වේ. යමෙක් ඒ රූමුවා වේගය ඉවසා නම් මහණෙනි මේ තෙමේ රළ සහිත සුළි සහිත සැඩමසුන් සහිත රකුසන් සහිත ඇස නමැති මුහුද තරණය කෙළේ ය යි කියනු ලැබේ. (චතුරොඝය) තරණය කළ පරතෙරට පැමිණි ඒ බමුණු තෙමේ (නිවන් නමැති) ගොඩබිම සිටියි.

යමෙක් සැඩමසුන් සහිත රකුසන් සහිත රළබිය සහිත තරණය කිරීමට අපහසු මේ මුහුද තරණය කෙළේ නම් හෙතෙමේ මගනැණින් නිවන් අවබෝධ කෙළේ වැස නිම වූ බඹසර ඇතියේ ලොව කෙළවරට ගියේ නිවන් නමැති පරතෙරට පැමිණියේ ය යි කියනු ලැබේ යි.

ඇස, කණ, දිව, නාසය, කය සහ මන කියන සියලු අවස්ථාවන් මෙසේ මහා සමුදුරට උපමා කරන බුදු පියාණන්වහන්සේ පෙන්වා දෙන්නේ මේ බවක් නොදන්නා අශ්‍රැතවත් පෘතග්ජනයෝ විසින් මහා ජලකඳකට සමුදුර සමුදුර යැයි කියමින් වෙසෙන බවයි. එහෙත් ආර්ය විනයේ නම් සමුදුර යනු කෙලවරක් නැතිව මෙසේ උපදිනා ඇස, කණ, දිව, නාසය, කය, මන සහ ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ සහ ධම්ම යන ඒවායි.

229. සමුද්දො සමුද්දොති භික්ඛවෙ අස්සුතවා පුථුජ්ජනො භාසති, නෙසො භික්ඛවෙ අරියස්ස විනයෙ සමුද්දො. මහා එසො භික්ඛවෙ උදකරාසි, මහා උදකණ්ණවො. සන්ති භික්ඛවෙ චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා ඉට්ඨා කන්තා මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා, අයං වුච්චති භික්ඛවෙ අරියස්ස විනයෙ සමුද්දො.

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

229. මහණෙනි අශ්‍රැතවත් පුහුදුන් තෙමේ මුහුද මුහුද යි කිය යි. මහණෙනි මෙය බුදුසස්නෙහි මුහුද නො වේ. මහණෙනි මේ මහ දියරැසෙකි. මහදියකඳෙකි. මහණෙනි, ඉටු කැමති මනවඩන පියදෑ වූ කාමයෙන් යුත් ඇලුම් කටයුතු ඇසින් දතයුතු රූ ඇත. මහණෙනි මෙය බුදුසස්නෙහි මුහුද යි කියනු ලැබේ.

ආර්ය විනයේ සමුදුර කුමක්දැයි දැනගැනීම පිනිස ඇස – රූපය – චක්ඛු විඤ්ඤාණය නිසි ලෙසින් අවබෝධ කරගත යුතු වෙනවා. නැතිනම් ඇස ලෙසින් රූපය ලෙසින් වැරදි වැටහීමක් ලැබෙනවා. ඒ දෙක වරදවා වටහාගතහොත් චක්ඛු විඤ්ඤාණය කුමක්ද යන්නත් වැරදෙනවා.

අන්න ඒ නිසා යමෙක් මාර්ග ප්‍රඥාවෙන් ඒ කියන්නේ මේ පෙර නොඇසූ විරූ ධර්මය අවබෝධයෙන් මේ බුදු සසුනේ සමුදුර යැයි හඳුන්වාදෙන්නා වූ දෑ නිසි ලෙසින් අවබෝධ කරගෙන ඒ මහා සමුදුර නුවණින් දැක තරණය කරයි නම් අන්න ඒ ප්‍රඥාවන්තයාට අරිහතුන්වහන්සේ යැයි පවසනවා.

ඉතින් අරිහත්වයට පත්වෙන්නට නිවන් අවබෝධ කරගන්නට කැමැත්තේ නම් මේ මහා සමුදුර තරණය කරන්නට සිද්ධ වෙනවා. ඒත් අනේ සමුදුර කියන්නේ මොකක්දැයි දන්නේ නැතිනම් තරණය කරන්නේ කොහොමද නේද? අන්න ඒ නිසා මේ සියලු දේ නැණවත්ව තෝරාගැනීමට මේ උපමා සසඳා කරන්නාවූ විග්‍රහය තම තම නැණ පමණින් තෝරාගෙන නිසි අවබෝධය ලැබගැනීමට අප්‍රමාදීව කටයුතු කරගැනීම සුදුසු වේ.

බාහිරය කියන්නාවූ යථාවත් අවස්ථාව මොහොතකටවත් අඛණ්ඩව පවත්වාගන්නට නොහැකි ඉතාමත් වේගයෙන් විපරීතයන්ට ලක්වෙමින් වෙනස්වෙමින් විනාශයට පත්වෙමින් ගෙවී යන්නාවූ තත්වයක් පමණයි. ඒ වේගයට ලංවෙන්නවත් බැරි වේගයක් තියාගෙන ඒවායේ තැනින් තැන ඉතාමත් වේගයෙන් ඡායාරූප අරගෙන ඒ ගත්තාවූ ඡායාරූප යතාර්ථය ලෙසින් රැවටුණොත් වෙන විනාශය හිතාගන්න පුළුවන්ද? අන්න ඒ විනාශය දැන් අපටත් වෙලා තියෙනවා.

කෙලවරක් නැතිව ඇස් පහල වෙනවා... රූප පහල වෙනවා... ඒ ඔස්සේ වරදවා වටහාගැනීම සිද්ධ වෙනවා... කෙලවරක් නැති සමුදුරක් වගේ නිසාම මෙවන් දෙයක් සිද්ධ වෙනවාදැයිවත් වැටහීමක් නැතිව ඉන්නවා. අන්න ඒ නිසා එයින් මිදීම පිණිස ප්‍රඥාවන්තව නුවණ මෙහෙයවන්නටම සිද්ධ වෙනවා. නැතිනම් අනාථයි!!!

ඡායරූපකරණයේ යෙදී සිටිනාතාක් ඇසුරු කරන්නට ඕනෑ තරම් ඡායාරූප තිබෙනවා. ඉතින් ඒ ඡායාරූපය හෙවත් මනෝ විඤ්ඤාණයක් / මනෝ සටහනක් ඇත්තක් කරගෙන එහි තිබෙන තත්වය ඒ මොහොතේ පවතින ඇත්තක් සේ ඇසුරු කරමින් සතුට, දුක, මධ්‍යස්ථ ප්‍රතිචාර දක්වන්නට කටයුතු යෙදෙනවා.

නැවතත් සිහිපත් කරගන්න ඡායාරූපය කියන්නේ යම් කිසි අවස්ථාවක සටහනක් පමණයි. ඒ ඡායාරූපය බලන අතරේ ඒ ඡායාරූපයක් ලෙසින් සටහන් වී තිබෙන අවස්ථාව ගෙවී ගොස් විනාශ වීම තමයි ධර්මතාවය.

එහෙත් කෙලවරක් නැතිව මහා සාගරයක් වගේ සිද්ධ වෙන මෙම සිද්ධියට රැවටී බාහිරයේ පවතින්නාවූ රූපයක් ලෙසින් භාරගෙන පිළිගෙන ඒ අදහසින් යුතුව මෙය ඡායාරූපයක් යැයි නොදැන ඒ ඡායාරූපය තමයි ඇත්ත තත්වය ලෙසින් පිළිගෙන අපි ඒ තත්වය පිළිකුල් කලාට, අසුභ වශයෙන් දැක්කාට, අනිත්‍ය / අනිච්ඡ වශයෙන් දැක්කාට, දුක් වශයෙන් දැක්කාට, අනාත්ම / අනත්ථ වශයෙන් දැක්කාට ප්‍රථිඵලයක් ලැබෙනවාද? අවිද්‍යාව නැතිවෙනවාද? නෑ නේද? හේතු නිරෝධ වෙයිද? නෑ නේද? නුවණින් විමසන්න! තාවකාලික සැනසීමක් නම් අනිවාර්යෙන්ම ලැබේවි. ඒ කොහොමද?



ඡායාරූපය ඔස්සේ යම් සතුටක් දුකක් ගැටීමක් එන ස්වභාවයක් තිබුනා නම් එය සමථයකට පත්වේවි. මධ්‍යස්ත ප්‍රතිචාර බවට පත්වී ඡායාරූපය ඔස්සේ යහපත් ලෙසින් කටයුතු කරගෙන යෑමට තරම් උපෙක්ෂා සහගත ස්වභාවයකට සිත පත්වේවි. දුගතියකට පත්නොවී කටයුතු

කරගන්නට හැකිවේවි. එහෙත් "ඡායාරූපය" කියන තත්වය සැබෑවක් ලෙසින් ගෙන සිදුවන ආශ්‍රය නිසාම ආශ්‍රව සහිතයි. "ඡායාරූපය" කියන තත්වය නොදැන එය සැබෑවක් ලෙසින් ගත්තාවූ අදහස තුලම මෝහය තිබෙනවා. ඒ කියන්නේ තිව්මක් නෑ. ආශ්‍රයන්ගෙන් මිදීමක් නෑ. ආශ්‍රය කරන්නට සුදුසු තත්වයක් තවමත් තිබෙන බව තමන්ටත් නොදැනීම භාරගෙනයි තියෙන්නේ.

ඇසුරු කරන්නේ ඡායාරූපයක්ය සැබෑ තත්වයක් නොවේය රැවටීමක් මායාවක් පමණයි ලෙසින් දැකගන්නා තැනදීම ඒ තුලින් නුවණ පහල වෙනවා. දැක්ම ඍජු වෙනවා. අන්න එතැන් පටන් ආශ්‍රයන්ගෙන් තොරව කටයුතු කරන්නට අවශ්‍ය මානසික පසුතලය සැකසෙනවා. ඒ ඒ මට්ටමෙන් ආශ්‍රවයන්ගෙන් මිදෙනවා.

මේ ඉතාමත් සාරාංශයක් වගේ විග්‍රහ කිරීමක්. මම දන්නවා... මේ තරම් ගැඹුරු පෙර නොඇසූ විරූ ධර්මයක් මේ වගේ කුඩා විග්‍රහයකින් පමණක් මතුකරගන්නට හරිම අපහසුවෙන්නට පුළුවන්. එහෙත් ඔබ ප්‍රඥාවන්තයෙක් නම් මෙතෙක් කාලයක් ධර්මයක් ලෙසින් පටලවාගෙන සිටියේම පෙර නොඇසූ විරූ ධර්මයක් නොවන බවට වටහාගන්නට මේ පෙන්වා දුන්නාවූ සුළු විග්‍රහය වුණත් ප්‍රමාණවත්.

ඒ වගේම ඔබ දැනටමත් මේ කියන දේ අවබෝධ කරගෙන සිටින්නෙක් නම් මේ අවබෝධය තුල ලැබෙන වාසනාවන්ත ප්‍රතිඵලයන් අත්දැකීමෙන්ම ඒ ඒ මට්ටමෙන් ලැබෙන සැනසීම ඒ ඒ තරමින් ඔබටත් දැනෙනවා ඇති. වැටහෙනවා ඇති.

ඉතින් සාරාංශයක් වැනි මෙවැනි විග්‍රහයකින් නොනැවතී මේ උපමාව තවත් පුළුල් ලෙසින් විග්‍රහ කරගෙන මේ මනසේ ක්‍රියාකාරීත්වය නිසි ලෙසින් අවබෝධ කරගන්නට උත්සාහ දරමු.

## ...කැමරාව වැනි ඇස - 08

උපමා සසඳා පෙර නොඇසූ විරූ දහම තෝරාගැනීම පිණිස මුලින්ම කැමරාව ගැන හොඳින් සිතා අවබෝධ කරගන්න. කැමරාව සකස් වෙලා තියෙන්නේම ඡායාරූපකරණය පිණිස එහෙම නේද? එයට තියෙනවා යම් කිසි අවස්තාවක් හසුකරගැනීමේ හැකියාවක්. ඒ උපකරණය සකස් වෙලා තියෙන්නේම ඒ කාර්යය උදෙසාමයි.

දැන් බොහෝම හොඳින් මෙහෙම හිතන්න කැමරාව තියෙනවා... ඒ කැමරාවට පටිගත කරගන්න රූප රාමුවක් ලැබෙනවා. ඒත් කැමරාව හිතලා රූප රාමුව පටිගත කරගන්නවාද?



කැමරාවට තියෙන්නේ පින්තූරගත කරගැනීමේ **"හැකියාව"** පමණයි. ඒත් ඒ "හැකියාව" තිබුණාට කැමරාව දකින දකින රූප රාමු විහින් පටිගත කරගන්නට පෙළඹෙන්නේ නැනේ නේද? ඇයි ඒ ? කැමරාවට ඒ ආකාරයට කටයුතු කරමින් විහින් ක්‍රියාත්මක වන්නට තරම් ක්‍රමයක් තිබුනේ නැති නිසා.

ඔබගේ ලෙයින් මසින් සකස් වෙච්ච ඇස කියන්නේ මෙන්න මේ කැමරාව වගේ තත්වයක් නෙවේදැයි කියලා දැන් උපමා සසඳා බලන්න. මේ ඇසටත් තියෙනවා කැමරාවට වගේ රූපගත කරගැනීමේ හැකියාවක්. ඒ නිසා තමයි අපට නොයෙක් නෙයෙක් දේවල් දැකගන්නට හැකිවෙලා තියෙන්නේ. ඇසට පෙනීමේ හැකියාව තිබෙනවා. මේ ලෙයින් මසින් සකස් වෙච්ච ඇස සකස් වෙලා තියෙන්නේම පෙනීම කියන කාර්යයට උපකාරයක් වීම පිණිසයි.

ඒත් ඒ ඇසට පෙනෙන රූප මේවාය කියලා මැනගැනීමක් කරන්නට ඒ ඇසට හැකියාවක් නෑ නේද? කෙටියෙන් කියනවා නම් ඒ පෙනෙන්නේ රූප කියලාවත් මැනගැනීමක් කරන්නට මේ ලෙයින් මසින් සකස් වෙච්ච ඇසට තනිවම නිගමනය කරන්නට හැකි දෙයක් නෙවේය කියලා බුද්ධිමත් ඔබට වැටහෙනවද?

කැමරාවට රූප පෙනුනද? නෑ! කැමරාවට තිබුනේ පෙනීමේ හැකියාව පමණයි. ඒ පෙනීමේ හැකියාව තුල රූප තිබුනේ නෑ. යම් රාමුවක් ඒ ඔස්සේ පෙන්වීමේ හැකියාව පමණයි ඒ උපකරණයට තිබුනේ.

නැවතත් ඉතාමත් හොඳින් සිහිපත් කරගෙන නුවණින් දැකගන්න මේ කැමරාව කියන උපකරණයට තිබෙන්නේ "රූප" පෙනීමක් නොවේ. එයට තිබෙන්නේ යම් කිසි අවස්ථාවක් හසුකර ගැනීමේ හැකියාව පමණයි. ඒ අවස්ථාවේ "රූප" මේවාය මේවාය කියලා වර්ග කරගැනීමක් මැනගැනීමක් ඒ උපකරණය තුල සිද්ධ වෙන්නේ නෑ.

කෙටියෙන් කියනවා නම් ඒවා "රූප" ය කියලා හැඟීමක්වත් මේ උපකරණයට නෑ. ඒ මැනගැනීමේ කටයුත්ත ඒ උපකරණයට තනිවම කරන්නට පුළුවන් දෙයක් නොවේ. මේ දේ හොඳින්ම තෝරාගන්න ඕන. කැමරාව නමැති උපකරණය තිබෙනවා. එයට යම් අවස්ථාවක් රූගත කරගැනීමේ හැකියාව තිබෙනවා. එය ගැටලුවක් නෑ. කැමරාව නැමැති ලෙයින් මසින් සකස් වෙච්ච ඇස කියන උපකරණයට තියෙන්නේ යම් අවස්ථාවක් රූගත කරගැනීමේ හැකියාව පමණයි.

ඒ අවස්ථාවට හසුවන්නේ සත්වයෙක්ද පුද්ගලයෙක්ද ද්‍රව්‍යයක්ද වස්තුවක්ද කියලා ඒ ඇස හෙවත් කැමරාව නම් උපකරණය තීරණය කරන්නේ නෑ. එහෙම තීරණය කරන්නට හැකියාවක් මේ උපකරණයට හෙවත් ලෙයින් මසින් සකස් වෙච්ච මේ ඇස නම් වූ මස් ගුලියට නෑ. ඒ වගේ තීරණයක් ගැනීමට නම් මේ උපකරණයට යමක් එකතුවිය යුතු වෙනවා. කුමක්ද ඒ?

## ...ඡායාරූප ශිල්පියා – 09

කැමරාවත් සමඟ ඡායාරූප ශිල්පියා කියන අවස්ථාව එකතු වෙනවා.



දැන් හිතන්න මේ කැමරාව නැමැති මස් ලේ සහිත ඇස නැමැති උපකරණය ඡායාරූප ශිල්පියා විසින් දරාගන්නවා. සිහිපත් කරගන්න කැමරාව රැගෙන එය ඇස ළඟ තබාගෙන බාහිරයක් බලන පුද්ගලයෙක් ගැන.

ඔන්න දැන් ඡායාරූප ශිල්පියාට "රූප" පේනවා. ඡායාරූප ශිල්පියා කියන දෙවැන්නා ඒ උපකරණය භාවිතා කරනවා. දැන් සිහිපත් කරගන්න ඔහු / ඇය තමන්ගේ ඇස ළඟින් කැමරාව තියාගන්නවා. ඒ තුලින් බාහිරයක තිබෙන තත්වයක් දකිනවා.

උපකරණයට තිබෙන්නේ බාහිරයේ අවස්ථාව පෙන්වීමේ ස්වභාවය පමණයි. ඒ දකින්නාවූ අවස්ථාව තුල නොයෙක් නොයෙක් "රූප" දකින්නේ කව්ද දැන්? "රූප" වශයෙන් තීරණයක් ගෙන රූපයක්ම දකින්නේ දෙවැනියට එයට එකතුවෙච්ච ඡායාරූප ශිල්පියා කියන අවස්ථාව නොවේද?

දැන් මෙතැන ක්‍රියාත්මක වෙන අවස්ථාවන් දෙකක් තිබෙනවාය කියලා හඳුනාගන්නට ඔබට හැකිද? කැමරාව තිබෙනවා. එය උපමා කලේ අපේ මේ මස් ලේ සහිත ඇසටයි. ඡායාරූප ශිල්පියා එකතු

වෙනවා. දැන් ඔන්න, ඡායාරූප ශිල්පියාට කැමරාව හරහා... ඒ කියන්නේ මස් ලේ සහිත ඇස හරහා ඒ උපකරණයේ තිබෙන්නාවූ රූප පෙන්වීමේ හැකියාව භාවිතාකරමින්, එය උපකාර කරගෙන රූප පෙනෙනවා. එහෙම නේද?

දැන් නැවතත් සිහිපත් කරගන්න, රූප පෙනෙන්නේ කාටද? කැමරාවටද? නැත්නම් ඡායාරූප ශිල්පියාටද? උපමා සසඳා හිතන්න. රූප පෙනෙන්නේ කාටද? මස් ලේ සහිත ඇසටද? නැත්නම් එය දරාගෙන ඉන්න ඔබටද?

නැවත නැවත එකම දේ කිව්වට සමාවෙන්න. එහෙත් පැටලෙන්නේ නැතිව මෙය අනුමාන වශයෙන් තෝරාගැනීමේ පහසුව පිණිස තමයි නැවත නැවත එකම දේ කියමින් විස්තර කරන්නට උත්සාහ කරන්නේ.

කැමරාව තිබෙනවා එය භාවිතා කරන ඡායාරූප ශිල්පියෙක් සිටිනවා. මේ දෙදෙනා එකතුවුනේම යම් කිසි කාරණයක් උදෙසායි. ඒ මොකක්ද ඒ? ඒ තමයි ඡායාරූපකරණය කියන කටයුත්ත. කැමරාව නිර්මාණය වන්නේම ඡායාරූප ශිල්පියා වෙනුවෙන්මයි. ඒ නිසා ඡායාරූප ශිල්පියා සහ කැමරාව කියන්නේ ඡායාරූපකරණය කියන්නාවූ කටයුත්ත උදෙසාම සකස්වූවක්. කැමරාවක් විද්‍යාමාන වන තාක් එය භාවිතා කරන්නට ඡායාරූප ශිල්පියා කියන පුද්ගලයෙකුත් සිටිනවා. ඡායාරූප ශිල්පියා කියන පුද්ගලයා බිහිවන්නට නම් කැමරාව කියන උපකරණය ඒ පුද්ගලයා විසින් භාවිතා කල යුතුව තිබෙනවා. මේ කාරණය පැහැදිලියි නේද?

ඉවසීමෙන් නැවත නැවත ඇසුරු කොට අනුමාන වශයෙන් හෝ මේ කියන දේවල් ගලපාගන්නට වටහාගන්නට උත්සාහ දැරීම වැදගත් වෙනවා. විශේෂයෙන්ම පංච ඉන්ද්‍රියයන් හෙවත් ඔබ විසින් මේ ඇසට රූප, කණට ශබ්ද, නාසයට ගන්ධ, දිවට රස, කයට ස්පර්ශ කියන්නාවූ තත්වයන්ට ගෝචර වන්නාවූ භෞතික මට්ටම් වලින් නොනැවතී ඒ වගේ දත්තයන් ඇසුරෙන් උපමාවන් ගෙන ඒවා ඔස්සේ යම් අදහසක් දීමට උත්සහ කරනවා නම් අන්න ඒ උපමා තුල ගැබ්වෙන අදහස වටහාගැනීමට නුවණින් විමසා බැලීම අනිවාර්යම වෙනවා.

## ...ඡායාරූපය - 10

දැන් හිතන්න ඡායාරූප ශිල්පියා විසින් ඡායාරූපකරණයේ නිරත වෙනවා. ඒ කිව්වේ මොකක්ද? කැමරාව භාවිතා කරලා තමන්ට සුදුසුයි කියලා හිතුණ අවස්ථාවක් සටහනක් වශයෙන් ලබාගන්නවා. ඒ සටහනට තමයි අපි කියන්නේ ඡායාරූපය කියලා.



දැන් ඡායාරූප ශිල්පියා තමන් විසින් ගනු ලැබූ ඡායාරූපය හොඳයි කියලා හිතනවා. එහෙමත් නැතිනම් කැතයි කියලා හිතනවා. එහෙමත් නැතිනම් මධ්‍යස්ථයි කියලා හිතනවා. දැන් මේ විදියට හොඳයි කියලා හිතුවේ හෝ හොඳ නෑ කියලා හිතුවේ හෝ මධ්‍යස්ථයි කියලා හිතුවේ ඡායාරූපයටනේ නේද? ඒ ඡායාරූපය තුල තිබුනේ කුමක්ද?

ඡායාරූපය කියන වචනය තුලම එහි ගැබ්වෙලා තියෙන දේ අපූරුවට අදහස් ගන්නට හැකියි. විවෘත මනසකින් නුවණින් විමසා බලන්න අපි සාමාන්‍ය ව්‍යවහාරයේදී "ඡායාව"ක් කියන්නේ මොකකටද? සෙවණැල්ලක් වැනි... බැලූ බැල්මට සියුම් ලෙසින් මේ මේ ආකාරයැයි හඳුනාගැනීමට තරම් ප්‍රකට තත්වයන් නොමැති... යම් කිසි තත්වයකට නොවේද අපි "ඡායාව" කියලා කියන්නේ.

සෙවැනැලි සිහිපත් කරගන්න... එතකොට වතුරට වැටුන ප්‍රතිබිම්බය... හොල්මන් දැක්ක කෙනෙක් ඉන්නවා නම් ඒ ඡායාවත් ඇති සිහිපත් කරගන්න... ඒ හැරුණාම සමහර අවස්ථාවලදී අපි යම් යම් දෑ අරඹයා කියනවා "මම ඡායාවක් දැක්කේ හරියට හඳුනාගන්න බැරිවුණා" කියලා එහෙම නේද? මෙන්න මේ වගේ යම්කිසි මායා ස්වභාවයක් "ඡායාව" කියන වචනය තුලම ගැබ්වෙලා තියෙනවා නේද?

දැන් හිතන්න මෙන්න මේ "ඡායා" ස්වභාවය "රූප" බවට පත්කිරීමේ කටයුත්ත "ඡායාරූපකරණය" තුල සිද්ධ වෙනවා. මෙන්න මේ ගැන විග්‍රහ කරලා නුවණින් දැක අවබෝධ කරගන්නට හැකි නම් පෙර නොඇසූ විරූ දහම් මතු කරගන්නට හැකිවෙනවා.

මතකද ඒ කාලේ තිබුණ ඡායාරූප ගැනීම පිණිස අපි යොදාගත්ත පටිය?

"ෆිල්ම් රෝල් (film roll)" කියලා මිලදී ගන්නේ. එය කැමරාවට දැමූ විට ඡායා හසුකරගන්නටත් හසුකරගත් ඡායා සටහන් කරගන්නට මේ "නෙගටිව්" කියලා කිව්ව පටය තමයි උපකාර වෙන්නේ. ඒ පටය අඳුරු කාමරයක යම් කිසි රසායනික ද්‍රව්‍යයක බහා නියමිත තත්වයන් ලබා දුන්නාම මොකද වෙන්නේ? අර හසුකරගත්තාවූ ඡායාවන් නොයෙක් නොයෙක් හැඩයන් වර්ණ සහිත රූපාකාරයන් බවට පත්වෙනවා නේද?




ඒ නෙගටිව් වල සටහන්ව තිබූ ඡායා වලින් රූප මතුකරගැනීම තුල ඡායා – රූප කරගන්නා ශිල්පය ගැබ්වෙලා තිබුනා. ඒවායේ සටහන් වූ ඡායා වලින් රූපයක විස්තර ගැනීමට අපොහොසත් නිසාම ඒ ඡායා නොයෙක් ආකාරයෙන් වර්ණ ගන්වා රූප මතුකරගන්නවා නේද?




මේ කාලේ අප බහුලව භාවිතා කරන "ඩිජිටල් කැමරා (Digital Camera)" තුලත් ඔය සිද්ධියම වෙනත් ආකාරයකින් සිද්ධ වෙනවා. රූපවාහිනියක පරිඝණයක සිද්ධ වෙනවා වගේ දෙයක් තමයි

ඒ තුල සිද්ධ වෙන්නේ. ඡායාවක් පික්සල් (pixel) ආකාරයට හසුකරගැනීම පිණිස ඒ තුල ආලෝකයට සංවේදී කොටසක් සකස් කර තිබෙනවා. ඉන්පසුව තමයි ඒ තුලින් නොයෙක් රූපාකාරයන් ලබාගැනීමට හැකියාවක් ලැබෙන්නේ.

රූපවාහිනියේ නරඹන්න සුදුසු නැති රූප රාමු යන විට "කොටු දානවා" කියලා අපි කියන්නේ මෙන්න මේ කියන මූලික තත්වයෙන් ඒ අවස්ථාව පෙන්වීමටයි. ඒ මූලික අවස්තාවෙන් පෙන්වන විට ඒවා තුල ගැබ්වූ රූපය ගැන හරියාකාර අදහසක් ගන්නට අපට නොහැකියි නේද?



ඉහත පෙන්වා දුන්නාවූ "ෆිල්ම් රෝල් (film roll)" හෝ පික්සල් (pixel) ආකාරයට හසුකරගැනීම පිණිස සකස් වූ ආලෝකයට සංවේදී කොටස අපගේ මස් ලේ කයෙන් සකස් වූ ඇසෙහි පවතින්නේ "චක්ඛු ප්‍රසාදය" ලෙසින් බව හඳුනාගත යුතුයි. ප්‍රතිහිම්බයක් සාදා දෙන ස්වභාවය තමයි මෙහි ගුණය.

ඉතින් කැමරාවේ හැකියාව භාවිතා කරලා හසුකරගත්තාවූ යම් ඡායාමය ස්වභාවයක ඒ රූපකාරයන් මේ මේ ඒවා යැයි හඳුනාගත්තේ කැමරාවවත් ඡායාරූපයවත් වෙනත් තත්වයක්වත් නොවේ ඒවාට සම්බන්ධ වෙලා කටයුතු කරන ඡායාරූප ශිල්පියා නැමැති සිතක් යෙදී මනසක් යෙදී කටයුතු කරන තත්වයමයි කියලා අනුමාන හෝ වැටහීමක් ගැනීමට ඔබට හැකියි නේද?

එසේ නම් "ඡායාරූපය" කිව්වේ යම් කිසි ඡායා ස්වභාවයක් රූපාකාරයක් විදියට මායා දර්ශනයක් සේ ලබා දෙන අවස්ථාවක්. "ඡායාරූපකරණය" කියලා කියන විට ඡායාවක් රූපාකාරයක් සේ සකස් කරන වැඩපිළිවෙල කියලා අදහසක් ගන්නට අපට හැකියි නේදැයි විවෘත මනසකින් ප්‍රඥාවන්තව විමසා බලන්න.

"ඡායාරූපය" ට භාවිතා වන ඉංග්‍රීසි වචනය තුල පවා මෙන්න මේ කියන අදහස ඉතාමත් හොඳින්ම ගැබ්වෙනවා. "ෆොටෝග්‍රාෆ් (Photograph)" කියලා තමයි "ඡායාරූපය" නම් වචනයට ඉංග්‍රීසි භාෂාවෙන් කියන්නේ... ඡායාරූප ශිල්පියාට කියන්නේ "ෆොටෝග්‍රැෆර් / (Photographer)" කියලයි. ඡායාරූපකරණයට කියන්නේ "ෆොටෝග්‍රැෆි / (Photography)" කියලයි.

ඉතින් ඔබ දන්නවද ආලෝකයේ මූලිකම අංශු ස්වභාවයට විද්‍යාවේ දැනට සොයාගත් දැනුමෙන් කියන්නේ "ෆොටෝන් / (Photon)" කියලයි. එතකොට "ග්‍රාෆ් / (Graph)" කියන ඉංග්‍රීසි වචනයෙන් අදහස් කරන්නේ "සටහන / රේඛා චිත්‍රය" වගේ අදහසක්. ඉතින් මේ අදහසට අනුවත් ඡායා ස්වභාවයක් රූප කරගන්නා ස්වභාවය හෙවත් ආලෝකයේ මූලිකම අංශු ස්වභාවයන් චිත්‍රයක් සේ රේඛා සටහනක් සේ සකස් කිරීමේ ස්වභාවය තිබෙන නිසා ඒ නම භාවිතා වනවා. ඒ වගේම හින්දි භාෂාව තුලත් භාවිතා කරන්නේ "ඡායා චිත්‍ර" කියලයි. ඒ තුලත් ඉතින් මේ ඉහත අදහසම ගැබ්වෙනවා කියලා ඔබට වැටහෙනවා ඇතිනේ.

දැන් මේ "ඡායාරූපය" කියන වචනය තුලම ගැබ්වෙලා තියෙන අදහසම ප්‍රමාණවත් වෙනවා නුවණැත්තෙකුට නම් උපමා සසඳා අවශ්‍ය කරන පෙර නොඇසූ විරූ දහම පහල කරගැනීමට. ඒත් එවැන්නක් සිදුනොවුනාය කියලා දුක්වීම ඥානවන්තකම නොවේ. මේ ජීවිතකාලය තුලදීම මේ පෙර

නොඇසූ විරූ දහම අවබෝධකරගැනීම පිණිස කටයුතු කරගැනීමට අවශ්‍ය කරන පසුතලය සකසා දීම පිණිස නොපසුබට උත්සාහයකින් කටයුතු කිරීම ඔබ ඔබටම කරගන්නා යුතුකමක් බව හඳුනාගැනීමම ප්‍රඥාවන්තකමක්මයි!

ඉතින් ඇස නැමැති මස් ගුලියටත් නොයෙක් නොයෙක් ආකාරයේ "ඡායාවන්" හසුකරගැනීමේ හැකියාව තිබෙනවා. ඒ පෙනීමෙන් නොනැවතී මනස සම්බන්ධ වෙලා මොකද කරන්නේ? ඒ නොයෙක් නොයෙක් "ඡායාවන්" තුල රූප නිර්මාණය කරලා දෙනවා. ඒ කිව්වේ තමන් අත්දැක්ක ඡායාවක් මෙන්න මේ ආකාරයේ හැඩයෙන් යුක්තයි ඒ නිසා එයට මේ රූපාකාරය ගැලපෙනවා කියලා මැනගන්නට "මන" තමයි මුල් වෙන්නේ.

මෙන්න මේ ආකාරයට මැනගෙන මැනගෙන මැනගෙන ඒවා සමඟ ඒ ඒ ලෙසින් එකතුවීම තුල "මනස" කියන අවස්ථාව නිර්මාණය වෙනවා. මොහොතක් පාසා අපතුල මේ කියන "ඡායාරූපකරණය" සිද්ධ වන නිසාම "මනස" කියන තත්වය අඛණ්ඩ තත්වයක් ලෙසින් අත්දැකගන්නට තියෙනවා. එහෙත් ඇත්ත තත්වය එය නොවන බව විග්‍රහ කරගන්නට තව දුරටත් මේ උපමාවටම සසඳමින් කරුණු තෝරාබේරාගනිමු.

අභිධර්මය කිව්වාම බොහෝ දෙනෙක් ඉතාමත් භියයි. ඒ වගේම අභිධර්ම වචන දන්නවා නම් දත්තයන් වශයෙන් හොඳින් අධ්‍යනය කර ඒ ගැන හොඳ වැටහීමක් තියෙනවා නම් ඒ තරම් පණ්ඩිතයෙක් තවත් නෑ කියලා තමයි හිතන්නේ. මෙතැන් පටන් විග්‍රහ වෙන්නේත් බොහෝ දෙනෙකු ඇසුවාත් භිය වන ඔය කියන්නාවූ ආකාරයේ ගැඹුරු අභිධර්ම කොටසක්. එහෙත් මෙහි භිය වෙන්නේ තරම් දෙයක් නොවන බව ඔබම නුවණින් දැනගන්නකෝ!!!

දත්තයන් දැනගත්තාට ඔබට එදිනෙදා ජීවිතයේදී ඒවා ගලපා අදාල ප්‍රථිඵලය ලබාගන්නට නොහැකි නම් ඒ දත්තයන් දැනගැනීමෙන් ඇති ඵලක් නැති බව දැනගැනීමම ඔබගේ නුවණැතිභාවයයි! ඒ නිසා බුද්ධිමත්ව විවෘත මනසකින් විමසා යහපත් ප්‍රතිඵල ලැබීම පිණිස අප්‍රමාදීව කටයුතු කරගැනීම සුදුසුයි.

## ...විපාක ඵලය - 11

ඡායාරූප ශිල්පියා එකතු වූ කොටස අපගේ තත්වයට ගලපා උපමාව සසඳන්නට බලාපොරොත්තු වෙනවා. ඒ නිසා පටලවාගන්නේ නැතිව නුවණින් තෝරාගත යුතුයි.

මෙතැන් පටන්ගෙන "ඡායාරූප ශිල්පියා" කියන අවස්ථාව සසඳන්නේ "විපාක සිත" වශයෙන් සත්වයාට ලැබී තිබෙන කොටසටයි. මොකක්ද විපාක සිතක් කියලා කියන්නේ. පෙර අත්බැවයකදී අවිද්‍යාව මුල්කරගෙන ඒ කියන්නේ යථාර්ථය පිළිබඳව නොදැනුවත්කම මුල්කරගෙන කටයුතු සිදුවූ නිසාම නැවතත් ඒ විශ්වාස කරපු ආකාරයම දැක ගන්නට, අසාගන්නට, විඳගන්නට අවශ්‍ය කරන පසුතලය ලැබීම තමයි ප්‍රථිඵලය.

ඡායාරූප ශිල්පියෙක් කැමරාවක් අතැතිව සිදුකරන්නේ ඡායාරූපකරණයේ යෙදීමයි. එහෙම නේද? අන්න ඒ වගේ ඉහත පෙන්වා දුන් පරිදි පසුතලයක් සකස් වී තිබෙන විට විපාක සිත ක්‍රියාත්මක වීමෙන් කුමක් සිද්ධ විය හැකිද? උපමාවට සසඳා සිතන්න. ඡායාවක් දකින මාත්‍රයකින් නොනැවතී ඒ ඡායාවන් මෙන්න මේ ආකාරයේ රූපාකාර යැයි මැනගෙන හඳුනාගෙන ඡායාරූප සටහන් කරගන්න ස්වභාවය තමයි මේ කියන විපාක සිත කියන තත්වයේදී සිද්ධ වෙන්නේ.

දැන් ඔබට සිතෙන්නේ "පෙනීම", "ඇසීම", "දැනීම" සාමාන්‍ය ස්වභාවයක් කියලානේ නේද? "අයියෝ "පෙනීම" සාමාන්‍ය දෙයක්නේ, ඒ පෙනෙන තත්වයෙන් නැවතෙන්නේ නැතිව ඒ පෙනෙන රූප "මම"

"මගේ" "මගේ ආත්මය" කරගන්නට යෑම තමයිනේ ගැටලුව... ඕක දන්නේ නැතිද අපි... ඔය දේ තෝරාගත්තා නම් වැඩේ හරි... ධර්මය තෝරාගත්තා වෙනවා..." කියලා තමයි අප බොහෝ විට සිතන්නේ... මෙහි බැලූ බැල්මට නම් වරදක් නෑ.

එහෙත් මෙතැන පොඩි පැටලුමක් තියෙනවා. ඒ පැටලුම ලිහාගන්නේ නැතිව මේ කථාව කිව්වොත් මේ විදියට විශ්වාස කලොත් "නිවීම" කියන තත්වය අත්දැකගැනීමට හැකියාවක් ලැබේදැයි ගැටලු සහගතයි. ඒ ඇයි කියලා විග්‍රහ කරගෙන බලමු.

ඡායාරූප ශිල්පියා කැමරාවට සම්බන්ධ වූ තැන් පටන්ගෙන කැමරාව තුල හසුවන ඡායා තුල රූපාකාර සකසාගෙන රූප මතුකරගෙන ඡායා කියන ස්වභාවය ගැන කිසිම වැටහීමක් නැතිව තමන් විසින්ම සකසාගත්තාවූ "රූප" සටහන් කරගෙන ඇසුරු කරනවා.

අර කැමරාවට යොදපු පටයන් තුල අප නෙගටිව් කියලා හඳුන්වන අවස්ථාව සිහිපත් කරගන්න. එහෙමත් නැතිනම් පික්සල් කියන තත්වය සිහිපත් කරගන්න. ඒ තත්වයන් තුල මේ මේ දේවල්ය කියලා හඳුනාගැනීමක් කරගන්න ඔබට හැකියාවක් තියෙනවාද? බෑ නේද? ඒ කියන්නේ "ඡායා" කියන මූලික අවස්ථාවක් සමඟින් යමක් හඳුනාගන්නට නොහැකියි.

සරලවම කියනවා නම් එවැනි තත්වයක් අපට හසුකරගන්නට හැකි නම් කිසිම දෙයක් හඳුනාගන්නට නොහැකි වෙලා ජීවත් වෙන්නට නොහැකි වෙනවා. අන්න ඒ නිසා "විපාක සිත" කියන අවස්ථාව කියන්නේ අධික වේගයකින් අතීතයට ගෙවී ගෙවී යන්නාවූ අවස්ථාවන් සමූහයක් සටහන් කරගෙන ඒ සටහන් කරගත්තාවූ දෑ මෙන්න මේවාය කියලා හඳුනාගැනීමක් කිරීමට අවශ්‍ය පමණට "**පමණක්**" කිලිටි වූ සිතක ස්වභාවයයි.

ඒ හඳුනාගැනීම නොමැති වුවහොත් මේ දැනට ලැබූ ජීවිතය පවත්වාගන්නට අපට නොහැකි වෙනවා. අන්න ඒ නිසා පැවැත්මක් පිණිස ඔන්න ඔය කියන මට්ටම කෙනෙකුට අවශ්‍ය වෙනවා. ඒ අවශ්‍යතාවය නිර්මාණය වුනේම මේ ලෝකයේ යථාර්ථය නොදැක නොදැන එය සැබෑවක් සේ පෙර තිබූ විශ්වාසය නිසාමයි.

පෙර අත්බැවයන් වලදී "රූප බැලූ නිසාම" "රූපය සකස් වෙච්ච ආකාරය ගැන වැටහීමක් ඇති නොවූ නිසාම" "රූපයේ යතාර්ථය නොදැනීම නිසාම" විශ්වාස කලේම "රූප" තියෙනවා කියලයි. ඒ තිබෙන රූප "බාහිරයේ තිබෙනවාය" කියලා හිතුනා "අභ්‍යන්තරයේ තිබෙනවාය" කියලා හිතුනා සියුම් කියලා හිතුනා, ඝන කියලා හිතුනා, හීනයි කියලා හිතුනා, ප්‍රණීතයි කියලා හිතුනා, අතීත කියලා හිතුනා, අනාගත කියලා හිතුනා, දුර තිබෙන රූප කියලා හිතුනා, ලඟ තියෙන රූප කියලා හිතුනා... මම කියලා හිතුනා, මගේ කියලා හිතුනා... මෙන්න මේ වගේ රූපය ගැන වැරදි සංඥාවක්ම ලැබෙන්නට හේතුවුනේ රූපය සකස් වෙච්ච ආකාරය ගැන කිසිම වැටහීමක් අවබෝධයක් අපට නොතිබූ නිසාමයි.

රූපය ගැන මේ යථාවබෝධය නැතිවිට තමයි පවතින්නාවූ රූපයක් ලෙසින් අදහස වැරදියට ලැබෙන්නේ. වැරදි දැක්මකින් රූපය ඇසුරු කලා වෙන්නේ එවිටයි. රූපය කෙරෙහි නිච්ච සංඥාවක් ලැබෙන්නේ එවිටයි. රූපය නිත්‍ය වශයෙන්ම ස්ථිර වශයෙන්ම සැබෑවටම පවතිනවා කියලා අදහසක් විශ්වාසයක් සකස් වෙනවා.

"රූපය" කියන කැමැත්ත / බලාපොරොත්තුව ඉෂ්ඨ වුණාය කියලා අදහසක් සිතට නැඟෙනවා. රූපය තුල සැප හෝ දුක පවතිනවා කියලා අදහස් එවිට සිතට නැඟෙනවා. රූපය කියලා භාරගත්ත අවස්ථාවේදීම එයට වටිනාකමක් ලබාදී සාරවත් හැඟීමකින් ඇසුරට පත්වෙනවා. මේ ආකාරයට "රූපය" කෙරෙහි වැරදි නොගැලපෙන නුසුදුසු සංඥාවක්ම ලැබෙනවා.

මේ "රූප" ලෙසින් භාරගෙන මේ ආකාරයේ විශ්වාසයක් හැඟීමක් ඇසුරක් සකස් වුනේම "ඡායා" කියන මූලික තත්වය ගැන අවබෝධයෙන් තොරව ඡායා - රූප කරගන්නාවූ සිද්ධිය පිළිබඳව යතා ස්වභාවය ගැන අවබෝධයෙන් තොරව ඒවා කෙරෙහි ඇතිවූ වැරදි පිළිගැනීම නිසාමයි. ඒ සඳහා මේ ආකාරයේ රූපාකාරයන් ගොඩනඟන සකස් කරන වැඩපිලිවෙලක් පවතිනවාය කියලා නොදැනුවත්කමම මුල්වෙනවා.



නැවතත් යතාර්ථය ඇත්ත නොදැක නොදැන කටයුතු කලොත් නැවතත් එහි ප්‍රතිඵලය වන්නේ විපාක ඵලයක් ලෙසින් මෙන්න මේ ඉහත විස්තර කල ආකාරයට රූපය වරදවා හඳුනාගැනීමේ මානසික පසුතලයක් විපාක ඵලය ලෙසින් ලැබෙන එකමයි.

ඒ ලැබෙන ඵලය නැවත නැවත ඒ ආකාරයෙන්ම භාවිතා කරලත් නැවතත් මේ ඇත්ත නොදැක නොදැන කටයුතු සිදුවුනොත් නැවතත් ඵලය එයමයි... **පවතින්නාවූ රූපයක් කෙරෙහි විශ්වාස කරන තාක් ඒ රූප බැලීමට උපකරණයක් අවශ්‍ය වෙනවා. උපකරණය භාවිතා කරමින් ඡායා රූප කරගන්නට අවශ්‍ය වෙනවා. සටහන් කරගත්ත ඡායාරූප සමඟ කටයුතු කරන්නට සිද්ධ වෙනවා. මෙන්න මේ විදියට තමයි සසර පැවැත්ම කියන දේ නිර්මාණය වන්නේ.** උපමාව සඳහා ඉහත අවස්ථාව පැහැදිලි කරගැනීම පිණිස තවදුරටත් හිතන්න.

කැමරාවට සමාන "මස් ලේ ඇස" කියන උපකරණය තිබෙනවා. ගැටලුවක් නෑ. මොකද එයට තියෙන්නේ පෙනීමේ හැකියාව පමණයි. එයට තිබෙන්නේ රූප පෙනීමේ හැකියාව නොවේ. එයට තිබෙන්නේ යම් ඡායා ස්වභාවයක් වැනි අවස්ථාවක් හසුකරගැනීමේ හැකියාව පමණයි.

ඡායාරූප ශිල්පියා මේ කැමරාව භාවිතා කිරීම සිදුකරනවා ඒ තමයි ඉහත විස්තර කල විපාක සිත යෙදෙන අවස්ථාව. ඒ කිව්වේ කැමරාවට ඡායා හසුකරගන්න හැකියාව තිබුණා. විපාක සිත හෙවත් ඡායාරූප ශිල්පියා යෙදුන තැන් පටන් ඒ කැමරාව හෙවත් මස් ලේ ඇසට පෙනෙන ඡායාවන් නොයෙක් නොයක් රූපාකාරයන් විදියට මැනගෙන සටහන් කරගෙන ඒවා හඳුනාගන්නා ස්වභාවය තමයි එයා දක්වන ශිල්පය. දැන් ඉතින් මේ තත්වයත් ගැටලුවක් නෑ කියමුකෝ.

අන්න ඒ නිසා තමයි දැන් සිහිපත් කරගන්න ඕන ඡායාරූප ශිල්පියා කියන දෙවැන්නා ඔහු / ඇය තමන්ගේ ඇස ලඟින් කැමරාව තියාගන්නවා. ඒ තුලින් බාහිරයක තිබෙන තත්වයක් දැකීම පිණිස ඒ උපකරණය භාවිතා කරනවා. යතාර්ථයක් වශයෙන් ඡායාමය ස්වභාවයෙන් පවතින්නාවූ යම් තත්වයක් සටහන් කරගෙන ඒ තුලින් නොයෙක් නොයෙක් රූප මතුකරගන්නා "රූපකරණ" කටයුත්තක් සිදුවෙනවා.

මෙන්න මේ අවස්ථාව ගැටලුවක් නෑ කියමුකෝ. ප්‍රශ්ණ නම් අඩුයි තමයි. එහෙත් ඒ ක්‍රියාවලිය තුල යම් පමණක වෙහෙසක් බරක් ක්‍රියාවලියක් සිදුවන ස්වභාවයක් පවතින බව නුවණින් දැක පැහැදිලි විය යුතුයි!



ටිකක් හිතන්න කැමරාවක් ඔසවාගෙන කෙලවරක් නැතිව ඡායාරූප අරගන්නා මිනිසෙක් ගැන සිහිපත් කරගන්න. ඒ තුල වෙහෙසක් තියෙනවා නේද? බරක් ඔසවාගෙන ඉන්න ස්වභාවයක් තියෙනවා නේද? දුකට පත්වීමක් අසහනකාරී ස්වභාවයක් යම් පමනකට හෝ ගැබ්වෙනවා නේද?

දැන් මෙන්න මේ අවස්ථාව තමයි "ආ පෙනීම, ඇසීම, විදීම සාමාන්‍ය දෙයක්නේ" යැයි දැනෙන අවස්ථාව.

අපට පෙනීම පිණිස සකස් වෙච්ච ඇසක් තියෙනවා නම් එය හොඳ තත්වයේ පවතිනවා නම් පෙනීම සාමාන්‍ය දෙයක්ය! කියලා අපට දැනෙන අවස්ථාව. ශ්‍රවණය පිණිස සකස් වෙච්ච කණක් තියෙනවා නම් එය හොඳ තත්වයේ පවතිනවා නම් ඇසීම සාමාන්‍ය දෙයක්ය! කියලා අප විශ්වාස කරන අවස්ථාව. වින්දනය පිණිස සකස් වෙච්ච නාසය, දිව, කය සහ ඒවා හඳුනාගැනීමට මන කියන දෑ තියෙනතාක් ඒවා විඳීම සාමාන්‍ය දෙයක්ය! කියලා හැඟෙන දැනෙන අවස්ථාව.

"සාමාන්‍ය දෙයක්නේ" එහෙම නේද හිතෙන්නේ? එය සාමාන්‍ය දෙයක් වුනේ අපි ඇත්ත නොදැක්ක නිසාමයි කියලා උපමාවට සසඳ නුවණින් දැකිය යුතුයි.

ඇයි දන්නවද? මෙන්න මේ ක්‍රියාවලියේ යථා තත්වය ධර්මය තුලින් නුවණින් නොදකිනතාක් අපට සිතෙන්නේ මේ පෙනෙන ඇහෙන දැනෙන දේවල් සාමාන්‍ය දේවල් කියලාමයි. ඒවා සාමාන්‍ය දෙයක් ලෙසින් දැනෙනතාක් අපිට එයින් මිදෙන්නට හෝ බේරෙන්නට හෝ ඉවත් වෙන්නට හෝ අවශ්‍යතාවයක් සකස් වෙන්නේත් නෑ. ඇයි? සාමාන්‍ය දෙයක් කියන විශ්වාසය තුල අපට ඒ තුල ගැබ්වෙන දුක අසහනය වෙහෙස දැකගන්නට නොහැකි වෙනවා. ඒ දුක අසහනය වෙහෙස නොදැක්ක විට එයින් මිදෙන්නට අවශ්‍යතාවයක් සකස් වෙන්නේත් නෑ. මේ තත්වය පිළිබඳව බොහෝම හොඳින් සිතා අවබෝධකරගන්න.

ඉතින් අපට මේ පෙනෙන ඇසෙන විඳින කියන අවස්ථාවන් පවා සාමාන්‍ය තත්වයක් නෙවේ කියලා දැන් ඉහත උපමාවට ගලපා සසඳා නුවණින් දැකගන්න. එයත් කිලිටි වූ ස්වභාවයක්මයි. එහෙත් ඒ කිලිටි බව මේ ජීවිත කාලය පවතින තුරු නැතිකරගන්නට හැකි තත්වයක් නෙවේ. එය වෙනස්කරගන්නට හැකි ස්වභාවයක් නෙවේ. එය පෙර නොදැනුවත්කමේ (අවිද්‍යාවේ) ප්‍රතිඵලයක් ලෙසින් සකස් වී ලැබූ දෙයක් නිසාම දැන් ඒ ඵලය වෙනස් කරගන්නට නොහැකියි. ඒ තුල යම් කටයුත්තක් සිද්ධ වෙනවා. අන්න ඒ නිසාම වෙහෙසක් පෙළීමක් දුකක් අසහනකාරීබවක් ඒ තුලත් පවතිනවා. එහෙත් දැන් නම් එය අපට සාමාන්‍ය තත්වයක් වෙලමයි දැනෙන්නේ... එහෙම නේද?

එහෙත් මේ ඇත්ත නොදන්නා පිරිස මේ දේවල් සාමාන්‍යයයි කියනා විටදී ඔන්න අරිහතුන්වහන්සේ නම් මේ කියන පෙනීමේ ඇසීමේ විඳීමේ යථාස්වභාවය ප්‍රත්‍යක්ෂ වශයෙන්ම හඳුනාගත්තා. ඒ නිසාම එම ක්‍රියාවලිය තුල ගැබ් වන වෙහෙස දුක දකිනවා. දන්නවා. අන්න ඒ නිසා අරිහත්වයෙන් පසුවත් උන්වහන්සේ මේ විපාක වශයෙන් සකස්වෙන කොටස තුල අනිච්ච / අනිත්‍ය ස්වභාවය / කැමැත්ත ඉෂ්ඨ නොවූ ස්වභාවය, දුක් ස්වභාවය, අනත්ථ / අනාත්ම / අසාර ස්වභාවය හඳුනනවා. එය නුවණින් දකිනවා. සෝතාපන්න මට්ටමේ පටන්ගෙනම ආර්ය ශ්‍රාවකයාද මේ ක්‍රියාවලිය නුවණින් දැක හඳුනාගත්ත නිසාම එහි වෙහෙස දකිනවා දැනෙනවා. දුක හඳුනනවා. ඒ දුක නැතිකරගන්නා මාර්ගය පිළිපදිනවා. ප්‍රතිඵල ලබනවා.

නැවත මේ තත්වය ඔස්සේ කැමරාවක් වන මස් ලේ සහිත ඇසක් නොලැබෙන්නට හෝ ඡායා රූප කරමින් ශිල්ප දක්වන්නට ඡායාරූප ශිල්පියෙකුගේ අවශ්‍යතාවයක් නොලබන්නට මේ ආකාරයට නුවණින් දැකීමම ඒ පිළිබඳව ලබන අවබෝධයම හේතුවෙනවා. අන්න ඒ නිසා බහුතරයක් දෙනාට සාමාන්‍ය දෙයක් වන "පෙනීම", "ඇසීම", "විඳීම" ලෙසින් කියන්නාවූ සාමාන්‍ය තත්වය අරිහතුන්වහන්සේට නම් නැවත ජීවිතයක් උපතක් ගෙන දෙන්නට හේතු වන්නක් නොවේ! ආර්ය ශ්‍රාවකයාටද ඒ ඒ මට්ටමෙන් මේ පිළිබඳව ප්‍රත්‍යක්ෂ ඥානයක් තියෙනවා.

රූපය ලෙසින් භාරගන්නා මූලික අවස්ථාවේදීම සිතේ යෙදෙන යතා ස්වභාවය නුවණින් හඳුනාගෙන තිබීමම ඒ ඔස්සේ සකස් වන්නට නියමිතව තිබූ ඵලය නොලැබී යාමට මුල් වුණා. යම් ප්‍රතිඵලයක් ලැබීමට හේතු සකස් වූවා නම් ඒ හේතුවම මුලිනුපුටා දැමුවා වෙනවා.

ඉතින් සෝතාපන්න කෙනෙකුට මෙන්න මේ අවබෝධයම හේතු වෙනවා සතර අපාගත තත්වයක නැවත උපතක් නොලබන්නට... සෝතාපන්න ඵල ලාභියාට සතර අපාගත මට්ටමේ ලෝකයක් පහල වීමට අවශ්‍ය කරන ප්‍රමාණයෙන් රූප සකස් වෙන්නේම නැතිබව නුවණින්ම අවබෝධකරගත යුතුයි. සතර අපාගත මට්ටමෙන් ලෝකය සකස් කරන්නට සෝතාපන්න කෙනෙකුට ඇස, කණ, දිව, නාසය, කය සහ මන පහල වෙන්නේම නැති බව නුවණින් අවබෝධකරගත යුතුයි. ඒ මට්ටමෙන් ඡායාරූපයක් ඇත්තක් කරගෙන සිත, කය, වචනය මෙහෙයවන්නේ නැතිබව නුවණින් වටහාගත යුතුයි.

ඉන්ද්‍රියයන් පහල වෙන්නේම නැතිනම් ඒවාට ගෝචර වන රූප හෙවත් රූප රූප, ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, ස්පර්ශ රූප, මනෝ රූපද පහල වෙන්නේම නැති බව නුවණින් අවබෝධ කරගත යුතුයි. **එහෙනම් සෝතාපන්න ශ්‍රාවකයෙක් කියන්නේ අනෙක් අය සතර අපාගත මට්ටමේ වැරදි කරන්නාවූ ලෝකයක් තුල එසේ වැරදි නොකර ඉන්න කෙනෙක් නෙවේ.** එවන් වූ තත්වයකදී ඒ මට්ටමෙන් **ලෝකයක් පහල වෙන්නේම නැති ඒ මට්ටමෙන් ලෝකය නිරෝධ කලාවූ** පුද්ගලයෙකුට තමයි සෝතාපන්න ආර්ය ශ්‍රාවකයෙක් කියලා කියන්නේ. තමන් ඇසුරු කරන්නේ ඡායා – රූප කරගෙන ඉතිරිවූ සටහනක් පමණක්ම බවත් ඡායාරූප සමඟ ඒවා ඇත්තක් කරගෙන සිත, කය, වචනය මෙහෙයවීම අනුවණකමක් බවත් සෝතාපන්න වූ අවස්ථාවේ පටන්ගෙන ආර්ය ශ්‍රාවකයෙකුට අවබෝධයක් තිබෙනවා. එහෙත් ඒවා පද වශයෙන් ධර්ම විග්‍රහයක් වශයෙන් තව කෙනෙකුට පෙන්වා දෙන්නට හෝ තමන්ට වුවත් පැහැදිලි කරගන්නට ඒ පුද්ගලයන් අපොහොසත් වන්නට පුළුවන්.

අනාගාමී කෙනෙකුටද ඉහත ආකාරයටම ඒ අවබෝධයම හේතු වෙනවා කාමලෝක තත්වයක නැවත උපතක් නොලබන්නට... කාම ලෝකය ඇසුරේ ජීවත්ව සිටින කාලය තුල අනාගාමී වන පුද්ගලයාගේ මානසිකත්වය තුල කාම ලෝකය ඇසුරු කරන මානසිකත්වය නිරෝධයි. කාම ලෝකයම නිරෝධයි. අනෙක් අයට බාහිරයෙන් කාම ලෝකය ඇසුරු කරනවාය කියලා පෙනුනත් ඒ පුද්ගලයාට කාම ලෝකය නිරෝධයි. ඒ නිසාමයි ඒ මට්ටමෙන් ඇලීමක් ගැටීමක් විද්‍යාමාන නොවෙන්නේ.

ඉතින් අරිහත්වයට පත් කෙනෙකුට මෙන්න මේ අවබෝධයම හේතු වෙනවා කිසිදු තත්වයක නැවත උපතක් නොලබන්නට... සියලූ ලෝක නිරෝධයි! එහෙත් බැලූ බැල්මට පෘතග්ජන මානසිකත්වය ලෝකය යැයි හඳුනන ලෝකයේ සුවපහසුවෙන් ජීවත් වෙනවා යැයි බාහිරයට පෙනෙන්නට තිබෙනවා.

ඉතින් අවිද්‍යාවෙන් යුතු අපට සිද්ධ වෙන සිද්ධිය තවත් විස්තර කරගනිමුද? නුවණැත්තෝ නම් දැනටමත් අනුමාන වශයෙන් හෝ කියන්නට යනදේ වටහාගෙන ඇති. ඒත් කමක් නෑ... අපි විස්තර කරගනිමු. කොතැනක හෝ පැටලී ඇතිනම් එයම නැවත මඟ නොමඟ වෙන්නට හේතු වෙනවා.

අන්න ඒ නිසා විස්තර කරගෙන එය පූර්ණ අවබෝධයක් කරගැනීම තම තමන්ට භාරයි. විස්තර කරගන්නට තව බොහෝ දෑ තියෙනවා... ක්‍රමයෙන් තව තවත් හැකි පමණින් විග්‍රහ කරගනිමු!

## ...අවිද්‍යාව ඇතිවිට - 12

විපාක සිත වශයෙන් යෙදෙන අවස්ථාව මදක් පැහැදිලි කරගත්තානේ. මේ විපාක සිත තුල අවිද්‍යාව තිබුනොත් කුමක් සිදුවෙයිද? දැනට අපට වෙලා තියෙන තත්වය ඔන්න මෙතැන් පටන් තෝරාගත හැකියි. ඉහත විපාක කය සහ සිත කියන අවස්ථාව හෙවත් කැමරාව සමඟ එය අතැතිව ඉන්නා ඡායාරූප ශිල්පියා කියන අවස්ථාව අවිද්‍යාව නිසා කිලිටි වෙනවා නම් ප්‍රථිපලය කුමක් වෙයිද?

ඡායාරූප ශිල්පියා ඡයාරූපකරණයේ යෙදෙමින් "ඡායාරූප" කියන්නාවූ ප්‍රථිඵලය හෙවත් සටහන ඇත්තක් වශයෙන් ගෙන එයත් සමඟ විවිධාකාරයෙන් කටයුතු කරන්නට පටන්ගන්නවා. ලබාගත් ඡායාරූපය නැමැති සටහන තුල රූප ඇසුරු කරමින් අවුල් වෙන්න පටන්ගන්නවා.

අවිද්‍යාව හෙවත් මේ සිද්ධ වෙන සිද්ධියේ ඇත්ත නොදන්නාකම යෙදුනු තැන් පටන්ගෙන විපාක සිත වශයෙන් ලැබෙන කොටස සීමාව ඉක්මවා කිලිටි වෙන්නට පටන්ගන්නවා. මින් පෙර බොහෝ අවස්ථාවලදීත් "චිත්ත" කියන අවස්ථාව 9 අවස්ථාවකින් කිලිටි වෙලා "විඤ්ඤාණ ස්කන්ධය" කියන අවස්ථාව සකස් කරන ආකාරය නොයෙක් උපමා ඇසුරෙන් පැහැදිලි කරලා තියෙනවා.

නැවතත් මේ අවස්ථාවේ මේ උපමාවට ගලපා එය සිහිපත් කරනවා නම් "චිත්ත, මනෝ, මානසං, හදයං, පණ්ඩරං, මනෝ මනායතනං, මනේන්ද්‍රියන්, විඤ්ඤාණං, විඤ්ඤාණං ස්කන්ධ" කියන අවස්ථා 9කින් කිලිටි වී සිදුවන සිද්ධිය පැහැදිලි කරගනිමු. මේ බව අභිධර්ම පිඨකයේ විභංග ප්‍රකරණය සහ ධර්මසංගනීප්‍රකරණය කියන්නාවූ කොටස් තුලද බොහෝම පැහැදිලිව පෙන්වා තිබෙනවා.

අප ඉහත කොටස් වලදී ඡායා - රූප කරගනිමින් සටහන් කරගෙන ශිල්ප දක්වන ඡායාරූප ශිල්පියා කියන අවස්ථාව සසඳා "විපාක සිත" කියන අවස්ථාවක් කතා කරන්නට යෙදුනා. ඒ කිව්වේ ඡායා පෙනෙන ස්වභාවය ඉක්මවා ගොස් ඒ පෙනෙන ඡායා - රූප කරගෙන සටහන් කරගෙන විවිධාකාර මැනගැනීම් ඔස්සේ ඒවා හඳුනාගන්නට කටයුතු කරන අවස්ථාව. මෙන්න මේ කියන අවස්ථාව ඉහත 9 ආකාරයෙන් කිලිටි වීම තුල පැහැදිලි කරනවා නම් මෙන්න මේ ආකාරයට විග්‍රහ කරගත හැකියි.

විපාක සිත කියන්නේ "චිත්ත, මනෝ, මානසං" කියන අවස්ථා 3 ක්‍රියාත්මක වන කොටස පමණයි. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ **මූලික** පංචස්කන්ධ ස්වභාවය ක්‍රියාත්මක වෙලා හඳුනාගන්නා පමණින් අවසාන වෙන්නේ මේ කියන අවස්තා 3 තුලදීයි. ඉතින් එතැනදී ඇතිවන වෙහෙසකාරී, පෙළීම්කාර, දුක් මට්ටමක් තිබෙන බව අප උපමාවටම සසඳා පෙරදී විග්‍රහ කරගන්නට යෙදුනා. ඒ මට්ටම තුල පෙනෙන, ඇහෙන, විඳින මට්ටම ලෙසින් අප "සාමාන්‍ය දෙයක්නේ" යැයි හඳුනාගන්නා මට්ටම යෙදෙන බවත් එය සාමාන්‍ය දෙයක් නෙවෙන බවත් පෙර අවිද්‍යාවෙන් කටයුතු කොට සකස් වූ හේතුවට ඵලය බවත් පැහැදිලි කරගන්නට යෙදුනා.

ඉතින් ඔන්න එතකොට අරිහතුන්වහන්සේ කෙනෙක්ගේ සිත "චිත්ත" අවස්ථාවෙන් පටන්ගෙන "මනෝ, සහ ,මානසං" කියන අවස්ථා දක්වා පිළිවෙලින් කිලිටි වී දකින්නාවූ අසන්නාවූ විඳින්නාවූ දෑ යම් පමණකට මැනගැනීමත් ඒවා සමඟ ගනුදෙනු කරන්නට හැකි ආකාරයෙන් හඳුනාගැනීමත් යන කටයුතු සිද්ධ වෙනවා.

ඒ පමණකට කිලිටි වීම උපමාවෙන් නැවත සිහිපත් කරගන්නවා නම් ඡායාරූප ශිල්පියා කැමරාව අතැතිව ඡායාරූපකරණයේ යෙදී සිටින අවස්ථාවට සම කරන්න පුළුවන් අවස්ථාව. කැමරාව තුලින්

දක්නා වූ ඡායා තුලින් විවිධාකාර රූපාකාරයන් දකිමින් ඡායා - රූප බවට පරිවර්ථනය කරගෙන සටහන් තබාගන්නා අවස්ථාව ලෙසින් උපමා සසඳා නුවණින් වටහාගත යුතුයි.

දැන් එතකොට අවිද්‍යාව යෙදෙන මනසක ස්වභාවය කුමක්ද? ඔන්න අවිද්‍යාව යෙදෙන මනසක් කියන්නේ මෝඩකම නිසාම වැඩි වැඩ දාන්න ඒ කියන්නේ වැඩිපුර ශිල්ප දක්වන්නට යෙදෙන අවස්ථාවයි. මොනවද මේ වැඩිපුර ශිල්ප? විග්‍රහ කරගන්නට උත්සාහ කරමු.

"චිත්ත" කියන අවස්ථාව කියන්නේ අරමුණු විවිධාකාරයෙන් දැනගැනීමේ ස්වභාවය සහ ප්‍රභාශ්වර බවින් යුතු ස්වභාවටයි. ඒ හැකියාවට "සබ්බ චිත්ත සාධාරණ චෛතසික" නම් වූ චෛතසික 7ක් එකතුවෙනවා. ඵස්ස, වේදනා, සංඥා, චේතනා, ඒකග්‍රතා, ජීවිතේන්ද්‍රිය, මනසිකාරය ලෙසින් මූලික වශයෙන් චිත්ත අවස්ථාවේදී අරමුණු හඳුනාගැනීම පිණිස අවශ්‍ය කරන බලයක් විපාක ඵලයක් ලෙසින් යෙදෙනවා. ඒ යෙදීම සිදුවීමෙන් පසුව තමයි එයට මැනගැනීම් සහ මැනගන්නා දේ සමඟ එකතුවන තත්වය උදාවෙන්නේ.

ඉතින් සරලවම කියනවා නම් මෙවන් පසුතලයක් තුල තමයි කිලිටි වීම හටගන්නේ... එහෙම නැතිව චිත්ත කියලා කියන්නේ ස්ථිරව පවතින යම් තත්වයක් ලෙසින් අදහස් නොගත යුතුයි. විපාක ඵලයක් ලෙසින් මෙම පරිසරය ඒ ඒ මොහොතේ සකස් වෙනවා. එය ආගන්තුක කෙලෙස් වලින් කිලිටි වෙමින් පැවැත්ම සකස් කර දෙනවා. අරිහත්වයෙන් පසුවත් මේ පසුතලය හටගන්නා තත්වය තිබෙනවා. එහෙත් එය ආගන්තුක කෙලෙස් වලින් කිලිටි වෙමින් පැවැත්මක් සකස් කරන මට්ටමට පත්වෙන්නේ නෑ. ඉතින් නැවත මෙවැනි පරිසරයක අවශ්‍යතාවය නැතිව ගිහින් නිසාම පරිනිර්වාණයෙන් පසුව නැවත මෙවන් වූ කිලිටි වෙන්නට හේතු තියෙන පරිසරය සකස් වීමම නතර වෙනවා. "චිත්ත" කියන අවස්ථාව පැවැත්ම පිණිස සකස් වෙච්ච කිලිටි වූ තත්වයක් ලෙසින් නැණවත්ව හඳුනාගත යුතු වන්නේ අන්න ඒ නිසා තමයි.

උපමාවට සසඳා තෝරාගන්නවා නම් ඡායාරූප ශිල්පියා කැමරාව තුලින් දකින අවස්ථාව "චිත්ත" අවස්ථාව වගෙයි. ඒ අවස්ථාවේ තිබෙන්නේ අරමුණු දැනගැනීමේ හැකියාව සහ ප්‍රභාශ්වර භාවයකුයි. ඒ කියන්නේ ඡායා රූප වශයෙන් දැනගැනීමේ හැකියාවයි. ඒ හැකියාව නිසාම ඒ දැනගත්තාවූ ඡායා මෙන්න මේ මේ රූප යැයි මැනගැනීමක් සිදුකරන්නට පෙළඹෙනවා. ඒ අවස්ථාව "මනෝ" අවස්ථාවයි. එසේ මැනගත්තාවූ රූප සටහන් කරගන්නට පෙළඹෙනවා. ඡායාරූපකරණයේ යෙදෙනවා. එවිට ඡායාරූපය නමැති සටහන ලැබෙනවා. ඒ සටහන ලැබූ නිසාම ඒ ඒ රූපාකාරයන් හොඳින් හඳුනාගන්නට හැකියාවක් ලැබෙනවා. එය "මානසං" අවස්ථාවයි.

දැන් මේ සරල භාෂාවෙන් කියන්නට උත්සාහ කරන්නේ මේ කියන්නාවූ "චිත්ත, මනෝ, මානසං" කියන අවස්ථාව ඉක්මවා "හදයං, පණ්ඩරං, මනෝ මනායතනං, මනේන්ද්‍රියන්, විඤ්ඤාණං, විඤ්ඤාණං ස්කන්ධ" කියන අවස්ථා අනුව කිලිටි වීමෙන් පැවැත්ම සකස් කරන ආකාරයයි.

ටිකක් හිතන්න ඡායාරූප ශිල්පියා තමන්ගේ නොදැනුවත්කම නිසාම කැමරාවට හසුවූ ඡායාවන් තුල රූප සකස් කරගෙන ඒවා නොයෙක් ආකාරයෙන් මැනගෙන නවතින්නේ නැතිව මැනගත්තාවූ රූප හඳුනාගෙන නවතින්නේ නැතිව ඒ රූප සටහන් කරගත්තාවූ තත්වයෙන් නවතින්නේ නැතිව ඒ සිදුවූ සිද්ධිය පිළිබඳව කිසිදු අදහසක් නැතිව සිහියක් නැතිව ඒ විහින් සකස් කරගත්ත රූපසටහන කෙරෙහි හොඳින් හෝ නරකින් හෝ මධ්‍යස්ථ වශයෙන් ප්‍රතිචාර දක්වලා ඒ ඒ රූප සමඟ භාදකම් පවත්වන්නට ගියාම මොකද වෙන්නේ?

ඔන්න එතකොට විහින් සකස් කරගෙන මැනගත්තාවූ රූපාකාරයන් සමඟ හා වෙන්න පටන්ගත්තා. මෙන්න මෙතැනදී තමයි "තණ්හාව" නැමැති සියුම් මැහුම්කාරිය නැමැති දුකට හේතුව හෙවත් දුකේ

ආරම්භය හෙවත් දුක්ඛ සමුදය නැමැති බන්ධනය ක්‍රියාත්මක වෙන්නේ. මෙන්න සිත "හදයං" කියන අවස්ථාවට කිලිටි වුණා.

යමකට හාද වුනොත් එතැනින් එහාට සිද්ධ වෙන්නේ මොකක්ද? අපි හාදවෙන දේවල් තව තවත් පණ්ණරයක් කරගෙන මුවහත් කරගෙන තහවුරු කරගෙන දැඩි ලෙසින් ඒවාට එකතු වෙනවා. උපමාවට අනුව ඡායාරූප ශිල්පියා රූප සමඟ හාදවුනේ ඡායා කියන තත්වය අමතක වෙලාමයි... ඒ තත්වය ගැන නොදැනමයි. කැමරාවේ ක්‍රියාකාරිත්වය හෝ කැමරාව භාවිතා කරන තමන්ගේ ක්‍රියාකාරිත්වය ගැන නොදැනමයි.

ඉතින් ඒ හාදකම වැඩිකර ගන්න ගන්න මොකද වෙන්නේ? ඡායා කියන තත්වය නම් සිහියට එන්නේම නැතිව රූප කියන තත්වයම ස්ථිර වෙනවා. තැන තැන හා වුනේම... තණ්හා වුනේම යථාර්ථය නොදැකයි... යථාර්ථය පිළිබඳ අසිහියෙන් යුතුවයි... ඒ හාවීම ඉස්මතු වෙලා ඒ හාදකමම ඉස්මතු වෙලා එතැනටම ඇදෙනවා... එතැනටම එකතු වෙනවා... ඒ දේට මුල්වූ අවිද්‍යාව කියන කොටසත් ඒ නොදැනුවත්භාවය මත සකස්කිරීමේ කටයුත්ත සිද්ධ වූ ආකාරයත් ඒ තුලින් ලැබුණ මායාව හෙවත් "ඡායාරූපය" විශ්වාස කරගෙන සිදුවන අවුලත් මේ සෑම දෙයක්ම අපූරුවට ගැලපිලා පැහැදිලි වෙනවා. මේ කිච්චේ "පණ්ඩරං" කියන අවස්ථාවට කිලිටි වීම ගැනයි.

ඒ ක්‍රියාවලිය සිදුවන විට අප තෝරාගත යුතු දේ තමයි යම් ක්‍රියාවලියක් සිදුකිරීම පිණිස ආයතනයක් සකස් වී තිබෙන බව. ඡායා - රූප කරගෙන අන්න ඒ රූප සැබෑවක් බවට පත්කරගැනීම පිණිස ඒ ක්‍රියාවලිය පිණිසම ආයතනයක් සකස් වෙනවා. ඒ කියන්නේ ඔන්න අපේ උපමාවට සසඳනවා නම් ඡායාරූප ශිල්පියාට කලාකාමී ඇස පහළ වෙනවා ඒ ඇසෙන් කලාකාමී රූප දැකගන්නට හැකිවෙනවා. තමන් ලැබූ ඡායාරූපයේ කලාත්මකබව පිළිබඳව ප්‍රතිචාර දක්වනවා. ඡායාරූපය කියන තත්වය අමතක වෙලා ගොස් සැබෑ රූපාකාර ඇසුරු කරන විශ්වාසය තුලින් ඒ ආකාරයේ ඇසක් සහ රූපයක් පහළ වෙනවා.

සරලවම කියනවා නම් පටිගත කරගත්තේ ඡායා රූප කර බව සිහියක් නැතිව ඒ පටිගත වූ රූපසටහන ඇත්තක් ලෙසින් විශ්වාසයක් සකස් වෙලා නැවත නැවත පටිගත කරගන්නට සුදුසු රූප දකින ඇසක් සහ ඒ ඇසට හසුකරගැනීම පිණිස රූප සකස් වෙනවා. ධර්මයට අනුව නම් දැන් මෙතැනදී පහළ වුනේ මේ මොකක්ද? සළායතන වලදී නිරෝධකරන්නට හැකියි කියන්නාවූ "චක්ඛායතනය" කියන තත්වයයි. "රූපායතන" කියන තත්වයයි. ඒ ඔස්සේ සකස් වෙන "මනායතන" සහ "ධම්මායතන" කියන තත්වයි. එසේ නම් මේ විස්තර කලේ "මනෝ මනායතනං" කියන අවස්ථාවට කිලිටි වීම ගැනයි.

මෙතැනදී මනායතනං ලෙසින් නිකම්ම නොදක්වා "මනෝ මනායතනං" ලෙසින් දැක්වූයේ එහිදී සිදුවන සිද්ධිය නිසාමයි. ඡායාරූපයක් බව අමතකව ගොස් අසිහියෙන් දෙවැනි වරට මැනගන්නේ කැමැත්තට අනුව ලැබූ බලාපොරොත්තුවට අනුව ලැබූ හාදකමක් මිශ්‍රවූ රූපාකාරයක්මයි... ඒවා දකින්නේත් එවැනි ස්ථිර වශයෙන්ම පවතින හාදකමක් මිශ්‍රවූ ඇසක්මයි යන මැනගැනීම තුලින් සකස් වූ තත්වයක් නිසාමයි.

ආයතනයක් සකස් වූ තැන අපට ඒ වෙනුවෙන් ක්‍රියාත්මක වන සැකසුමක් අත්දැකගන්නට හැකිවෙනවා. ආයතනයක් කියූ විට අපට ඒ ආයතනය තිබෙන ගොඩනැගිල්ලක් ඒ වෙනුවෙන් සකස් වූ ස්ථානයක් සිහිපත් වෙනවානේ. අන්න ඒ වගේ ආයතනයක් ගොඩ නැගුනු තැන ඒ වෙනුවෙන් ඉන්ද්‍රියයකුත් ඇතිවෙනවා. බලාපොරොත්තුවූ රූපාකාරයක් බලන බව සකස්වන්නට අවශ්‍ය කරන ඉන්ද්‍රියය සකස් වෙනවා. මේ කෙටියෙන් විස්තර කරගත්තේ මනේන්ද්‍රියන් කියන කිලිටි වූ ස්වභාවයයි.

දැන් එච්චරටම ස්ථිර කරගත්ත වැඩසටහන තුල මායාවක්ම යථාර්ථයක් වන ස්වභාවය අනිවාර්යෙන්ම සකස් වෙනවා නේද? ඇත්තක් දැකගන්නට හැකි ඥාන තත්වය වෙනස් වෙනවා. නොදැනුවත්කමම මුල්වෙලා සකස් වෙන වැරදිවූ වෙනස් වූ විකෘති වූ ඥාන තත්වයක් ඇතිවෙනවා. ඡායා ස්වභාවය ඉක්මවා ගොස් මායා රූපයක්ම මායා දර්ශනයක්ම ස්ථිර වනවා, ඇතැයි කියලා හැඟීමක් විශ්වාසයක් ගොඩනැගෙනවා. ඡායාරූප ශිල්පියා ලඟි ලඟියේ තමන් පටිගත කරගත්ත ඡායාරූපය ඇත්තට පවතින යථාවත් ස්වභාවයක් ලෙසින් විශ්වාස කරන්නට පටන්ගන්නවා. “විඤ්ඤාණං” කියන තත්වයට කිලිටි වීම තමයි මේ කෙටියෙන් විස්තර කරගත්තේ.

ඒ වෙනස් වෙච්ච විකෘති වෙච්ච ඥානයෙන්ම, නොදැනුවත්කම මතම සකස් වෙච්ච ඥාන තත්වයෙන්ම ඇසුරු කරන විට ඒ ඥාන තත්වයම තව තවත් වැඩිවෙලා ඒ තුලින් විකෘති ස්වභාවයක්ම ඇත්තක්මයි යථාර්ථයමයි කියලා විශ්වාස කරන ස්වභාවය සකස් වෙනවා. ඔන්න කැමරාව භාවිතා කරලා ඡායාරූප ශිල්පියා පටිගත කරගත්ත ඡායාරූපය ඇත්තක් බවට පරිවර්ථනය වුණා. ඔන්න “විඤ්ඤාණං ස්කන්ධ” කියන කිලිටි ස්වභාවය.

දැන් මේ සරල භාෂාවෙන් කිව්වේ මොකක්ද? “චිත්ත, මනෝ, මානසං” කියන අවස්ථාව ඉක්මවා “හදයං, පණ්ඩරං, මනෝ මනායතනං, මනේන්ද්‍රියන්, විඤ්ඤාණං, විඤ්ඤාණං ස්කන්ධ” කියන අවස්ථා අනුව කිලිටි වන ආකාරය තමයි ඒ විස්තර කලේ.

එතැන් පටන් ඉතින් තව මොනවා සිද්ධ වෙන්නද නේද? කුණු බෑග් 2ක් තියෙන අවස්ථාවට වඩා ඒ කුණු බෑග් 2ට තව කුණු බෑග් 6ක් එකතු වුනොත් ගඳ ගහන ප්‍රමාණය වැඩියි නේද? කුණු ගොඩක් කියලා කියන්න පුළුවන් නේද? එහෙනම් කුණු ගොඩ ගැසුනු තැනක සිද්ධිය හිතාගන්න පුළුවන්නේ නේද?

“මනෝ මානසං” කියන කුණු බෑග් 2ක තියෙන කොට එයත් කුණුම වුවත් එතැන කුණු ගොඩක් කියන තත්වය නෑ. එහෙත් “හදයං, පණ්ඩරං, මනෝ මනායතනං, මනේන්ද්‍රියන්, විඤ්ඤාණං, විඤ්ඤාණං ස්කන්ධ” කියන කුණු ගොඩ එකතුවූ තැන් පටන්ගෙන තමයි දුර්ගන්ධය පැතිරෙන්න පටන්ගන්නේ. ඒ ටිකත් තවත් වඩාත් පැහැදිලි කරගනිමු!

පටිච්ච සමුප්පාදයේ තිබෙන “විඤ්ඤාණ” අවස්ථාවට පත්වීම තමයි මේ ඉතාමත් කෙටියෙන් ඉහතදී විග්‍රහ කලේ. ඒ දක්වා අවිද්‍යාව එකතුවී සිදුකල සකස් කිරීම් සමූහය තමයි මූලික වශයෙන් අවිද්‍යාව සහ සංඛාර ලෙස යෙදෙන කොටස...

ඉන්පසුව නැවත නැවත මේ සකස් වෙච්ච විඤ්ඤාණ ස්කන්ධය හේතු කරගෙන නැවත නැවත අවිද්‍යා සංඛාර යෙදෙමින් විවිධාකාර ජාති පහලවීම් බව සකස්වීම් සිද්ධ වෙනවා... පටිච්ච සමුප්පාදය එක චිත්තක්ෂණයක් තුලත් ආකාර 4කින් එකවර ක්‍රියාත්මක වෙනවා යැයි ධර්මයේ පෙන්වා දී තිබෙන්නේ මෙන්න මේ වගේ අතිසියුම් ක්‍රියාවලියක් සිද්ධ වෙන නිසාමයි.

ඡායාරූපයක් පටිගත කරගත්තට පසුව මොකද කරන්නේ? සිහිපත් කරලා බලන්න. ඉන්පසුව ඒ පටිගත කරගත්ත ඡායාරූපය බලමින් එය නැවත නැවත ඇසුරු කරමින් එහි තිබෙන තත්වය යථාර්ථයමයි කියලා අදහස් ගන්නවාද නැත්ද? ඒ ඡායාරූපයේ තිබෙන්නේ බාහිරයේ තිබුන රූපමයි කියලා අදහසක් එනවද නැත්ද? බාහිරයේ රූප තිබුන නිසාමයි ඡායාරූපයේ සටහන් වුනේ කියලා අදහසක් එනවද නැත්ද?

ඒ ඡායාරූපයේ ඇති රූප දකින්නාවූ දැක්කාවූ ඇසක් තියෙනවාමයි කියලා අදහසක් එනවද නැත්ද? ඒ ඒ රූප කෙරෙහි සුණ සංඥාවන් නිත්‍ය සංඥාවන් සැප සංඥාවන් සාරවත් සංඥාවන් ආදී විකෘති වෙච්ච වේදනාවන්, සංඥාවන් පහල වෙනවාද නැත්ද? විකෘති වෙච්ච වේදනා සංඥා ඔස්සේ කරන සියලූ සකස් කිරීම් වරදිනවා... ප්‍රථිඵලය වැරදියටම ලැබෙනවා. එහෙම නේද?

ඡායාරූපය හොඳ නම් "මම" නම් නියම ඡායාරූප ශිල්පියෙක් හෝ වේවා "මම" හොඳට ඡායාරූපය ගත්තා යනාදී "මම" මුල්කරගත්තාවූ ඡායාරූපකරණයේ යෙදුනාවූ පුද්ගලයෙක් පිළිබඳ සංඥාවක් ඇතිව අදහස් එනවද නැත්ද?

ඡායාරූපය නරක නම් "මම" නම් වැඩකට නැති ඡායාරූප ශිල්පියෙක් හෝ වේවා "මම" මේ ඡායාරූපය අරගෙන තියෙනවා හොඳ නෑ... කැතයි යනාදී "මම" මුල්කරගත්තාවූ ඡායාරූපකරණයේ යෙදුනාවූ පුද්ගලයෙක් පිළිබඳ සංඥාවක් ඇතිව අදහස් එනවද නැත්ද?

ඡායාරූපය හොඳ හෝ නරක හෙවත් මධ්‍යස්ථ නම් "මම" ඡායාරූපයක් ගත්තා යනාදී "මම" මුල්කරගත්තාවූ ඡායාරූපකරණයේ යෙදුනාවූ පුද්ගලයෙක් පිළිබඳ සංඥාවක් ඇතිව අදහස් එනවද නැත්ද?

ඡායා රූප කරගත්තාම රූපත් තියෙනවා රූප බලන්නෙකුත් සකස් වෙනවා. ඔන්න අන්ත දෙකක් ලැබෙනවා. මේ අන්ත දෙක ඇසුරු කරමින් ලෝකය සකස් වෙනවා. හීනයි, ග්‍රාම්‍යයයි ඒ කියන්නේ පහත්, පෘතග්ජනයි... ඒ කියන්නේ මහා හිස් හරයක් නැති වැඩපිළිවෙලක් කියලා බුදු හිමියන් පෙන්වා දුන්නා.



වැඩේ ඇත්ත නේද දැන්... ඡායා රූප කරගෙන ඒ බව සිහියක් නැතිව ඒ විහින් සකස් කරගත්ත රූප වලට වටිනාකම් දෙමින් "මම, මගේ" සකස් කරගනිමින් වැඩපිලිවෙලක යෙදෙනවා නම් එය හිස් හරයක් නැති වැඩපිළිවෙලක් තමයි නේද? අනුමාන වශයෙන් හෝ මේ විග්‍රහ කරන දේ වැටහුණා නම් බුදු හිමියන් විසින් "සියලූ පෘතග්ජනයින් උන්මත්තකයින්" කියලා කිව්වේ නිකමට නෙවේ කියලා ඔබට වැටහෙනවා ඇති.

එහෙනම් නැවත නුවණින් මේ වෙච්ච සිද්ධිය දැකගත යුතු වෙනවා. ඡායා තත්වයක් තුලින් විවිධාකාර රූපාකාරයන්ගෙන් මැනගෙන එතැනින් නතර නොවී ඒ ස්වභාවය ඉක්මවා ගොස් ඒ මැනගත්තාවූ රූපකාරයන් සමඟ හා වෙමින් එකතු වෙමින් බැඳෙමින් ඡායා කියන තත්වය අමතකව ගොස් පැවතුනේම පවතින්නේම රූපාකාරයන්මයි කියන අදහස එනවා කියන්නේම ඔන්න යථාර්ථය වැසී ගිහින්. විදලා නොදැක්ක ස්වභාවයම විඳින්න සිහියෙන් නොසිටි ස්වභාවයම ඔන්න අවිද්‍යාව ලෙසින් සකස් වෙනවා.

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංච ස්කන්ධ ස්වභාවය ඉක්මවා ගොස් ඒවායේ යථාර්ථය අමතකව අසිහියෙන් යුතුව නොදැනුවත්කම නිසාම ඒ පංච ස්කන්ධ ස්වභාවය යථාර්ථයක් ලෙස පිළිගැනීමම විශ්වාස කිරීමම වටිනාකමක් දීමම ඔන්න අපි කියනවා පංච උපාදානස්කන්ධය කියලා. පංච ස්කන්ධය කෙරෙහි වරදවා වටහාගැනීමට පංචස්කන්ධයේ යථාර්ථය නොදැනුවත්කමම හේතු වුණා. මුල පටන්ගැන්මේ පටන්ම විකෘතියක්ම සකස් වුණා.

මෙතැනදී මස් ලේ සහිත ඇස හෙවත් කැමරාව නෙවේ ගැටලූව වුනේ. එහිදී විපාක සිත වශයෙන් කටයුතු කල ඡායාරූප ශිල්පියාත් නොවේ ගැටලූව වුණේ. කැමරාකරණය ගැන නොදැන ඡායාරූප ශිල්පියාගේ ස්වභාවය නොදැන ශිල්ප දැක්වීම ගැන වැටහීමක් නැතිව ඉන්නා තාක් මොකද වෙන්නේ?

මේ අවස්ථාව ඉක්මවා ගොස් කටයුතු සිද්ධ වීම තුල හාද වෙන්නට සුදුසු, හාදවූ රූප නිර්මාණය වෙනවා. ඒ හාද වෙච්ච රූප දකින ඇස නිර්මාණය වුනේත් ඒ මොහොතේමයි. රූපයට හාදවුනාමයි කාලකාමී රූපයක් දැක්කේ. ඒ කලාකාමී රූප දකින ඇස පහලවුනේත් ඒ අවස්ථාවේදීමයි. ඒ

දකින මොහොතේදීමයි කලාකාමී ඡායාරූප සකස් වෙන්නේ. ඒ කියන්නේ චක්ඛු විඤ්ඤාණය පහල වෙන්නේත් ඒ මොහොතේදීමයි. ඉතා සුළු ක්ෂණයක් ඇතුලත අවස්ථා 3ක් එකතු වෙනවා.

## ...කලාකාමී ඇස - 13

නැවතත් කියනවා නම් අවිද්‍යාව තිබෙන තාක් සකස් වෙන අලුත් ඇසක් තියෙනවා. මොහොතක් මොහොතක් පාසා නව ඇසක් නිර්මාණය වෙනවා. මොකක්ද ඒ ඇස. උපමාවෙන්ම ගන්නවා නම් අපි කියන්නේ ඡායාරූප ශිල්පියාගේ සාමාන්‍ය ඇස ඉක්මවා ගොස් නිර්මාණය වූ කාලාකාමී ඇස කියන අවස්ථාවයි. අන්න ඒ කලාකාමී ඇස තුලින් දකින්නේම කලාත්මක රූපයි. කලාකාමී ස්වභාවයෙන් ක්‍රියාත්මක වුණාම ලැබෙන ප්‍රතිඵලයත් එයට අනුරූපයි. කලාත්මක ඇස කියන අවස්ථාව උදාවීමත් සමගමයි කලාත්මක රූපය කියන අවස්ථාවත් උදා වුනේ. ඒ දෙකේ එකතුව තුල සිදුවූ කටයුත්තේ ප්‍රථිඵලය තමයි සටහන් වෙලා තිබූ ඡායාරූපය ඒ තත්වය ඉක්මවා ගොස් ඇත්තක් බවට පත්වුනේ.

ඡායාරූප ශිල්පියෙක් ඡායාරූපයක් ගැනීම පිණිස අවශ්‍ය කරන බොත්තමක් ඔබන වෙලාවක් තියෙනවානේ අන්න ඒ අති වේගවත් ක්ෂණයකදී සිදුවන මොහොත වගේ තමයි ඇසත් රූපයත් හා කර ලබාදෙන “චක්ඛු විඤ්ඤාණය” කියලා කියන්න පුළුවන් ප්‍රතිඵලය නිර්මාණය කරන්නේ. මෙන්න මේ අවස්ථාව පටිගත වූ ඡායාරූපය ඡායාරූප ස්වභාවය ඉක්මවා ගොස් එය සමග භාදකමක් ඇති කරගන්නා අති සියුම් අවස්ථාව සමග බැඳී තියෙනවා.

දැන් හොඳින් සිහිපත් කරගන්න! නැණවත්ව විමසන්න!

කැමරාවට නෙවේ පෙනුනේ. ඡායාරූප ශිල්පියා කැමරාව සහිතව සිටින විට අවිද්‍යාව ක්‍රියාත්මක වුනේ නැතිනම් ඡායාරූපගත කිරීමට සුදුසු තරම් රාමුවක් ඔහුට / ඇයට පහල වෙන්නේම නැතිබව පැහැදිලිද? ඒ නිසාම නැවත කැමරාවක අවශ්‍යතාවයක්වත් ඡායාරූප ශිල්පියෙක් වීමේ අවශ්‍යතාවයක්වත් ගොඩනැගෙන්නේ නැති වෙනවා. මෙම උපමාව තුලින් අරිහත්වයෙන් පසුව නැවත උපතක් සිදුවන්නේ නැති තත්වයට පත්වීම යන්න නැණවත්ව පහදාගැනීමට බුද්ධිමත් ඔබට හැකිවේවි.

නැවත බොහෝම තැන්පත් මනසකින් සිහියෙන් යුතුව මේ කියන දේ නුවණින් දැකගන්න උත්සාහ කරන්න! විශේෂයෙන්ම අවිද්‍යාවෙන් යුතුවන තාක් පහල වන ඇස වටහාගත යුතුයි. ඒ ආකාරයෙන්ම තමයි කණ, නාසය, දිව, කය සහ මන කියන තත්වයත් පහල වෙන්නේ. අන්න ඒ අවිද්‍යාව තුලින් පහල වන ඇස, කණ, නාසය, දිව, කය සහ මන කියන තත්වය තමයි “සළායතන” වශයෙන් පෙන්වා නිරෝධ කල හැකි ඉන්ද්‍රීයයන් වශයෙන් ධර්මය තුල දක්වා තිබෙන්නේ. මේ කියන තත්වය අප එකින් එක බොහෝම කෙටියෙන් නමුත් පැහැදිලිව විස්තර කරගන්නට යෙදුනා.

නැවත උපමාව සළකමු. දැන් යම් අවස්ථාවක ඡායාරූප ශිල්පියා විසින් ඡායා රූපයක් කර ගෙන ඒ රූපය සටහන් කරගන්නවා. ඒ කියන්නේ ඡායාරූපගත කරගන්නවා. ඒ වෙලාවේ ඒ ආකාරයේ රාමුවක් හසුකරගැනීමට ඡායාරූප ශිල්පියාව යොමුවුනේ ඔහුට / ඇයට මූලික තත්වය ඉක්මවා ගොස් පහල වෙච්ච කලාකාමී ඇස කියන තත්වයක් නිසයි. යම් රාමුවක් හසුකරගැනීමට සුදුසුයි කියලා තීරණයක් සහිතව ක්‍රියාත්මක වූ නිසාමයි.



වචන වල පද වල එල්ලෙන්න එපා. අදහස වටහාගන්නටම උත්සාහ කරන්න. මෙතැනදී "කලාකාමී ඇස""කලාකාමී රූපය" කියලා භාවිතා කලේ අපේ සාමාන්‍ය භාවිතයේදී අප ඡායාරූපකරණයේ යෙදෙන්නන්ට කලා කටයුතු වල යෙදෙන අයට භාවිතා කරන සාමාන්‍ය ව්‍යවහාරයක් නිසාමයි.

ඒ ව්‍යවහාරය යෙදෙන්නේ අප ඒ අයගේ ප්‍රථිඵලය කලාත්මක වශයෙන් නිගමනය කල නිසයි. ඒ කලාත්මක වශයෙන් නිගමනයට පත්වූ ප්‍රථිපලය නිර්මාණය වීම පිණිස අවස්ථාව සකස් වුනේ ඒ ආකාරයේ ඇසක් සහ රූපයක්, කණක් සහ ශබ්දයක්, නාසයක් සහ ගන්ධයක්, දිවක් සහ රසක්, කයක් සහ ස්පර්ශයක්, මනක් සහ ධර්මයක් කියන්නාවූ අවස්ථාවන් සකස් වූ නිසාමයි. අන්න ඒ ඔස්සේ තමයි අප ඉහත තත්වය අවබෝධ කරගත යුත්තේ. ඉතින් අවිද්‍යාව ඇතිතාක් මොහොතක් පාසා නිර්මාණය වෙමින් ක්‍රියාත්මක වන නිසයි "කලාකාමී ඇස" ආදී ලෙසින් දැක්වූයේ.

ඉතින් උපමාව පිණිස උදාහරණය පිණිස පංච ඉන්ද්‍රියයන්ට ගෝචර තත්වයේ යමක් උපුටාගෙන ඒ තුලින් විග්‍රහ කරන විටදී තම තමන්ට ගෝචර වූ ඒ පංච ඉන්ද්‍රිය තත්වයන්ගේම පිහිටා නොසිට ඒ තුලින් විග්‍රහ කරදෙන්නට උත්සාහ කරන්නාවූ අදහසම හඳුනාගැනීමට නුවණ මෙහෙයවිය යුතුයි. නැතිවුනොත් අමාරුවේ වැටෙන්නේ තමන්මයි. කියවීමටත් වඩා මෙය සත්ධර්ම ශ්‍රවණයේදී විශේෂයෙන්ම සිහිතබාගත යුතුම කොටසකි. ඉතින් කියවීමේදී සරලවම සත්ධර්මය ලෙසින් ඇසුරු කරන්නේ යමක්ද ඒ තුල මේ කියන අදහස උකහාගන්නට දක්ෂ වන තරමින් යම් තරමේ අවබෝධයකටත් පත්වීමට හැකියි.

උපමාවට නැවතත් යොමුවෙමු. කලාකාමී රූපයක් දකින්නේ කලාකාමී ඇසක්. මේ අවස්ථාව ධර්මයේ හඳුන්වන "චක්ඛායතන" කියන තත්වයට ගලපන්නට හැකියි. කලාකාමී ඇස පහල වෙන්නේම කලාකාමී රූපය කියන අවස්ථාව පහල වෙනවාත් සමඟමයි. මේ අවස්ථාව ධර්මයේ හඳුන්වන "රූපායතනය" කියන තත්වයට ගලපන්නට හැකියි. මෙන්න මේ චක්ඛායතන තත්වයේදී පහල වෙච්ච ඇස සහ රූපායතන තත්වයේදී සකස් වෙච්ච රූපය කියන දෙකහි සිදුවූ එකතුව නිසාම ඒ අවස්ථාව ඡායාරූප ගතකිරීමක් සිදුවුනා. ඉතාමත් වේගයෙන් ක්ෂණයකදී ක්ෂණිකවම සිදුවූ ඒ අවස්ථාව ධර්මයේ හඳුන්වන "චක්ඛු විඤ්ඤාණය" නිර්මාණය වීමට ගලපන්නට හැකියි.

## ...චක්ඛු විඤ්ඤාණ - 14

ඔන්න ධර්මයේ "චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං" කියන අවස්ථාව සකස් වුනේ මේ ආකාරයටයි. අපි මේ විග්‍රහ තුලදී විස්තර කරගන්නට යෙදුනාවූ කිලිටි වන සිතේ ස්වභාවයත් සමඟින්ම මේ සිද්ධිය බොහෝම අපූරුවට අභිධර්ම පිඨකයේ විභංග ප්‍රකරණයේ මෙන්න මේ ආකාරයෙන් සඳහන් වෙනවා.

අභිධර්ම පිඨකය <විභංග ප්‍රකරණය - පඨම භාග (1) < ධාතු විභංගය < 2. අභිධම්මභාජනීයං < පිටු අංකය (158 – 162) < පී.ඩී.ෆ්. පිටු අංකය (181 – 186)

**තත්ථ කතමා චක්ඛුවිඤ්ඤාණධාතු : චක්ඛුඤ්ච පටිච්ච රූපෙ ච උප්පජ්ජති චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා චක්ඛුවිඤ්ඤාණධාතු. අයං වුච්චති චක්ඛුවිඤ්ඤාණධාතු.**

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

**එහි චක්ඛුවිඤ්ඤාණධාතු කවර යත් : ඇස ද රූප ද නිසා චිත්තයෙක් මනසෙක් මානස යෙක් සිතෙක් (පණ්ඩර වූ) භවාංග සිතෙක්, මනසෙක් මන සංඛ්‍යාත වූ මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥනයෙක් විඥනස්කන්ධයෙක් තදනුරූප වූ චක්ෂුර්විඥනධාතුයෙක් උපදී ද, මේ චක්ඛුවිඤ්ඤාණධාතු යි කියනු ලැබේ.**

දී ඇති සිංහල අර්ථය නම් ඉහත පෙන්වා දෙන ගැඹුරු ධර්ම කොටස තෝරාගැනීමට කෙනෙකුට ප්‍රමාණවත් වෙන්නේ නැතැයි හැඟේ. ඒ නිසා මෙහි අර්ථය නිසි ලෙසින් නුවණින් දැකගැනීම වැදගත් වෙනවා.

අවිද්‍යාව ඇතිතාක් නිර්මාණය වන ඇසක් සහ රූපයක් හා වීම තුල (එකතුවීම තුල) උපදින්නේ,

ලැබුණාවූ අරමුණ විවිධාකාර ස්වභාවයෙන් හඳුනාගන්නා ලක්ෂණය සහ ප්‍රභාශ්වර බව කියන්නාවූ “චිත්ත” තත්වය ඉක්මවා ඒ ලැබූ අරමුණු මේ මේ යැයි මැනගැනීමත් (මනෝ), මැනගත්ත දේ හඳුනාගැනීමත් (මානසං), හඳුනාගත්ත දේ සමඟ එකතුවීමත් (හදයං), එකතුවෙච්ච දේ සමඟ බැඳීමත් (පණ්ඩරං), බැඳුන දේ ඔස්සේ කටයුතු කිරීමත් (මනෝ මනායතනං), බැඳුන තත්වය තවදුරටත් ප්‍රමුඛ කරගෙන එයටම මුල්තැනදෙමින් සකස් කිරීමත් (මනින්ද්‍රියන්), ඒ සකස් වුණාවූ මායාවට යථාර්ථයක් ලෙසින් රැවටීමත් (විඤ්ඤාණ), රැවටුණු මායාව යථාර්ථයක් ලෙසින්ම ස්ථිර කරගැනීමත් (විඤ්ඤාණ ස්කන්ධය) කියන්නාවූ ක්ෂණයෙහිම එතැනහිම ඒ හටගන්නා ස්වභාවයම චක්ඛු විඤ්ඤාණ ධාතුව හෙවත් ඇස හේතුකරගෙන බිහිවූ මායා දර්ශනය ලෙසින් වේ යැයි අදහස වටහාගැනීම තම තමන්ගේ නිවන් මාර්ගය පහසු කරගැනීමට ප්‍රඥාවන්තව ඇසුරු කර ප්‍රතිඵල ලැබීමට උපකාර වේවි යැයි සිතමි.

එසේ නැතිව පොතේ තිබෙන අර්ථය වෙනස් කලා යැයි දොස් කියමින් සිටින්නටද ඔබට පුළුවන්. ඉතින් මෙච්චර විකාර රූපී උමතු වැඩපිළිවෙලක් තමන් තුලම සිද්ධ වෙමින් තියෙන විට ඒ ගැන හාන්කවින්සියක්වත් නොදැන ඒ ගැන විමසා බලන්නටවත් උනන්දු වන්නේ නැතිව පහසුවෙන් දැනගත හැකි තෝරාගත හැකි ධර්මයක්ම නැවතත් ගැඹුරු ධර්මයක් සේ දැනගෙන නැවතී පෙර නෙඇසූ විරූ දහම් දැකගන්නට උත්සාහ නොකරන්නේ නම් පාඩුව වෙන්නේ කාටදැයි සිහිපත් කරගෙන ප්‍රඥාවන්තව කටයුතු කරගැනීම නැවතත් බුද්ධිමත් ඔබටම භාරකරමි.

ඉතින් පෙර විග්‍රහයේ පරිදි චක්ඛු විඤ්ඤාණයට වගේම කණ ශබ්ද ඔස්සේ සකස් වෙන සෝත විඤ්ඤාණයත්, නාසය ගන්ධ ඔස්සේ සකස් වෙන ඝාණ විඤ්ඤාණයත්, දිව රස ඔස්සේ සකස් වෙන ජිව්හා විඤ්ඤාණයත්, කය මන ඔස්සේ සකස් වෙන පොට්ඨබ්බ විඤ්ඤාණයත් ආදියත් ඉහත ආකාරයට විග්‍රහ කොට දැනගැනීම වැදගත්.

දැන් හොඳින් විග්‍රහ කරගන්න උත්සාහ කරන්න... මේ සිද්ධ වන සිද්ධියේ අප විසින් මැජික් එකක් ලෙසින් දැක පුදුම වෙමින් පැවැත්ම සකස්වෙන අවස්ථාව මෙයටත් වඩා සියුම් අවස්ථාවක්. අවබෝධකරගන්නා තරමින් කල මෝඩකම් වැටහේවි. කොතරම් පිස්සුවෙන්ද කටයුතු කලේ යැයි වැටහේවි. බුදු හිමියන් මේ වැඩපිළිවෙලට උමතු වැඩපිළිවෙලක් කිව්වේ ඇයි කියලා වැටහේවි. පිස්සුව හොඳකරගත්තේ නැත්නම් අනාථයි කියලා වැටහේවි!

ඡායාරූප ශිල්පියාගේ ඔක්කෝම ශිල්ප එළි දැක්වෙන අවස්ථාවක් තියෙනවා. ඇයි එහෙම කිව්වේ? උපමාවට ගැලපුවොත් ඡායාරූප ශිල්පියා තමන්ගේ ශිල්ප පෙන්වීමේ සීමාව ඉක්මවා ගිහින් නේද ඡායා රූප කරගෙන ඒ රැවටුණු තත්වය පටිගත කරගත්තේ? මේ රැවටීමේ ප්‍රථිඵලය දැකගන්නට හැකිවෙන අවස්ථාව තමයි "ඡායාරූපය" කියන්නාවූ සටහන හෙවත් ඵලය. ඒ දැක්වූ ශිල්ප වල දක්ෂකම මේ "ඡායාරූපය" කියන ප්‍රතිඵලය තුල ගැබ්වෙනවා. ඉතින් එය ඔක්කෝම ශිල්ප එළි දැක්වෙන අවස්ථාව නෙවේද? ඔන්න ඒ අවස්ථාව ධර්මයට ගලපනවා නම් "මනෝ විඤ්ඤාණය" කියන අවස්ථාව ලෙසින් අදහස වටහාගෙන තෝරාගත යුතුයි.

අභිධර්ම පිඨකය <විභංග ප්‍රකරණය - පඨම භාග (1) < ධාතු විභංගය < 2. අභිධම්මභාජනීයං < පිටු අංකය (158 – 162) < පී.ඩී.ඒ. පිටු අංකය (181 – 186)

**තත්ථ කතමා මනොවිඤ්ඤාණධාතු : චක්ඛුවිඤ්ඤාණධාතුයා උප්පජ්ජිත්වා නිරුද්ධසමනන්තරා උප්පජ්ජති මනොධාතු, මනොධාතුයා'පි උප්පජ්ජිත්වා නිරුද්ධසමනන්තරා උප්පජ්ජති චිත්තං මනො මානසං, හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා මනොවිඤ්ඤාණධාතු, සොතවිඤ්ඤාණධාතුයා–පෙ–ඝානවිඤ්ඤාණධාතුයා–පෙ–ජිව්හාවිඤ්ඤාණධාතුයා–පෙ–කායවිඤ්ඤාණධාතුයා උප්පජ්ජිත්වා නිරුද්ධසමනන්තරා උප්පජ්ජති මනොධාතු, මනොධාතුයා'පි උප්පජ්ජිත්වා නිරුද්ධසමනන්තරා උප්පජ්ජති චිත්තං මනො මානසං–පෙ–තජ්ජා මනො–විඤ්ඤාණධාතු' මනඤ්ච පටිච්ච ධම්මෙ ච උප්පජ්ජති චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා මනොවිඤ්ඤාණධාතු, අයං වුච්චති මනො–විඤ්ඤාණධාතු.**

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

**එහි මනොවිඥ්ඤාණධාතු කවර යත් : චක්ෂුර්විඥානධාතුහු ඉපිද නිරුද්ධ වූවහුට සමනන්තර ව මනොධාතුව උපදී. මනොධාතුහු ද ඉපිද නිරුද්ධ වූවහුට සමනන්තර ව (යම්) චිත්තයෙක් මනයෙක් මානසයෙක් සිතෙක් භවාංග සිතෙක් මනයෙක් මනායතන යෙක් මනින්ද්‍රියයෙක් විඥානයෙක් විඥානස්කන්ධයෙක් තදනුරූප වූ මනොවිඥානධාතු වෙක් උපදී ද, ශ්‍රොත්‍රවිඥානධාතුහු . . . ඝ්‍රාණවිඥානධාතුහු . . . ජිහ්වාවිඥානධාතුහු . . . කායවිඥානධාතුහු . . . ඉපිද නිරුද්ධ වූවහුට සමනන්තර ව මනොධාතුව උපදී, මනො–ධාතුහු ද ඉපිද නිරුද්ධ වූවහුට සමනන්තර ව (යම්) චිත්තයෙක් මනයෙක් මානසයෙක් . . . තදනුරූප වූ මනො විඥානධාතුවෙක් (උපදී ද) මනස ද ධර්මයන් ද නිසා (යම්) චිත්තයෙක් මනයෙක් මානසයෙක් සිතෙක් භවාංග සිතෙක් මනයෙක් මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥානයෙක් විඥානස්කන්ධයෙක් තදනුරූප වූ මනොවිඥානධාතුයෙක් උපදී ද, මේ මනොවිඥානධාතු යි කියනු ලැබෙ.**

චක්ඛු විඤ්ඤාණ ධාතුව ඉපිද නිරුද්ධ වන විටම එම ශක්තියෙන් සකස් වෙන පරිසරය තුල මන ධාතුව උදාවෙනවා. ඒ කියන්නේ අවිද්‍යාව තුලින් සකස් වෙච්ච චක්ඛු විඤ්ඤාණයමයි ඒ ඔස්සේ ගොඩනැගෙන මැනගැනීම් හෙවත් "මන / සිත" කියන ස්වභාවයට පරිසරය සකස් කර දුන්නේ.

එය ඉතාමත් වේගයෙන් ක්ෂණයක් තුලදී සිදුවන්නක්. ඒ "මන / සිත" උදාවුනේම වෙන අරුමයකින් නොවේ පෙර අප විසින් එකින් එක විග්‍රහ කරගන්නට යෙදුනාවූ "චිත්ත, මනෝ, මානසං, හදයං,

පණ්ඩරං, මනෝ මනායතනං, මනේන්ද්‍රියන්, විඤ්ඤාණං, විඤ්ඤාණං ස්කන්ධ" කියන කිලිටි වීමේ තත්වයන් තුලමයි.

මේ නිර්මාණය වූ "මන / සිත" කියන තත්වයට "ධම්ම" කියන තත්වය එකතුවූ තැන් පටන්ගෙන නැවතත් පෙර සේම 9 අවස්ථාවකින් කිලිටි වීම තුලම "මනෝ විඤ්ඤාණය" උපද්දන අවස්ථාව සකස් වෙනවා.

"මන ධාතු" සහ "ධම්ම ධාතු" කියන තත්වය වෙන වෙනමත් විභංග ප්‍රකරණය තුල බෙදා පෙන්වා දී තිබෙනවා.

අභිධර්ම පිඨකය <විභංග ප්‍රකරණය - පඨම භාග (1) < ධාතු විභංගය < 2. අභිධම්මභාජනීයං < පිටු අංකය (158 – 162) < පී.ඩී.ෆ්. පිටු අංකය (181 – 186)

**තත්ථ කතමා මනොධාතු : චක්ඛුවිඤ්ඤාණධාතුයා උප්පජ්ජිත්වා නිරුද්ධසමනන්තරා උප්පජ්ජති චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා මනොධාතු, සොතවිඤ්ඤාණධාතුයා–පෙ–ඝානවිඤ්ඤාණධාතුයා–පෙ–ජිව්හා-විඤ්ඤාණධාතුයා –පෙ– කායවිඤ්ඤාණධාතුයා උප්පජ්ජිත්වා නිරුද්ධ-සමනන්තරා උප්පජ්ජති චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා මනොධාතු, සබ්බධම්මෙසු වා පන පඨමසමන්නාහාරො උප්පජ්ජති චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා මනොධාතු, අයං වුච්චති මනොධාතු.**

සහ මනට ධම්ම ලෙසින් ලැබෙන්නාවූ "ධම්ම ධාතු" නම්

**තත්ථ කතමා ධම්මධාතු : වෙදනාක්ඛන්ධො, සඤ්ඤාක්ඛන්ධො, සඞ්ඛාරක්ඛන්ධො, යං ච රූපං අනිදස්සනං අප්පටිඝං ධම්මායතනපරියාපන්නං අසඞ්ඛතා ච ධාතු.**

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

**එහි මනොධාතු කවර යත් : චක්ෂුර්විඥනධාතුහු ඉපිද නිරුද්ධ වූවහුට සමනන්තර ව චිත්තයෙක් මනසෙක් මානසයෙක් සිතෙක් භවාංග සිතෙක් මනසෙක් මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥනයෙක් විඥනස්කන්ධයෙක් තදනුරූප මනොවිඥනධාතුයෙක් උපදී ද, ශ්‍රොත්‍රවිඥනධාතුහු . . . ඝ්‍රාණවිඥන්ධාතුහු . . . ජිහ්වාවිඥනධාතුහු . . . කායවිඥනධාතුහු ඉපිද නිරුද්ධ වූවහුට සමනන්තර ව චිත්තයෙක් මනසෙක් මානසයෙක් සිතෙක් භවාංග සිතෙක් මනසෙක් මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥනයෙක් විඥනස්කන්ධයෙක් තදනුරූප වූ මනොධාතුයෙක් (උපදී ද) යලි සියලු දහමුන් හෝ උපදනා කල්හි ප්‍රථම සමන්නාහාරය වූ චිත්තයෙක් මනසෙක් මානසයෙක් සිතෙක් භවාංග සිතෙක්, මනසෙක් මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥනයෙක් විඥනස්කන්ධයෙක් තදනුරූප වූ මනොධාතු යෙක් උපදී ද, මේ මනොධාතු යි කියනු ලැබෙ.**

**එහි ධම්මධාතු කවර යත් : වෙදනාස්කන්ධ ය, සංඥස්කන්ධ ය, සංස්කාර ස්කන්ධ ය, අනිදර්ශන වූ අප්‍රතිඝ වූ ධර්මායතනපර්‍යාපන්න වූ යම් රූපයෙකුත් වේ ද, අසංඛතධාතුව ද යි.**

චක්ඛු, සෝත, ඝාණ, ජිව්හා, පොට්ඨබ්බ කියන්නාවූ විඤ්ඤාණ ධාතු 6 ඉපිද නිරුද්ධ වන විටම එම ශක්තියෙන් සකස් වෙන පරිසරය තුල එහි මුල් අවස්ථාව තුල තමයි මේ කියන මන ධාතුව උදාවෙන්නේ. ඒ ලබාදුන්නාවූ මානසික පරිසර තත්වයේ මුල්භාගය තමයි මේ කියන කොටස නිර්මාණය වන්නේ.

ඡායාරූප ශිල්පියා ඡායාරූපගත කරගන්නට බොත්තම ඔබන විටම ඒ අවස්ථාව කැමරාවේ මතක ගබඩාවේ සටහන් වීම හෙවත් පටිගත වීම සිද්ධ වෙනවා. එය සිදුවන්නේ ඉතා සුළු ක්ෂණයකදී, ඉතා වේගයෙන්මයි. ඉතින් මේ කැමරාවේ බොත්තම එබීම සහ මතක ගබඩාවේ සටහන තැන්පත් වීම යන අවස්ථා 2ක් සියුම් ලෙස ක්‍රියාත්මක වන බව නුවණින් අවබෝධ කරගත යුතුයි. අන්න ඒ වේගවත් අවස්ථාව නුවණින්ම දැකීම තුලින්ම තමයි මේ “මන / සිත” කියන අවස්ථාව නිර්මාණය වන ආකාරය පහදා ගත යුතු වෙන්නේ.

සාමාන්‍ය කැමරාවක මතක ගබඩාව තියෙන්නේ කැමරාව තුලයි. එහෙත් අපි මේ උපමාව තුල කැමරාව සංසන්දනය කලේ මස් ලේ සහිත ඇසටයි. ඉතින් මේ අවස්ථාවේදී මතක ගබඩාවේ ඡායාරූපය සටහන් වෙනවා යැයි කිවූ විට එය ගබඩා වෙන්නේ මස් ලේ සහිත ඇස තුල නොවන බව බුද්ධිමත්ව වටහා ගත යුතුයි. පටලවාගන්නේ නැතිව මේ වෙලාවේදී මේ උපමාව අපට සංසන්දනය කරන විටදී ඒ කැමරාවක් තුල සාමාන්‍යයෙන් තිබෙන මතක ගබඩාව වශයෙන් තෝරාගත් කොටස පවතින්නේ “මන / සිත” කියන අවස්ථාව තුලමයි ලෙසින් වටහා ගත යුතුයි.

මේ කියන්නාවූ “මන / සිත” උදාවුනේම වෙන අරුමයකින් නොවේ පෙර අප විසින් එකින් එක විග්‍රහ කරගන්නට යෙදුනාවූ “චිත්ත, මනෝ, මානසං, හදයං, පණ්ඩරං, මනෝ මනායතනං, මනේන්ද්‍රියන්, විඤ්ඤාණං, විඤ්ඤාණං ස්කන්ධ” කියන කිලිටිවීමේ තත්වයන් තුලමයි. ඇස නිර්මාණය වනවාත් සමඟින්ම ඒ නිර්මාණය වන ඇසට හසුවන රූප නිර්මාණය වුණා සේම මේ කියන්නාවූ “මන” නිර්මාණය වනවාත් සමඟින්ම ඒ මනට ගෝචර වන “ධම්ම” නිර්මාණ විය යුතුමයි. එහෙම නේද?

උපමාව තුලින් දකින්න බොත්තම ඔබන විටදීම පටිගත වූ සටහන පෙර විස්තර කරගත්තාවූ පරිදිම අධික වේගයකින් ක්ෂණයකින් ඉදිරිපත් වෙනවා. ඡායාරූපය කොතරම් වේගයෙන් අපට දැකගන්නට හැකිවෙනවාද කියලා මෙනෙහි කරන්නකෝ. ඡායාරූපය ගැනීමයි එහි ප්‍රථිඵලය ලැබීමයි අතර වෙනසක් හසුකරගන්නට පුළුවන් තරමේ වේගයක්ද එහි පවතින්නේ? නෑ නේද? අන්න ඒ අනුව හිතාගන්නකෝ එයිටත් වඩා වේගයකින් මේ කියන සිද්ධිය සිද්ධ වෙනවා කියලා. ඔබ මේ සටහන කියවන වේගයෙන් ඔබට අකුරක් අකුරක් පාසා මේ සිද්ධිය සිද්ධ වෙනවා... අකුරකුත් බෙදූ විට අකුරක් ලෙසින් පෙන්වා සකස් කර දෙන රූපාකාරයේ අංශුවක් පාසා මේ කියන සිද්ධිය සිද්ධ වෙනවා.

කොතරම් වේගයක්ද කියලා හිතාගන්න පුළුවන්ද? ඔබ සුපර්මෑන්, බැට්මෑන් වගේ වීරක්‍රියාවන් වල යෙදෙන මනංකල්පිත වීරයන් ගැන චිත්‍රපටි දැක බලා සතුටු වෙනවා... පුදුම වෙනවා... ඔබගේ සිතේ අරුමය දැකගන්නට ඔබට හැකිවුණාද? ඒ ගැන වගක්වත් තිබුණද? ඒ ගැන පෙන්වා දුන්නාවූ අප මහා බුදුරජාණන්වහන්සේ මහා වීරයාණන්වහන්සේ කෙනෙක් වෙන්නේ ඇයිදැයි දැන් අනුමාන වශයෙන්වත් වැටහෙනවාද?

ඉතින් නැවතත් විග්‍රහයට යොමුවෙනවා නම් ඒ පටිගතවෙච්ච සටහන තිබෙන බව දැනෙනවා, තිබෙන ලෙසින්ම සංඥාවක් ලැබෙනවා, ඒ ගත්තාවූ සංඥාව තුලින් නැවතත් සකස් වෙන කොටසක් තිබෙනවා, යථා ස්වභාවය නොදැකීම තුලම සකස් වන්නාවූ යම් රූපාකාරයක් වේද අන්න එයට තමයි මනට ධම්ම කියන අවස්ථාවේදී යෙදෙන “ධම්ම” කියලා කියන්නේ.

ධම්ම ධාතුව කවරේදැයි විග්‍රහයේදී එයට අදාල "යං ච රූපං අනිදස්සනං අප්පටිඝං ධම්මායතනපරියාපන්නං" කියන කොටසක් සහ "අසංඛතා ච ධාතුව" කියන්නාවූ කොටස් පිළිබඳව ඔබට ගැටලුවක් ඇතිනම් බොහෝම සරලවම එහි කියන්නේ මෙන්න මෙයයි.

"යං ච රූපං අනිදස්සනං අප්පටිඝං ධම්මායතනපරියාපන්නං" – අප සාමාන්‍යයෙන් දන්නා දැකගන්නට හැකි රූප තියෙනවානේ. දර්ශනය වන රූප කියලා ඒවාට කියන්න පුළුවන්. ඒ නිසානේ අපට නොයෙක් නොයෙක් ආකාරයේ රූප පේනවා කියලා විශ්වාස කරන්නේ නේද? මේ ආකාරයේ රූප වලට අපි කියනවා "සනිදස්සනං" ඒ කියන්නේ පේන්න තියෙන රූප...

"අනිදස්සනං" කිව්වාම එහි විරුද්ධ අර්ථයයි. දර්ශනයට අහුවන්නේ නැහැ... "අප්පටිඝං" කියන්නේ ස්පර්ශ කරන්නත් බැහැ... ධම්මායතනයට අයිති රූප... ඒ කියන්නේ සාමාන්‍යයෙන් අපට පෙනවා කියලා ගන්නා අදහසින් දැකගන්නට නොහැකි මනසට ධර්මයක් ලෙසින් සිතිවිල්ලක් ලෙසින් ගැටෙන්නාවූ රූප වලට තමයි එහෙම කියන්නේ. ධම්මායතනයටම ගෝචර වන රූපකාරයන් ගැන තමයි මේ කියන්නේ.

එතකොට "මනට – ධම්ම" කියන විටදී චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ, ඝාණ විඤ්ඤාණ, ජිව්හා විඤ්ඤාණ, පොට්ඨබ්බ විඤ්ඤාණ කියන්නාවූ විඤ්ඤාණ 6 ඒ ඒ ක්ෂණයේදී ක්‍රියාත්මක වී "මන" කියන තත්වය නිර්මාණය කරනවා. ඒ නිර්මාණකරනයත් සමගින්ම වීමක් දැනවීමක් ඇතිවෙනවා, යමක් දැනුනා යැයි සංඥාවක් ඇතිවෙනවා ඒ ඔස්සේ සකස්කිරීමක් සංස්කරණය කිරීමක් සිද්ධ වෙනවා... මේ තත්වය සාමාන්‍යයෙන් රූපාකාර වගේ දැකගන්නට නොහැකි තත්වයක්. ස්පර්ශ කරන්නට නොහැකි තත්වයක්. දැනීමක් ආකාරයෙන් ධම්මායතනයටම අත්දැකගන්නට හැකි සියුම් තත්වයක්. මේ ඇතිවුනේ වේදනා, සංඥා, සංඛාර, කියන ස්කන්ධ තත්වයන් සහ ඒ ඔස්සේ සකස් වූ රූපාකාරයන්. තවත් ආකාරයකට කියනවා නම් මෙය "විඤ්ඤාණ ස්කන්ධය"ට අයත් එක්තරා අවස්ථාවක් ලෙසින්ද වටහාගන්නට හැකියි.

උපමාවට ගලපා තෝරාගනිමු. ඡායා සටහන කැමරාවේ මතක ගබඩාවේ සටහන් වෙනවාත් සමඟම ඡායාරූපය කියන අවස්ථාව දැකගන්නට හැකිවෙනවා. ඡායාරූපය කියන අවස්ථාව / ඡායාරූපය කියන සටහන ඒ මතක ගබඩාව තුල ගබඩා වෙන අවස්ථාවේදීම ඒ ඡායාරූපය තුල නොයෙක් ආකාරයේ රූපාකාරයන් ඔස්සේ ලබන්නට හැකි දෑත් නිර්මාණය වීමත් සිද්ධ වෙනවා.

කැමරාව මතක ගබඩාවේ ඡායා සටහන සටහන් වන විට එහි සිද්ධ වෙන සිද්ධිය ඔස්සේ මේ "ධම්ම" ලෙසින් ක්‍රියාත්මක වන අවස්ථාව පිළිබඳව තවත් පහසුවෙන් අවබෝධ කරගන්නට හිතන්න...

ඉහත විස්තරයේදී ආලෝකයේ මූලිකම අංශු ස්වභාවයට විද්‍යාවේ කියන්නේ "ෆොටෝන් / (Photon)" එකක්ය කියලා පුංචි විස්තරයක් කලා මතකද? මෙන්න මේ "ෆොටෝන් / (Photon)" කියන ඉතාමත් කුඩා අංශු විශේෂය හසුකරගන්නා විට සිදුවන සකස් වීම තමයි අපට අවසාන ප්‍රතිඵලය ලෙසින් නානාකාර රූප ස්වභාවයන් ලෙසින් දැකගන්නට හැකිවෙන්නේ.

ඉතින් මේ "ෆොටෝන් / (Photon)" අංශුවක් හසුකරනගන්නා විට ඒ අංශුව තිබෙන බව දැනගැනීම සිද්ධ වෙනවා. ඒ අනුව යමක් වැදුනා යැයි සංඥාවක් ලබාගෙන ඒ අනුව සකස් කිරීම සිදුකරගන්නවා. මෙන්න මේ විදියට තමයි බාහිරයේ තිබෙන තත්වයක් ඡායාරූපයක් ලෙසින් සටහන් වෙන්නේ. කැමරාවක් විසින් "ෆොටෝන් / (Photon)" අංශු හෙවත් ආලෝකය හසුකරගන්නා අවස්ථාව පියවි ඇසට දැකගන්නට හැකි තරමේ තත්වයක් නෙවේ. පියවි ඇසට පෙනෙන මට්ටම කියන්නේම යම් රූපාකාරයක් විදියටම පෙනෙන තත්වයයි. මතකයිනේද මීත් පෙර අප රූපවාහිනියක කොටු කොටු වශයෙන් පෙනන ස්වභාවය පිළිබඳව එහෙම කතා කලා? එහිදී රූපවාහිනිය බලන අපට පෙනෙන්නේම රූපාකාර මිස කොටු වශයෙන් නෙවෙයි.

අන්න ඒ වගේ මේ කියන "ෆොටෝන් /(Photon)" අංශූ බොහෝමයක් හරියට වළාකුලක් වගේ එක ළඟ එක ළඟ පිහිටන විට නොයෙක් හැඩයන් සකස් වෙනවා. අන්න ඒ සකස් වීම ඒ හැඩයන් තුල යම් රූපාකාරයන් මවා ඡායාරූපයක් වශයෙන් හඳුනාගන්නට හේතුවෙනවා.

මෙන්න මේ වගේ දෙයක් චක්ඛු විඤ්ඤාණ ආදී අනෙකුත් විඤ්ඤාණයන්ද ක්‍රියාත්මක වන විට "මන" කියන අවස්ථාව සකස් කිරීමට හේතු වෙනවා. ඒ මොහොතේම ඒ විඤ්ඤාණය වැදුනා යැයි වීමක් දැනවීමත් ඒ ඔස්සේ යමක් ගැටුනා යැයි සංඥාවත් ඒ අනුව සකස් කිරීමකුත් සිද්ධ වෙලා ලැබෙන සටහනට තමයි "මනෝ විඤ්ඤාණය" කියලා අපි හඳුන්වන්නේ. හරියට ඡායාරූපය නම් සටහන වගේ.



එතකොට "ධම්ම" වශයෙන් වේදනා, සංඥා, සංකාර කියන ස්කන්ධයන් සහ දැකගන්නට නොහැකි ස්පර්ශ කරන්නට නොහැකි රූපාකාරයන් කිව්වාම මේ සිද්ධ කල විග්‍රහය තුල ඒ කියන ටික විස්තර වෙනවා.

මේ දේවල් මේ විදියට ලියලා තේරුම්ගන්න නම් ඉතාමත් අපහසුයි තමයි. එහෙත් මේ දේවල් කියවීම තුලින් අඩුම ගානේ මේ ජීවිතයේදී අනිවාර්යෙන්ම තෝරාගත යුතු පෙර නොඇසූ විරූ දහමක් තියෙනවාය කියලාවත් අදහසක් ගෙන ඒ දේ තමන්ගේම නුවණින් දැකගන්නට උත්සාහවන්ත විය යුතුයි යන්නවත් අවබෝධකරගැනීමට උත්සාහවන්ත වෙනවා නම් ලැබෙන ජයග්‍රහණය ලාභය මෙතැකැයි කියන්නට නොහැකියි.

ඉතින් "ධම්ම" විග්‍රහය තුල "අසංඛතාව ධාතු" ලෙසින් කොටසකුත් තියෙනවා. ඒ කුමක්ද? සරලවම උපමාවටම සසඳා තේරුම් ගන්නවා නම් ඡායාරූප ශිල්පියා විසින් ඡායාරූපයක් සටහන් කරගැනීමට කැමරාවේ බොත්තම ඔබනවා. එවිට තමයි ඡායාරූපය සටහන් වෙන්නේ. ඒ සටහන් වන විට කැමරාව විසින් එය සකස් කරගත්තේ කොහොමද කියලා "ෆොටෝන් /(Photon)" අංශූසකස් වන ආකාරයක් තුලින්ම අප තෝරාගන්නට උත්සාහ කලා.

දැන් හිතන්න, ඡායාරූප ශිල්පියා විසින් ඡායාරූපය සටහන් කරගන්නට පෙරත් කැමරාව තුලින් ඡායා _ රූප කරගෙන දැක්කනේ. විපාක සිත පිළිබඳව ගලපා අපි මේ ගැන හොඳින්ම විග්‍රහ කරගත්තා මතකයි නේද? මෙන්න මේ අවස්ථාවේදීත් කැමරාව තුල ඡායා _ රූප වෙලා පෙන්නේම අර අපි ඉහත විස්තර කරගත්ත ආකාරයට "ෆොටෝන් /(Photon)" අංශූසකස් වීම තුලින්ම තමයි.



එහෙත් මෙහිදී ගබඩාකරගන්නට සටහන් කරගන්නට යොමු වෙන්නේ නෑ කියලා මතකයිනේ. මේ අවස්ථාව හරියට ඡායාරූප ශිල්පියා කැමරාවක් ඇස ඉදිරියේ තියාගෙන ඒ තුලින් ලෝකය දකිනවා වගේ අවස්ථාවක් කියලා සිහිපත් කරගත්තා මතකයි නේද?

අන්න ඒ වගේ රාගයක්ෂය තුලත් ද්වේශක්ෂය තුලත් මෝහක්ෂය තුලත් "මනට – ධම්ම" ලෙසින් සකස් වී සකස් වෙන මූලික මනෝ විඤ්ඤාණ තත්වයක් තියෙනවා. "චිත්ත, මනෝ, මානසං" ලෙසින් හඳුනාගැනීම දක්වා සිත කිලිටි වන තත්වය පිළිබඳව අප විග්‍රහ කරගත්තා මතකයි නේද ?

ඒ තත්වය දරන්නේ අරිහතුන්වහන්සේ කෙනෙක් බව විස්තර කරගත්තා මතකයි නේද? අන්න ඒ රාගය ක්ෂය වූ ද්වේශය ක්ෂය වූ මෝහය ක්ෂය වූ සිත තුල හටගන්න "ධම්ම" කොටස පිළිබඳව තමයි මේ විදියට "අසංඛතාව ධාතු" ලෙසින් පෙන්වා දී තිබෙන්නේ. ඇත්ත දැක්ක මනසක් තුල ඒ ඒ මට්ටමෙන් නිත්‍ය සංඥාවෙන් නොගන්නා ස්වභාවය තුල මනට ධර්ම කියන ස්වභාවය ලෙසින් පවතින තත්වයක්. මෙය ඉදිරියේදී තව දුරටත් විග්‍රහ කරගන්නට හැකියි.

## ...වරදවාගත් රූපාකාර - 15

ඡායා - රූප කරගෙන එය පටිගත කරගත්ත ක්ෂණයේදීම ලැබෙන "ඡායාරූපය" කියන ප්‍රථිඵලය ගැන හිතන්න... ඒ කිව්වේ "මනෝ විඤ්ඤාණ" තත්වයයි. "ඡායාරූපය" කියන තත්වය තුල රූප ඇති බවක් දැනෙනවා නේද? සංඥාව ලැබෙන්නේම ඒ අනුවමයි. ඒ නිසාම ඒ තිබෙන්නාවූ පවතින්නාවූ රූප කියලා අදහසක් සිතට නැගෙනවා. ඒ ඔස්සේ ඒ අවස්ථාව සකසමින් සංස්කරණය කරමින් කටයුතු සිද්ධ වෙනවා නේද? ප්‍රතිඵලය මොකක්ද? ඡායාරූපය කියන තත්වය තුල ස්ථිරවම පවතින්නාවූ තමන් බලාපොරොත්තු වූ සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කියන්නාවූ තත්වයන් තිබෙන බවක් හැඟෙනවා. ඒ දෘෂ්ඨියෙන් යුතුව ඒ වරදවා ගත්තාවූ දැක්මෙන් යුතුව "රූප" ඇසුරු කරනවා නේද?

උපමාවට අනුව සැබෑ තත්වය වුනේ කුමක්ද? ඡායා කියන ස්වභාවයක්. තවත් ගැඹුරට ගියොත් "ෆොටෝන් /(Photon)" අංශුමය ස්වභාවයක්. ඒ අංශු අප්‍රමාණ සංඛ්‍යාවක් ග්‍රහණය වීමේදී වේගයෙන් එකිනෙකට ක්‍රියාත්මක වීමේදී නොයෙක් නොයෙක් ඡායා මාත්‍රන් සකස් වෙනවා. අන්න ඒ වගේ එක් ක්ෂණයකදී ඒ සකස් වූ ඡායාව සටහන් වූ ස්වභාවය තුල ලැබුණ විවිධාකාර රූපාකාරයන් ඒ ආකාරයෙන් නිර්මාණය වී මවා පෙන්වූ හුදු මායාවක් පමණයි යන්න නොදැන ඒ දකින්නාවූ රූපය නිත්‍ය වශයෙන්ම බාහිරයේ තිබෙනවාය කියලා අදහසක් දැනුනානේද?

ඒ විදියට නන් අයුරින් මැනගෙන ඒ මැනගත්තාවූ රූපාකාරයන් ඒ මැනගත්ත ක්‍රමයම නිවැරදි යැයි නිගමනයකින් යුතුව ග්‍රහණය කරගෙන මනසින් නිර්මාණය කරගත්තාවූ මේ ආකාරයට මොහොතක් පාසා මනසේ පටිගත වෙන්නාවූ රූප සටහන් සමඟ කටයුතු කරනවා. සිතන්නේ කියන්නේ කරන්නේම මේ මනෝ සටහන ඇත්තක් කරගෙනමයි. උපමාවට සසඳනවා නම් ඡායාරූප ශිල්පියා තමන් ගත්තාවූ ඡායාරූපය තුල සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කියන සංඥාවෙන් "රූප" දැක තමන් සටහන් කරගත්තේම බාහිරයේ සිටි සත්වයෙක් පුද්ගලයෙක් ද්‍රව්‍යයක් වස්තුවක් ලෙසින් වරදවා වටහාගන්නවා වගේමයි.



ඔහුගේ සිත, කය, වචනය ක්‍රියාත්මක වන්නට පටන්ගන්නේම ඒ වරදවා වටහාගත්තා රූපාකාරයන්ට අනුවමයි. අන්න ඒ අනුව ඔහුට / ඇයට සුව හෝ දුක් හෝ සුවත් නැති දුකකුත් නැති මධ්‍යස්ථ ආකාර ලෙසින් ප්‍රතිචාර දැක්වෙනවා. මේ ප්‍රතිචාරයන් දැක්වූයේම විහින්ම නිර්මාණය කරගත්තාවූ රූපාකාරයන්ට නම් ලැබෙන ප්‍රතිඵලයත් විහින්ම නිර්මාණය කරගත්තාවූ තත්වයක් මිස බාහිර වූ වෙනත් තත්වයක් නිසාවෙන් ලැබුන අමුතු ප්‍රතිඵලයක් නෙවේ.

ඒ මදිවට ඒ පටිගත කරගත්ත රූප බාහිරයේ තිබෙනවායැයි සිතාගෙන ඒ රූප දැක්කාවූ පුද්ගලයෙක් පවතිනවා යැයිද විශ්වාසයෙන් ඉන්නවා. මොහොතක් පාසා මේ ආකාරයට ඡායාරූපකරණයේ

යෙදෙමින් "ඡායාරූප" නිර්මාණය කරගන්නවා. ඒවාට අපි ධර්මයේදී කියන්නේ "මනෝ රූප, මනෝ විඥ්ඥාණය, මනෝ සටහන්" ආදී ලෙසටයි.

"මනෝ පුබ්බංගමා ධම්මා" ලෙසින් ධම්ම පදය තුල ආරම්භයේදීම සාරාංශ ගත කරලා දක්වා තිබෙන්නේ අන් කවරක්වත් නොවේ මෙන්න මේ කියන උමතු වැඩපිලිවෙල පිළිබඳව ඉතාමත් ගැඹුරු අර්ථකථනයක් බව විස්තර කර දුන් සටහනද ඔබට මේ අවස්ථාවේ සිහිපත් කරනවා.

ඉතින් අවස්ථාව තිබෙන පරිදි එයද කියවා තමන්ගේ අවබෝධය පිණිස කටයුතු සම්පාදනය කරගැනීමට උපකාර කරගත හැකියි. මේ ගාථාවන්ගේද මතුපිට අර්ථයක්ම අරගෙන මහා ගැඹුරු දහමක් ලෙසින් ඇසුරු කරන්නේ මේ ගැඹුරු ධර්මයේ අඟක් මුලක් සොයා නොගෙන පටලවාගෙන ඇති නිසාම බව දැන හැඳින ප්‍රවේශමෙන් යුතුව සත්‍ය ධර්මය ඇසුරු කර නිසි ඵල නෙලාගැනීමට කටයුතු කරගත යුතු වෙනවා.

දැන් සිහිපත් කරගත යුතුයි මෙපමණ කාලයක් ඇස, කණ, දිව, නාසය, කය ලෙසින් හඳුනාගෙන සිටි තත්වයට හාත්පසින්ම වෙනස් පෙර නොඇසූ විරූ ඇසක්, කණක්, දිවක්, නාසයක්, කයක් පිළිබඳව තමයි මේ ධර්මය තුල විග්‍රහ වෙන්නේ. මේ දේවල් බොහෝම පැහැදිලිවම අභිධර්ම පිඨකය තුල විග්‍රහ වෙනවා. සූත්‍ර පිඨකය තුල පවතින තිබෙන සූත්‍ර වල පවා තිබෙන්නේ මෙම අදහසින්ම තමයි. එහෙත් මතුපිට අදහසක් ගෙන නැවතුනොත් පෙර ඇසූ දහමකින්ම සෑනසීමට පත්වෙන්නට සිද්ධ වෙනවා.

අන්න ඒ නිසා නුවණින් හිතන්න... යමෙකුට ලෞකික භාෂාවක් උගෙන ගන්නට ඕනෑ නම් ඒ පුද්ගලයා ඒ භාෂාවට සම්බන්ධ පොත පත කියවලා ඒ භාෂාව ඉගෙන ගන්නට උත්සාහ කරනවා නම් ඒ පුද්ගලයාට ලැබෙන්නේ ඒ භාෂාව ලිවීමේ දැනුම පමණයි. කියවීමේ දැනුමවත් නිවැරදිව ලැබෙන්නේ නෑ. හේතුව මොකක්ද? ඒ භාෂාව උච්ඡාරණය කරන ස්වභාවය ඒ පුද්ගලයා විසින් අසාගත යුතුම වෙනවා. එහෙම අසාගන්නට සිද්ධ වෙන්නේ ඒ භාෂාව හොඳින් කතා කරන්නට දන්න කෙනෙක්ගෙන්මයි. නැතිනම් උච්චාරණය වැරදිසහගත වෙන්නට පුළුවන්. වෙනමම තේරුමක් එන්නට පුළුවන්.... වෙනමම අදහසක් එන්නට පුළුවන්... මේ දේවල් ඔබගේ ජීවිතයේ අත්දැකීමක් කරගෙනම බලන්න එවිට ඔබට මේ කියනදේ වැටහේවී.

ඉතින් ලෞකික විශයකටත් මේ වගේ තත්වයක් නම් තියෙන්නේ පෙර නොඇසූ විරූ දහමක් ඔබ විසින් පොත පත කියවා අවබෝධ කරගන්නට යනවා නම් ප්‍රථිඵලය කොතරම් දුරට සාර්ථක වේවිදැයි ඔබටම සිතා බලන්නට හැකියි. උච්චාරණය හරියට නොදැන භාෂාවක් කතා කරන්නට ගියහොත් වැරදි අදහස් එනවා සේම ධර්මයක් අවබෝධයෙන් තොරව ඒවාට අර්ථ දෙන්නට ගියහොත් අදහස් දෙන්නට ගියහොත් ලැබෙන්නේ නොගැලපෙන වැරදි අදහසක්මයි. අන්න ඒ නිසා බුද්ධිමත්ව ධර්මය ඇසුරු කරන්නට උත්සාහ කරන්න. මේ මායාව තුල රැකගන්නට පරම්පරාවක්වත්, ගුරුවරයෙක්වත්, නම්බුනාම කීර්ති ප්‍රශංසාවක්වත්, ලැබෙන ලාභයක්වත් නැති බව මේ මායාව දැකගැනීම තුලින්ම තෝරාගන්නට උත්සාහ කරන්න.

මෙතෙක් කාලයක් ගැඹුරු ධර්මයක් ලෙසින් මේ මස් ලේ ඇසක්, කණක් සහිත කයක් කෑලි කෑලි වලට කඩමින් එහි අනිත්‍යභාවය සිහි කරමින් මරණය සිහිකරමින් සිදුකල විදර්ශනාවෙන් නිසි ප්‍රතිඵල ලැබුනේ යැයි සිතනවා නම් නැවත තම තමන්ගේ සිත් පිරික්සා බලා නිසි අවබෝධයට පත්වීම පිණිස කටයුතු කරගත යුතුමයි. නැතිනම් පාඩුව තමන්ටමයි.

ඇයි? වෙල මැද ඉන්න පඹයෙකු ඈතින් බලලා රැවටෙනවා ඒ ඉන්නේ මනුස්සයෙක්ය කියලා. ඉන්පසුව ඈත සිටම හිතනවා ඔය මනුස්සයා මෙහෙමයිනේ... කොටස් 32කින් හැදිලනේ තියෙන්නේ අනේ ඉතින් අසාරයිනේ අනිත්‍යයයිනේ කැමති සේ පවතින්නේ නෑනේ කියලා. පඹයා මනුස්සයෙක්ය

කියලා රැවටිලා මනුස්සයා බිඳ බලමින් විදර්ශනා කලහොත් රාගය ද්වේශය යටපත් වීම තුලින් ඔබට තාවකාලික සැනසීමක් ලැබේවි එහෙත් මෝහයට නම් කිසිදු හානියක් සිදු නොවේවි.

එසේ යම් මොහොතක ඔබ මෙසේ කියමින් සිටින විට ඒ ඉන්නේ පඹයෙක්ය කියලා දන්නා කෙනෙක් ඔබට කියනවා ඔය ඉන්නේ මනුස්සයෙක් නෙවේ පඹයෙක්ය කියලා. එතකොටත් ඔබ ඒ පුද්ගලයාට ගෞරවයෙන් භයෙන් විශ්වාසයෙන් පමණක් පිළිඅරගෙන අනේ ඔව් මම රැවටුනා ඒ ඉන්නේ පඹයෙක්නේ කියලා කිව්වට ප්‍රමාණවත් නෑ.

ඔබටම ගිහින් විමර්ශණයක් කරන්නට සිද්ධ වෙනවා. පඹයෙක්මද ඒ මනුස්සයෙක් නොවේ නේදැයි නුවණින්ම දැකගත යුතු වෙනවා. අන්න එවිට අමුතුවෙන් කෑලි කඩන්න දෙයක් ඉතිරි වන්නේ නෑ. පඹයා කෙරෙහි වරදවාගත්තාවූ මනුස්සයා කියන සංඥාවම නැතිවෙනවා. එවිට මනුස්සයෙක්ය කියලා ඇලුනා නම් ගැටුනා නම් මධ්‍යස්ථ ප්‍රතිචාර ගත්තා නම් ඒ සියල්ල ඒ දැක්ම නිවැරදි වීමත් සමඟින්ම නිවැරදි වෙනවා.

ඉතින් මේ දේ නුවණින් බුද්ධිමත්ව විමසා වටහාගන්න. ඡායා රූප කරගෙන රූප තියෙනවා කියලා විශ්වාස කරගෙන ඒ රූප කැඩුවාට රූපය පිළිබඳ නිවැරදි සංඥාව ලැබෙන්නේ නෑ. රූපය පිළිබඳව නිවැරදි සංඥාව ලැබෙන ආකාරයට තමන්ගේ දැක්ම සකසාගන්න අන්න එවිට රූපය පිළිබඳව ඇති වැරදි වැටහීම් නැතිවෙනවා. ඒ සමඟින්ම රූපය සමඟ යම් ඇලීමක් ගැටීමක් මෝහයක් ක්‍රියාත්මක වුනා නම් ඒවාත් නැතිව යනවා. මිදීම පිණිසම හේතු සකස් වෙනවා...

ඉතින් නැවතත් ත්‍රිපිඨක ශ්‍රී සත්ධර්මය තුලින්ම උපුටා දක්වනවා නම්

අභිධර්ම පිඨකය <විභංග ප්‍රකරණය - පඨම භාග (1) < ආයතන විභංගය < පිටු අංකය (124 – 148) < පී.ඩී.ෆ්. පිටු අංකය (147 – 172)

226. තත්ථ කතමං චක්ඛායතනං, යං චක්ඛුං චතුන්නං මහාභූතානං උපාදාය පසාදො අත්තභාවපරියාපන්නො අනිදස්සනො සප්පටිඝො, යෙන චක්ඛුනා අනිදස්සනෙන සප්පටිඝෙන රූපං සනිදස්සනං සප්පටිඝං පස්සී වා, පස්සති වා, පස්සිස්සති වා, පස්සෙ වා, චක්ඛුමෙතං චක්ඛායතනමෙතං චක්ඛුධාතුපෙසා චක්ඛුන්ද්‍රියමෙතං ලොකොපෙසො ද්වාරාපෙසා සමුද්දොපෙසො පණ්ඩරමෙතං ඛෙත්තමෙතං වත්ථුමෙතං නෙත්තමෙතං නයනමෙතං ඔරිමං තීරමෙතං සුඤ්ඤො ගාමොපෙසො, ඉදං වුච්චති චක්ඛායතනං.

එහිදී ඇති සිංහල අර්ථය මෙසේයි...

226. එහි චක්ෂුරායතනය කවරෙ යත් : යම් ඇසෙක් සතර මහාභූතයන් නිසා උපන් ආත්මභාවපර්‍යාපන්න වූ අනිදර්ශන වූ සප්‍රතිඝ වූ ප්‍රසාදය වේ ද, අනිදර්ශන වූ සප්‍රතිඝ වූ යම් ඇසෙකින් සනිදර්ශන වූ සප්‍රතිඝ වූ රූපය දුටුයේ හෝ දකී හෝ දක්නේ හෝ දක්නේ නම් හෝ (දර්ශනපරිණායකාර්ථයෙන්) තෙල චක්ඛු නමුදු වෙයි, (සංජාතසමොසරණාර්ථයෙන්) තෙල චක්ඛායතන නමුදු වෙයි, (ශූන්‍යතාදි අර්ථයෙන්) තෙල චක්ඛුධාතු නමුදු වෙයි, (දර්ශනලක්ෂණයෙහි ඉන්ද්‍රාර්ථය කරවා නුයි) තෙල චක්ෂුරින්ද්‍රිය නමුදු වෙයි, (ලුජ්ජන පලුජ්ජනාර්ථයෙන්) තෙල ලොක නමුදු වෙයි, (වලඤ්ජනාර්ථයෙන්) තෙල ද්වාර නමුදු වෙයි, (අපරිපූරණාර්ථයෙන්) තෙල සමුද්ද නමුදු වෙයි, (පරිශුද්ධාර්ථයෙන්) තෙල පණ්ඩර නමුදු වෙයි, (ස්පර්ශාදියෙන් උපදනා හෙයින්) තෙල ඛෙත්ත නමුදු වෙයි, (ඔවුනට ම ප්‍රතිෂ්ඨා වන හෙයින්) තෙල වත්ථු නමුදු වෙයි, (සමවිෂම දක්වමින් ආත්මභාවය පමුණුවානුයි) තෙල නෙත්ත නමුදු වෙයි, (එ අරුතින් ම) තෙල නයන නමුදු වෙයි, (සත්කායපර්‍යාපන්නාර්ථයෙන්) තෙල ඔරිමතීර නමුදු වෙයි, (බහුසාධාරණාර්ථයෙන් අස්වාමිකාර්ථයෙන්) තෙල සුඤ්ඤගාම නමුදු වේ. මේ චක්ෂුරායතනය යි කියනු ලැබේ.

මෙතැනදී මේ අර්ථයන් තවත් විස්තර සහිතව තෝරාගන්නවා නම් අපට පාලි පාඨය තුල විග්‍රහ කර පෙන්වන කොටස පැහැදිලි කරගන්නට හැකියි.

දැනට විද්‍යාව තුලින් මහත් පරිශ්‍රමයක් යොදා ඔප්පු කොට පෙන්වා තිබෙන ආලෝකයේ මූලිකම අංශු ස්වභාවය ලෙස හඳුනාගෙන තිබෙන "ෆොටෝන් / (Photon)" අංශු පිළිබඳව අප මෙම සටහන තුල විටින් විට කතා කලා.

ඒ පිරිස විද්‍යාව තුලින් මහත් පරිශ්‍රමයක් යොදා ඒ පමණකින් ඔප්පු කොට පෙන්වද්දී මෙතැනින් එහාට ගිය පදාර්ථයේ තිබෙන සියුම්ම අවස්ථාව මෙයිට වසර දෙදහස්පන්සිය ගණනකට කලින් අප මහා ප්‍රඥාවන්තයාණන්වහන්සේ... විශ්වයේ සිටින මහා විද්‍යාඥයාණන්වහන්සේ විසින් විග්‍රහ කොට පෙන්වා දී තිබෙනවා යැයි කිවහොත් ඔබට වැඩි විශ්වාසයක් නොදැනේවි. සැක සහිතවේවි. එහෙත් යම් මොහොතක ඒ බව ඔබගේම නුවනින් දැන දැක අවබෝධකරගත් විට කයේ හිරිගඩු නංවමින් රෝම කෙලින් සිටුවමින් දැනෙන ආශ්චර්යාත්මක අත්දැකීම මේ සත්ධර්මයේ ගැඹුර ඔබගේ නුවණින් අත්දකින මොහොතක් පාසාම සිදුවෙනවා අනිවාර්යයි.

ඉතින් මේ පදාර්ථයේ තිබෙන ඉතාම කුඩා සියුම්ම අවස්ථාව "ශුද්ධාශ්ඨකය" ලෙසින් ධර්මය තුල විග්‍රහ කොට පෙන්වා දී තිබෙනවා. ඒ "ශුද්ධාශ්ඨකය" හෙවත් ඉතාමත් කුඩාම අවස්ථාව තුල මූලික වශයෙන් ගැබ්වන්නේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි නම් ද්‍රව ස්වභාවය, උෂ්ණ ස්වභාවය, වායුමය ස්වභාවය, ඝන ස්වභාවය කියන්නාවූ සතර මහාභූත වශයෙන් පෙන්වන ස්වභාවයන් 4ත් වර්ණ, ගන්ධ, රස, ඕජා කියන ස්වභාවයන් 4ත් බව පෙන්වනවා.

මෙම සටහන මේ දේවල් ගැඹුරින් විස්තර කරන්නට අවස්ථාවක් කරගන්නේ නෑ. ඒ නිසා මූලික වශයෙන් දැනගත යුතු දෑ දැනගැනීම පිණිස මනස මෙහෙයවන්නට උපකාරයක් වන්නට තමයි මේ සටහන තබන්නේ.

ඉතින් මේ කියන "ශුද්ධාශ්ඨකය" කියන අවස්ථාව සකස් වෙලා තියෙන ඝණ, ද්‍රව, වායු, උෂ්ණ ස්වභාවයවත් වර්ණ, ගන්ධ, රස, ඕජා ස්වභාවයන් තුලින්වත් අපට ඝණ සංඥාවක් ද්‍රව සංඥාවක් වායු සංඥාවක් උෂ්ණ සංඥාවක් වර්ණ සංඥාවක් ගන්ධ සංඥාවක් රස හෝ ඕජාමය සංඥාවක් ලබාගන්නට නොහැකියි. මන්ද එය එතරම්ම සියුම් අංශුමය තත්වයක් නිසාමයි.

ඉතින් මෙන්න මේ වගේ ආලෝක මාත්‍රයක් පාසා අප විසින් මේ සටහනේ විස්තර කරගත්තාවූ ආකාරයට මනෝ විඥ්ඥාණයන් සකස් කරන කටයුත්ත සිද්ධ වෙනවා. ඒ කියන්නේ සරලවම මේ ඉතාම කුඩා අංශුව හෙවත් ශුද්ධාශ්ඨකයක් පාසා ඡායාරූපයක් ගන්නවා. ඒ ගන්න මොහොතටත් ඒ ශුද්ධාශ්ඨකයේ මූලික අවස්ථාව වෙනස් වෙලා යනවා. ඒත් ගන්න මොහොතේ පැවති ඒ සටහන හෙවත් ඡායාරූපය තමයි ඇසුරු කරන්නේ.

මෙන්න මේ ඡායාරූප කෝටි ප්‍රකෝටි ගණනින් නැවත නැවත එකම ක්‍රියාවලිය සිදුකරනවා. ඒ කියන්නේ ඒ ඡායාරූප හේතු කරගෙන නැවත නැවත ඡායාරූප ගන්නවා... මෙන්න මේ විදියට ඒවා එකිනෙකට නැවත නැවත සම්බන්ධ වෙලා තමයි අපි මේ වර්ථමානයේ අත්දකිනවායැයි සිතන රූප රූප, ශබ්ධ රූප, රස රූප, ගන්ධ රූප, ස්පර්ශ රූප කියන තත්වයන් නිර්මාණ වී ලැබෙන්නේ. ඒ කියන්නේ උපමාවට අනුව ඡායාරූප ශිල්පියා ලබන ඡායාරූප තත්වය අත්දැකගන්නේ එවන් අවස්ථාවකයි.

දැන් ඉතින් ශුද්ධාශ්ඨකයක මාත්‍රයක් වශයන් පවතින ඝණ, ද්‍රව, වායු, උෂ්ණ, වර්ණ, ගන්ධ, රස සහ ඕජා ස්වභාවයන් ඒ අංශු මාත්‍රයේදී අපට ඒ ආකාරයෙන් අත්දැකගන්නට නොහැකියි.

උදාහරණයකට හිතලා බලන්න ඉතාම කුඩා සීනි කැටයක්. ඉදිකටු තුඩකට වගේ හසුවන තරමේ සීනි කැටයක් දිවේ තියාගන්න. ඒ තුල ඔබට කොතරම් ඝණ සංඥාවක්, ද්‍රව, වායු, උෂ්ණ සංඥාවක් ලැබෙනවද? ඒ අංශු මාත්‍රයක් තුලින් ඔබට සුදු සීනි හෝ දුඹුරු සීනි කියන වර්ණ සංඥාව පැහැදිලිව ගන්නට හැකිද? එතකොට සීනි රස ලැබිය හැකිද? ඒ තුල ගන්ධ ස්වභාවය ඕජා ස්වභාවය නියමාකාරයෙන් අත්දැකගන්නට නොහැකියි නේද? ඒ අංශුවක් තුලින් ලබන යම් පමණක් වේ නම් ඒ මාත්‍රය ලැබගන්නේත් පෙර අප විස්තර කරගත්තාවූ පරිදි ඉතාමත් වේගයෙන් සටහන් කරගත්තාවූ අතීත සටහනකින්මයි නම් වර්ථමානය ලෙසින් අත්දකින තත්වය තුල ගන්නා සංඥාව වැරදිලා නේද කියලා දැන් හොඳින් නුවණින් හිතන්න.



එහෙනම් අපි මේ වන විට නොදැනුවත්කම ඔස්සේ ගන්නා ඝණ, ද්‍රව, වායු, උෂ්ණ ලෙසින් ආපෝ, තේජෝ, වායෝ, පඨවි ලෙසින් ධාතු වශයෙන් හැඳින සතර මහා භූතයින් ලෙසින් හැඳින අරගෙන තියෙන සංඥාව නැවතත් මනෝ සටහනක් පමණක්ම නොවේදැයි දැන් ඉතින් බුද්ධිමත්ව වටහාගන්නට උත්සාහ කල යුතුයි. මෙතෙක් කාලයක් ධාතු මනසිකාරය ලෙසින් සතර මහා භූත තත්වයක් පිළිබඳව අදහස් ගෙන භාවනා කරන්නට යෙදුනේ කුමන අදහසකින්දැයි නැවත සිහිපත් කර බැලීම ඉතාමත් වැදගත් වෙනවා. සතර මහා ධාතු කෙරෙහි ගැඹුරු විග්‍රහයක් වෙනත් සටහනක් ඔස්සේ නැවත අවස්ථාවක විග්‍රහ කරගන්නට යෙදෙමු.

ඉතාමත් කෙටියෙන් සතරමහා ධාතූන් පිළිබඳව මෙසේ ඉඟියක් ලබාදෙන්නට කටයුතු කලේධර්මය තුලින් තෝරාගත යුතු පෙර නොඇසූ විරූ ඇස පිළිබඳව විග්‍රහ කරගන්නට අවශ්‍ය නිසාම තමයි. සතර මහා භූතයින්ගෙන් සකස් වූ ඇසක්යැයි කියන විට ඔබට මේ මස් ලේ ඇස සිහිපත් නොවීම පිණිස මේ දර්ශනයට අහුවන්නේ නැති ස්පර්ශ කරන්නට නොහැකි ඇස කෙසේ නම් සතර මහා භූත සංඥාව ලැබුවේදැයි තෝරාගැනීම පිණිස එය උපකාර කර ගත යුතු වෙනවා.

ඉතින් මේ සතර මහා ධාතූන් කියන තත්වයේදී ඡායාරූප රැසක්ම ඇසුරු කරමින් මතක සටහන් රැසක්ම ඇසුරු කරමින් ඝණ, ද්‍රව, වායෝ, උෂ්ණ සංඥාවෙන් යුතුව ඇසුරු කලා මිසක යථාර්ථයේ ශුද්ධාශ්ඨක අවස්ථාවේ පවතින්නාවූ ඒ ස්වභාවයන් අත්දැකගැනීමට තරම්වත් නොහැකි මාත්‍ර වශයෙන් ලැබෙන දෙයක් පමණයි ලෙසින් වැටහෙනවා නේද?

එසේ නම් වර්ථමානයේ මේ මොහොතේ අපට ආපෝ, තේජෝ, වායෝ, පඨවි ලෙසින් දැනෙන සතර මහා භූත හෙවත් ධාතු අවස්ථාවන් සියල්ලමත් අපගේ උපමාවට අනුව ඡායා - රූප වී සටහන් වී අවසානයේ අපට ලැබෙන "ඡායාරූපය" අවස්ථාවේ පවතින තත්වයක්ම පමණයි යන්න නුවණින් තෝරාගත යුතුයි.

ශුද්ධාශ්ඨක අවස්ථාවේ පවතින ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන තත්වයන් කෝටි ප්‍රකෝටි ගණනින් එකතු වූ අවස්ථාවක ඒවායේ සතර මහා භූත නොයෙක් නොයෙක් ආකාරයෙන් ධාතු සංඥාව උලූප්පා ඇසුරු කරන මොහොතක ඒවායේ වර්ණ ස්වභාවය උලූප්පා ඇසුරු කරන මොහොතක ඒ හේතුව නිසාම ඇතිවන ප්‍රසාදය කැමැත්ත මුල්කරගෙන පවතින්නාවූ නිත්‍ය වූ ස්වභාවයක්මයි යන සංඥාවෙන් යුතුව ප්‍රතිචාර දැක්වෙන මොහොතක දැකගන්නට නොහැකි / දර්ශණය කරගන්නට නොහැකි / බාහිරයට පෙනෙන්නේ නැති බාහිරයෙන් ඝන දෙයක් ලෙසින් අල්ලන්නට නොහැකි / ගැටීමක් නැති ඇස පහල වෙනවා.

මෙන්න මේ දැකගන්නට නොහැකි දර්ශනයට අහුවන්නේ නැති ස්පර්ශ කරන්නට නොහැකි ඇසතුලින් දකින්නේම බාහිරයේ පවතින්නවා යැයි විශ්වාස කරන්නාවූ ඝන, ද්‍රව, වායෝ, උෂ්ණ ස්වභාවයෙන් යුතු වර්ණ සහිත වූ රූපාකාරයි. මේ රූප දකින්නේම ඒ රූප මැවෙන මොහොතේම හටගන්නා ඇස තුලින්මයි.

ඒ හටගන්නා ඇස තුලින් දකින්නේම මෙවන් රූපාකාරයි. ඡායා - රූප කරලමයි දකින්නේ. ඒ නිසාම ඡායා - රූප කරගෙන බලන ඇසක්මයි පහල වෙන්නේ. දැන් මේ වගේ ඇස් මොහොතක් පාසා කෝටි ප්‍රකෝටි ගණනින් පහල වෙනවා. ඒ සෑම මොහොතක් පාසාම ඒ ඇස තුලින් බලන රූප පහල වෙනවා. ඒ සෑම මොහොතකම චක්ඛු විඤ්ඤණයත් පහල වෙනවා... ඒ වේගයෙන්ම චක්ඛු විඤ්ඤාණය හේතු කරගෙන මනෝ විඤ්ඤාණ පහල වෙනවා.

අවසානයේ ඇසට රූප දැක්කාය, කණට ශබ්ද ඇසුනාය, නාසයට ගන්ධ ලැබුනාය, දිවට රස දැනුනාය, කයට ස්පර්ශය වින්දාය කියලා ඔබ නිගමනය කරගෙන සිටින්නේ පරණ මතක සටහනක්ම මිස යථාර්ථය නොවේ.

එහෙනම් මස් ලේ කයකින් සකස් වූ ඇසක්, කණක්, දිවක්, නාසයක්, කයක් අපට තියෙනවා. එහෙනම් මේවා මොනවද? ධර්මයේ කතා කරන්නාවූ ධර්මය තුලින්ම ඔබගේ නුවණින් දැක අවබෝධකරගත යුතු පෙර නොඇසූ විරූ ඇස තුලින් දකින්නාවූ රූපයක්ම පමණයි. එහෙනම් මෙච්චර කාලයක් "මම" "මගේ" ලෙසින් යථාර්ථය නොදැන මහා ලොකුවට ඇසුරු කලේම රූප සටහනක් පමණයි කියලා නුවණින් දකින යම් මොහොතක් වේ නම් ඔබේ යටිකුරු වෙලා තිබූ ලෝකය උඩුකුරු වේවි. මෙච්චර කාලයක් රැවටී සිටි තරම කොතරම්දැයි වැටහේවි. මෙච්චර කාලයක් ධර්මය තුලින් රූපය කඩනවා බිඳිනවා විදර්ශනා කරනාවා යැයි කැඩුවේ මොකක්දැයි වැටහේවි.

ඡායරූප ශිල්පියෙක් නොයෙක් නොයෙක් ආකාරයෙන් ඡායාරූප සටහන් කරගෙන ඒ ඡායාරූප ඇත්තක් කියලා හිතනවා නම්... ඒ ඡායාරූපය වර්ථමානයේ පවතින සැබෑම තත්වයක් ලෙසින් විශ්වාස කරනවා නම්. ඒ ඡායා - රූප කරගත්ත වැඩපිලිවෙල තුලින් සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු රූප සැබෑමයි ඒ රූප බාහිරයේ පවතින යථා ස්වභාවයයි සිතනවා නම් එසේ විශ්වාස කරමින් කටයුතු කරනවා නම් ප්‍රතිඵලය කුමක් වෙයිද? ඔබ ප්‍රතිඵලය දන්නවා. මේ වන විට ඔබ අත්දකිමින් ඉන්නේ ඒ ප්‍රතිඵලයම තමයි.

ඉතින් ඉහත විග්‍රහ කරගත්තාවූ මෙන්න මේසිද්ධිය නිසාම බුදු හිමියන් පෙන්වා දෙනවා ,රූපය පෙණපිඬකට උපමා කරලා දැකගන්න, කියලා. ඒ කියන්නේ රූපය කියලා ඇසුරු කරන මුල් පටන්ගැන්මම වැරදිලා කියලා තෝරාගන්නට තමයි එවැනි උපමා දුන්නේ.

යම් උපමාවක් දෙන විට ඒ උපමාවට හොඳින්ම අධ්‍යනය කරලා නුවණින් ඒ උපමාව තුල පවතින තත්වය අධ්‍යනය කරන්නට සෑම විටම පුරුද්දක් කරගන්න. එවිට මේ උපමා තුලින් ධර්මය තෝරාගන්නට පහසු වෙනවා.

## ...පෙණ පිඬ - 16

පෙණ පිඬක් කියලා කියන්නේ මොකක්ද? දැකලා තියෙනවද? එහි ස්වභාවය හැකිතාක් දුරට අත්දැකීම් තුලින්ම විස්තර කරගන්නට උත්සාහ කරන්න.



පෙණ පිඬක් නිර්මාණය වී ඇති අවස්ථාවන් සළකා බැලූ විට හොඳින්ම පැහැදිලි වෙන දෙයක් තමයි එය යම් කිසි අපද්‍රව්‍ය ස්වභාවයක් නිසාවෙන් නිර්මාණය වන බව. ඒ කියන්නේ උදාහරණයකට මෙහෙම හිතන්නකෝ ජලයට සබන් එකතු කලොත් පෙණ පිඬු නිර්මාණය කරගන්නට හැකියි නේද? ගලායන ජල පහරක අපද්‍රව්‍ය තිබෙන විට පෙණ පිඬු සකස් වෙනවා... මුහුදු වතුරෙත් තියෙනවානේ නේද? තේ එකකට කිරි එකතු කලාමත් පෙණ පිඬුගන්න පුළුවන්. අන්න ඒ වගේ යම් යම් අපද්‍රව්‍ය ස්වභාවයන් නිසාවෙන් පෙණ පිඬු කියන දේ විද්‍යාමාන වෙනවා.

ඒ වගේම තමයි පෙණ පිඬුවක් නිර්මාණය වීමට නම් අපද්‍රව්‍ය එකතුව පමණක්ම ප්‍රමාණවත් නෑ. ඒ එකතුවීමේ යම් කිසි වේගවත් ක්‍රියාකාරීත්වයත් තිබීමත් වැදගත්වෙනවා. අපි සබන් එකතු කරලා පෙණ ගන්නට ඕන නම් ඒ වතුර කලතා දමන්නේ ඒ නිසානේ නේද? කිරි තේ නිවීමට තවත් කෝප්පයක් භාවිතා කරමින් කටයුතු කරන විටත් තේ එක පෙණ පිඬුවලින් වැසී යනවා අත්දැක ඇති නේද? ඒ වගේම තමයි මුහුදු වතුරේ තිබෙන නිරන්තර කැළඹිලි ස්වභාවය පෙණ පිඬු නිර්මාණය කරන්නට හේතුවක් වෙනවා.



මෙන්න මේ වගේ යම් අපද්‍රව්‍යමය ස්වභාවයක් තියෙන්න ඕන ඒ වගේම ඒ එකතුව යම් කිසි වේගයකින් ක්‍රියාත්මක වීමක් තිබෙන්නට ඕන.

ඒ වගේම තමයි පෙණ පිඩුවක් නිර්මාණයේදී තනි තනි පෙණ බුබුලු රාශියක එකතුවක් තියෙනවා. අපි පෙණ පිඩක් විදියට හඳුනාගන්නේ හැමවිටම යම් කිසි එකතුවක්. දිය බුබුලු වැනි පුංචි පුංචි විවිධාකාර හැඩයෙන් යුක්ත බුබුලු රැසක එකතුවක් පෙණ පිඩුවක් ලෙසින් දැකගන්නට හැකිවෙනවා. අනෙක් විශේෂ කරුණ තමයි ඈතදී බලන විට මේ පෙණ පිඩු දර්ශනය වන්නේම තනි ඒකකයක් ලෙසටමයි. එය දිය බුබුලු රැසක එකතුවක් ලෙසින් දැකගන්නට හැකිවෙන්නේ එහි ආසන්නයෙන් නිරීක්ෂණය කරන විටදීමයි. මේ තනි බුබුලකට අප පෙණ පිඩුවක් කියන්නේ නෑ... තනි බුබුලු රැසක් එකට එකතු වෙලා සකස් වෙච්ච පොදියකටම තමයි අප විසින් පෙණ පිඩක් කියලා හඳුන්වන්නේ. මේ දේවල් හොඳින්ම විමසා දැන ගත යුතුයි.

ඒ වගේම තමයි පෙණ පිඩුවක තිබෙන අස්ථිර ස්වභාවය. එය මොහොතක් පාසා වෙනස්වීමට ලක් වෙනවා. එක් එක් ඒකකයන් නැතිවෙනවා බිඳී යනවා ඒ අතරේ තවත් අලුතෙන් ඒවා නිර්මාණය වෙනවා... ක්ෂණයක් පාසා නිර්මාණය වෙලා වෙනස්වීමට ලක්වෙලා විනාශයට පත්වෙන සමූහයක එකතුවක් ලෙසින් පෙණපිඩුවක ස්වභාවය තෝරාගත හැකියි. මෙන්න මේ ආකාරයේ ක්‍රියාකාරීත්වයන් පොදියක් තිබෙන අවස්ථාවක් තමයි පෙණ පිඩක් ලෙසින් අප විසින් හඳුනාගන්නේ. ඉතින් තියෙන දෙයක් වගේ පෙනුනට ඇත්තටම එය මායා දර්ශනයක් පමණමයි. ලැබෙන දෙයක් නෑ හිස් බවින් යුක්තයි. එහෙම නේද?

ඔබ විසින්ම මේ පෙණ පිඩුව අධ්‍යනය කරන්න. ඔබට එදිනෙදා ජීවිතයේදී කොතරම් නම් පෙණ පිඩු අවස්ථාවන් අත්දැකගන්නට ලැබෙනවාද නේද? ඉතින් බුදු හිමියන් ලබාදුන්නේ අපිව අමාරුවේ වැටෙන ආකාරයේ උපමා නෙවේ. අන්න ඒ නිසා බුද්ධිමත්ව ඒ ලබාදී ඇති මහඟු අවස්ථාවෙන් ඵල නෙලාගන්නට කටයුතු කල යුතු වෙනවා.

අප මෙතෙක් වෙලාවක් කතා කරපු දේවල් දැන් මේ පෙණ පිඩුවට ගලපා බැලිය යුතුයි... එවිට තවත් මේ සිද්ධිය පැහැදිලි වේවි... මුලින්ම අපි ගත්ත ඡායාරූපකරණය උපමාවට සසඳා බලමු.

ඡායා මැවෙන්නේ "ෆොටෝන් / (Photon)" අංශු වල එකතුවකිනුයි. එක් එක් "ෆොටෝන් / (Photon)" අංශු වෙන වෙනමම ක්‍රියාත්මක වෙනවා. ක්ෂණයක් පාසා නිර්මාණය වෙලා වෙනස්වීමට ලක්වෙලා විනාශයට පත්වෙන සමූහයක එකතුවක් ලෙසින් පොදියක ආකාරයෙන් පෙන්වනවා. ඉතාමත් වේගයකින් ක්‍රියාත්මක වීමක් තිබෙනවා. අන්න ඒ එකතුව තුල මැවෙන ඡායාවන් නොයෙක් නොයෙක් රූපාකාරයන් ලෙසින් මැනගන්නට හැකිවෙනවා.



අපේ ජීවිත වල යථාවත් රූප ලෙසින් අප දකින දෑහි සත්‍යයයත් මෙයමයි... පෙණ පිඬුවේ තනි තනි පෙණ බුබුළු වගේ තමයි ශුද්ධාශ්ඨක අවස්ථාව. ඒ ශුද්ධාශ්ඨකයේ ඝණ, ද්‍රව, වායු, උෂ්ණ, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන්නාවූ ලක්ෂණයන් එකතුවක් ලෙසින් ක්‍රියාකරනවා. එවැනි ශුද්ධාශ්ඨක රැසක් එකතු වූ අවස්ථාවක නොයෙක් ආකාරයේ පදාර්ථයන් සකස් වෙනවා. මෙන්න මේ වගේ පදාර්ථ කෝටි ප්‍රකෝටි ගණනක් එකතු වෙච්ච අවස්ථාවක් තුලින් රූපයක් මැව්ලා එන්නේ අවිද්‍යාව නිසාවෙන් කිලිටි වූ මානසිකත්වය නිසාමයි.

ඔන්න පෙණ බුබුළු රැසක් එකතු වෙලා පෙණ පිඬුවක් සකස් වෙන්නේ කිලිටි වූ අවස්ථාවක වගේ අවිද්‍යාව නිසාවෙන් කිලිටි වූ මනස මෙවන් වූ මායාවන් මවන්නට මුල් වෙනවා.

ඉතින් අන්න ඒ වගේ තනි තනිවම පවතින අවස්ථාවන් සමූහයක් එකට එකතු කරලා ඒ තුල රූපාකාරයන් සකසාගත්තේ යථාර්ථය නොදන්නා විද්‍යාවෙන් තොර කිලිටි වූ මානසිකත්වය නිසාමයි. ඡායා රූප කරගත්තේ කොතරම් වේගයකින්ද කියලා අප මුලින්ම බොහෝ විස්තර ඇතිව කතා කරගත්තනේ... ඉතින් මේ ශුද්ධාශ්ඨක තත්වය මේ ආකාරයට එක් රැස් වී කටයුතු කරන්නේ අධික වේගයකින් අන්න ඒ වේගය නිසාම නොයෙක් ආකාරයේ රූපාකාරයන් බොහෝම පහසුවෙන් සකස් වෙනවා. කැමරාවක ඡායාරූපයක් සටහන් වෙන වේගයටත් වඩා කෝටි ප්‍රකෝටි ගණනකින් වැඩි වේගයකින් මේ සකස් වීම අප තුල සිද්ධ වෙනවා.

භ්‍රමණ මාත්‍ර කෝටි ප්‍රකෝටි ගණනක් කියන්නේ ඉතාමත් වේගයක් ඒ තුල නිර්මාණය වෙනවා. ඒ වේගය තුලින් නොයෙක් රූපාකාරයන් මවාගන්නට සංස්කරණය කරගන්නට අපහසුවක් වෙන්නේම නැති බව දැනටමත් අපගේ ජීවිත වලින් දැකගන්නට අපට හැකියි.

තවත් පහසුවෙන් තෝරාගන්නට උපමාවක් දෙන්නම්.



අපි කාටූන් බලනවා... චිත්‍රපටි බලනවා... මේවායේදී කරන්නේ එකිනෙකාට සර්ව සම්පූර්ණයෙන් වෙනස් රාමු රැසක් ඉතාමත් වේගයකින් රටාවකට පිළිවෙලකට ක්‍රියාත්මක වෙන්න සලස්වනවා. ප්‍රතිඵලය මොකක්ද? සජීවී සත්ව, පුද්ගල අවස්ථාවන් දැකගන්නට හැකිවෙනවා නේද?

පෙණ පිඬුවක් ඈතින් බැලු කල ඒකක රැසකින් එකතුවෙලා සකස් වූවක් ලෙසින් දිස් වෙන්නේ නෑ වගේම රූපයක් දකින තැන රූපය සකස් වූ ආකාරයක් පිළිබඳව අදහසක් ගැනීමට පියවි ඇසින් පෙනෙන මට්ටමකින් නොහැකි වෙනවා. අන්න ඒ නිසාම නුවණින් රූපය විද බැලීමට අවශ්‍ය බව බුදු හිමියන් පෙන්වා දෙනවා.

## ...දිය බුබුළ - 17

ඉතින් දැන් තේරෙනවානේ ,රූපය, වරදවා වටහාගත් තැන් පටන්ගෙන ඒ ඔස්සේ දැනෙන වේදනාවත් වැරදිලාමයි දැනෙන්නේ. ඒ නිසා බුදු හිමියන් එතැනින්වත් ඇත්ත දැකගන්නට යොමුවීම පිණිස "වේදනාව දිය බුබුළකට උපමා කොට දැකගන්න" වැයි කිව්වා. එවිට ඔබ පළමුව "දිය බුබුළ" කියන්නාවූ උපමාව හොඳින් අධ්‍යනය කරලා බලන්න... ඉන්පසුව එය මේ කියන තත්වය තේරුම්ගැනීමට භාවිතා කරන්න.



දිය බුබුළ ඔබට බැලූ බැල්මට අල්ලන්නට හැකි ඝණ තත්වයේ පවතින යම් හැඩයක ආකාරයට සැබෑවටම පවතින තත්වයක් ලෙසින් තමයි දැනෙන්නේ නේද? ඒ වගේමය එය බැලූ බැල්මට අලංකාරයි. එහෙත් එහි යතාර්ථය කුමක්ද? දිය බුබුලක් සකස් වුනෙත් යම් කිසි හේතුවකට අනුවයි. තියෙන දෙයක් වගේ පෙනුනට ඇත්තටම එය මායා දර්ශනයක් පමණමයි. ලැබෙන දෙයක් නෑ හිස් බවින් යුක්තයි.

ඉතාමත් සියුම් කුඩා ඡායා මාත්‍ර එකිනෙක මස් ලේ ඇසේ ආලෝකයට සංවේදී කොටසට (චක්ඛු ප්‍රසාදයට) ස්පර්ශ වන විට "වීමක් දැනවෙනවා". යම් කිසි හැඩයකට නම් ක්‍රියාත්මක වෙන්නේ නම් ඒ හැඩය ඇති බව දැනෙනවා. ඡායා රූප කරගන්නා ක්ෂණයේදීම ඒ රූපාකාරය ඇතිබවක් "වීමක් දැනවීමක්" සිදුවෙනවා.

ඔන්න රූපය වරදවා වටහාගෙන යථාර්ථයක් නොදැක්ක නිසාම රූපාකාරයක් නිර්මාණය කරලා එය ඇත්තක් ලෙසින් පිළිගත්තාම ලැබෙන වේදනාව බැලූ බැල්මට නිත්‍ය සංඥාවෙන් ලැබෙන්නක්. සුව හෝ දුක් හෝ සුවත් දුකත් නැති මධ්‍යස්ථ ප්‍රතිචාරයක්. මේ වේදනාව දැනෙන්නේම නිත්‍ය වශයෙන් භාරගත්ත රූපාකාරයකටමයි. නිත්‍ය වශයෙන් භාරගත්තා යැයි මෙතැනදී පවසන්නේ පවතින්නාවූ දෙයක් වශයෙන් භාරගත්තායැයි යන්න ඔබට වැටහෙනවා ඇති.

## ...මිරිඟුව - 18

දැන් ඉතින් රූපය සහ වේදනාව යන අවස්ථා දෙකකදීම වැරදුනා නම් තුන්වෙනි අවස්ථාව වන සංඥා ලැබෙන්නේත් වැරදියටමයිනේ... නේද? අන්න ඒ නිසා අඩුම ගානේ එතැනින්වත් මේ දේ තෝරාගන්න හැකිවෙන්න බුදු හිමියන් පෙන්වා දෙනවා "සංඥාව මිරිඟුවකට උපමා කර දැකගන්න" කියලා.



මිරිඟුව දැකලා තියෙනවා නේද? ඒ අත්දැකීම සිහිපත් කරගන්න. නැවත නැවත ඒ අත්දැකීම ලැබෙන විට ධර්මය තෝරාගැනීම පිණිස එය අධ්‍යනය කරන්න. මිරිඟුව සකස් වෙන ආකාරය අප ඉගෙන ගෙන තියෙනවානේ.

ජල වාෂ්ප සහිත සිසිල් වාතය තියෙනවා. ජල වාෂ්ප අඩු රත්වූ වාතයට වඩා මේ සිසිල් වාතය ඝන ස්වභාවයක් දරනවා. ඒ නිසා මේ සිසිල් වාතය තුල අධික පරාවර්ථන හැකියාවක් තියෙනවා. හරියට කණ්ණාඩියකින් අපේ ඡායාව පෙන්වනවා වගේ මේ වාතයටත් හැකියාවක් තියෙනවා එයට වැටෙන ඡායාවන් පරාවර්ථනය කරලා පෙන්වන්නට.

ආලෝක කිරණයන් මේ විවිධ වූ උෂ්ණත්වයන් සහිත වාතය අතරින් ගමන් කරනවා. ඒ ගමන් කරන්නේ සිසිල් වාතය දෙසටයි. අන්න එතකොට අපිට ඉහල අහසේ ඡායාව පොළොව තුලින් දැකගන්නට හැකිවෙනවා. එතකොට අපි රැවටෙන්නේ එතැන වතුර තියෙනවා කියලයි.




සිසිල් වාතය ඉහල තිබී රත්වූ වාතය පහල නම් තියෙන්නේ අපට ප්‍රතිඵලය දැකගන්නට හැකිවෙන්නේ පොළොව මට්ටමෙන්... මේ විදියට දකින මිරිඟුවතමයි බහුලවම දැකගන්නට තියෙන්නේ. අධික උෂ්ණත්වයෙන් යුතු දිනයන්වලදී මහ පාරේ දැකගන්නට තියෙනවා... කාන්තාරයේ දැකගන්නට හැකියි... ඉතින් මේ දර්ශනය හරියට ජලය තියෙනවා වගේ තමයි දැකගන්නට හැකිවන්නේ...







ඉතින් දැන් සිහිපත් කරන්න මේ වගේ මිරිඟුවක් දුටු විට එතැන ජලය තිබෙනවා යැයි ඔබ රැවටෙනවාද? නෑ නේද? ඇයි ඒ? මේමිරිඟුවක් පමණයි යන හැඟීම දැනීම ඔබට ප්‍රත්‍යක්ෂ වශයෙන්ම තිබෙන නිසා නේද ඔබ එසේ රැවටෙන්නේ නැත්තේ?

එහෙත් ඒ ගැන නොදන්නා සතෙක් හෝ දරුවෙක් සමහරවිට වතුර බොන්න යන්න හෝ වතුර ලබාගන්න කියලා ඒ මිරිඟුවතිබෙන තැනට යන්න උත්සාහ කරනවා. එහෙත් ළඟට යන්න යන්න එය ඈතින් පෙනවා මිසක් එතැන ලංවෙන්නට කවදාවත් හැකිවෙන්නේ නෑ නේද? එහෙම වුනේම ඇයි? එය මායා දර්ශණයක් මිස සැබෑ තත්වයක් නොවෙන නිසාමයි. නේද?

දැන් ගලපන්න අප විග්‍රහ කරගන්න උපමාවට...

ඡායා තුලින් රූප සකසාගෙන ඒ රූප ඇත්ත කියලා විශ්වාස කරගෙන ඒ රූප සත්ව සංඥාවෙන් පුද්ගල සංඥාවෙන් ද්‍රව්‍ය සංඥාවෙන් වස්තු සංඥාවෙන් ඇසුරු කරන්න යෑම මිරිඟුවක් පසු පස වතුර ලබාගන්නට යෑම වගේ තමයි නේද?



ඔබ එසේ විකෘති වූ වරදවා ගත්තාවූ විපරීත වූ සංඥාවකින් ඇසුරු කරන දේ ලැබගැනීම පිණිස යොමුවෙන්න වෙන්න ඔබට තහවුරු වෙන්නේම ඒ සංඥාවමයි. ඇයි? අවිද්‍යාව තියෙන තුරු මේ සංඥාවේ යථාර්තය දැකගන්නට ඔබට නොහැකි නිසාම වතුර ලබන්න මිරිඟුවපසුපස යන්නාට මිරිඟුවහැමදාම තමන්ට ඉදිරියෙන් පෙනෙනවා මිස ඒ තුලට යෑමට ඒ දේ අත්දැකගැනීමට ඒ දේ ලබාගැනීමට කිසිදා නොහැකි වෙනවා. ඡායාවක් බලාගෙන ලැබුවා යැයි සතුටු වෙනවා මිස ඇත්තට ලැබූ දෙයක් නොමැති වෙනවා. හති වැටෙනවා පමණයි. වෙහෙසට පත්වෙනවා පමණයි. දුකට පත්වෙනවා පමණයි.

## ...කෙසෙල් කඳ - 19

එතැනිනුත් හසුනොවන විට මුල්පටන් ගැන්මේ පටන්ම වැරදිලා නම් ඒ ඔස්සේ කියන කරන සිතන සියලු සකස් කිරීම් සංස්කරණ කටයුතු වරදින එක අහන්නත් දෙයක්ද. අනේ එතැනින්වත් අල්ලාගන්නට අනුකම්පාවෙන් යුතුව “සංඛාර කියන්නේ හරියට හරයක් / අරයක් සොයාගෙන කෙසෙල් කඳක් පතුරුගහනවා වගේ” කියලා නුවණින් දැකගන්නට කියලා කිව්වා. රැවටිලා ඡායා රූප කරගෙන රූප ඇත්ත කියලා හිතාගෙන කියන කරන සිතන දේවල් හිස් වැඩපිලිවෙලක් නේන්නම්. මොන හරයක් ලැබේවිද? ඔන්න තෝරාගන්න උපමා සසඳන්න.

මේ උපමාව වටහාගන්නට අපහසු නම් ලෝභකම පැත්තකට දාලා ගෙදර තියෙන කෙසෙල් කඳක් පතුරු ගහලා බලන්න.



කෙසෙල් කඳ පතුරු ගහන කොට සිද්ධ වෙන දේ නුවණින් දැකගන්න. එක පතුරක් ගහනවා ... ලැබුණ දෙයක් නෑ... ඒත් කඳ බැලුවාම නැවතත් ලස්සනට කෙලින් ශක්තිමත් පෙනුමකින් තියෙනවා... ඔන්න ඉතින් ආයෙත් එතැන නම් හරයක් ඇති කියලා පතුරක් ගහන්න හිතෙනවා... ඒකත් ගහනවා ඒත් ලැබෙන දෙයක් නෑ... ඒත් නැවතත් පෙනුම යමක් තියෙනවා වගේමයි... හරයක් ලැබේවි කියලමයි හිතෙන්නේ... අවසාන වෙනකම් ගැහුවාම ලැබෙන දෙයක් නෑ... හිස් බවම පමණයි... හරයෙන් ශූන්‍යයයි... වෙහෙසක් දුකක් මහන්සියක් දැරුවා පමණයි...



කරුමෙක මහත කියන්නේ අපි පතුරු ගසන කෙසෙල් කඳේ පතුරු අවසන් වෙන්නේම නෑ... පතුරු ගසන්න ගසන්න හිතෙන්නේම මතු හරයක් ලැබෙනවාමයි කියලාමයි... අන්න ඒ නිසා යමෙක් නුවණින් තෝරාගැනීම පිණිස යථාවත් දහම පෙන්වා දෙනතෙක් පතුරු ගැසිල්ල අවසන් වෙන්නේ නැතිවෙයි. අන්න ඒ නිසා දැන්වත් නැණවත්ව තීරණයක් ගත යුතුමයි!

වරදවාගත්තාවූ රූප වේදනා සංඥා ඔස්සේ සිතන්න කියන්න කරන්න ගියාම සරලවම ඡායා රූප කරගැනීම තුලම වෙහෙසක් දුකක් බරක් මහන්සියක් ආදී බොහෝ දුක් රැසක්ම හිමිවෙනවා මිස ලැබෙන සාරයක් නෑ... ලැබෙන ප්‍රතිඵලයක් නෑ... හිස් බවම පමණයි... ඔබගේ ජීවිත වල සොයා බලන්න... විමසා බලන්න.. යථාවබෝධය පිණිස කටයුතු කරගන්න...



මොහොතක් සිතන්න... බල්ලෙක් වතුර වලකට එබී තමන්ගේම ඡායාව දැකලා ඒ වතුර වල තුල තවත් වෙනත් බල්ලෙක් ඉන්නවා කියලා රැවටිලා බිරීම ගෙරවීම සපාකන්නට පැනීම මේ සියලූ සිතීම් කිරීම් කිවීම් අර්ථයක් තියෙනවද? සාරවත් ප්‍රථිපලයක් ලැබෙනවද? ඒවගේ දේවල් දැක්කාම අපි අඩු නැතිව හිනා වෙනවා නේද?

සතාට හිනා වුණාට අපිත් කරන්නේ ඒ වගේ දෙයක් කියලා දැනගත්තා නම් ඒ මොහොතේ ඇතිවන ල[ජාවත් මෙතෙකැයි කියන්නට බෑ. මෙච්චර කාලයක් අනුන්ට හිනා වුනේ අන් අයගේ දොස් දැක්කේ තමන් කරපු මෝඩකමේ මහත නොදැක්ක නිසාමයි කියලා දැනෙනවා. තමන්ටත් අනුන්ටත් යහපතක්ම ගෙනදෙන අර්ථවත් ජීවිතයක් මෙන්න මේ දැක්ම නිවැරදි වීම තුල ඉබේම සකස් වෙනවා කිව්වේ ඒ නිසාමයි.

ඉතින් මේ එක අවස්ථාවකින්වත් තෝරාගන්නට නොහැකි නම් "විඤ්ඤාණය මායාකාරයෙක්" කියලා නුවණින් උපමා සසඳා දැකගන්න කිව්වා. මායාව බිඳගන්නට බුදු හිමියන් විසින් මේ ආකාරයේ අපූරු උපමා දුන්නේ කොතරම් අනුකම්පාවකින්දැයි දැනෙන්නේ යමෙක් ධර්මය තුලින් මේ මායාව දැකගන්න මොහොතේම තමයි.

උපමාවට සසඳන්න... ඡායා - රූප බවට පත්වෙලා මායා දර්ශනය මායා සටහන ලැබුනා... ඒ මායා සටහන් නැවත නැවත ඇත්ත නොදැන ඇසුරු කරන විට ඒවාම වර්ථමානයේ පවතින යථාර්ථය ලෙසින් විශ්වාස කරගෙන ඇසුරු කරමින් මායාව ඇත්තක් බවට පත්වී නිත්‍ය සුබ සාරවත් කියන්නාවූ සංඥා වලින්ම ලෝකය නිර්මාණය වෙනවා මිසක් යථාර්ථය මඟ හැරෙනවා.

දැන් හිතන්න ඔබ මැජික් සංදර්ශනයකට ගොස් මායාකරුගේ මැජික් පෙන්වන ක්‍රමය සොයන්නට ඉතාමත් ඉවසීමකින් බොහෝම උනන්දුවකින් විමර්ශණශීලිව කටයුතු කරනවා. අන්න එතකොට ඔබට ඔහුගේ මැජික් දර්ශණ පෙන්වන ක්‍රමය හමුවෙනවා. දැනගන්නට හැකිවෙනවා. මෙච්චර වෙලා ඒ මැජික් වලට පුදුම වෙමින් ඒවාට ප්‍රතිචාර දැක්වූ ඔබට ඒ මැජික් එක සිද්ධ වුනේ මෙන්න මෙහෙමයි කියලා දැනගත්ත ගමන්ම ඒ පුදුමය නැතිවෙනවා නේද? තවදුරටත් එය මැජික් එකක් වෙන්නේ නෑ නේද?





ඒත් ඔබට ඒ මායාකරු කරන මායා දර්ශන තවමත් දැකගන්නට හැකියි. ඒවා වෙනස් වෙලා විකෘති වෙලා පෙන්නේ නෑ. පෙර දුටුවේ යම්සේද ඒ ආකාරයෙන්ම ඒ මැජික් දර්ශන පේනවා. ඒත් දැන් වෙනසකට තියෙන්නේ ඔබ ඒ මැජික් දර්ශන ලැබෙන විදිය එය කරපු ආකාරය දන්නා නිසාම ඔබට එතැන අමුතු මැජික් එකක් දැන් දැනෙන්නේ නැති වීමයි. ඒ නිසාම පුදුමයට පත්වෙලා ප්‍රතිචාර දක්වන්නේ නැතිවෙනවා.

අන්න ඒ ටික තෝරාගන්නට තමයි ඉතාමත් කෙටියෙන් මේ යම් රූපයක්වේද, වේදනාවක් වේද, සංඥාවක්වේද, සංඛාරයක් වේද, විඤ්ඤාණයක් වේද මෙන්න මේ කියන මූලික තත්වයන්ගේ ඇත්ත දැකගන්නට අපූරු උපමා කීපයක් හරහා බුදු හිමියන් විසින් කරුණු කාරණා පෙන්වා දුන්නේ. අන්න එවිට ඒවාට රැවටී ඒවා සමඟ එකතුවෙන ස්වභාවය නතර වේවි. ඒ කියන්නේ පංච ස්කන්ධය නුවණින් අවබෝධකරගත් විට ඒවා උපාදාන කරන ස්වභාවය නිකම්ම නවතිනවා. ඔන්න සියලූ දුකට හේතුවන පංච උපාදානස්කන්ධය නැතිවෙනවා.

මේ උපමා තුල ගැබ්වෙන පොදු අදහසක් තියෙනවා... නුවණින් විමසා දැකගන්න... මේ සියලූ උපමා තුල ඒවායේ ස්වරූපය මායාකාරී ස්වභාවයකින් යුතු බව ගැබ්වෙනවා. ඒ දේ නොදැන ඒවාට දක්වන ප්‍රතිචාරය අනුවම ඒ ඒ උපමාව තුල පෙන්වන පෙණපිඩුව හෝ වේවා දිය බුබුල හෝ වේවා

මිරිඟුව හෝ වේවා කෙසෙල් කඳ හෝ වේවා මායාකරු හෝ වේවා කෙරෙහි වැරදි සංඥා වරදවා වටහාගැනීම් රැසක් ඇතිවී දුකට වෙහෙසට පත්වීමට සිදුවෙනවා. ඒවා භාරගත්තාවූ ආකාරය වරදින්නේ නම් කොතරම් විපරීතයක් සිදුවන්නට හැකිදැයි උපමා තුල පොදු කරුණක් ලෙසින් ගැබ්වන අදහසින්ම තෝරාගැනීමට හැකියි...

ඉතින් මෙන්න මේ ටික බොහෝම සිහියෙන් ප්‍රඥාවන්තව තෝරාගත යුතුයි.

## ...ඡායා රූප කරගැනීම - 21

ඉතින් ඡායා රූප වෙන්නේ කොහොමද කියලා ධර්මයක් තුලින් නුවණින් දැකගන්න විටත් මෙතෙක් කාලයක් රූප වශයෙන් ඇසුරු කලේම වැරදි වැටහීමක් ඔස්සේ ලැබුණ නිර්මාණකරනයක් යන්න නුවණින් දැකගන්නට හැකිවෙනවා.

ඡායා _ රූප කරගත්ත අවස්ථාවේදීමයි රූප පහල වෙන්නේ... ඒ රූප කරගන්න අවස්ථාවේදීමයි ඇස පහල වෙන්නේ. ඇස රූපය පහල වෙන අවස්ථාවේදීමයි චක්ඛු විඤ්ඤාණය ලැබෙන්නේ. ඇසත්, රූපයත්, චක්ඛු විඤ්ඤාණයත් යන අවස්ථා 3ම එකවිට හටගෙන එකවිට පැවතී එකවිටම ඉතිරි නැතිවම ගෙවී යනවා. ඒත් සටහනක් ඉතිරි වෙනවා.

ඒ සටහන ඉතිරි වන අවස්ථාවේදීමයි එය ඇසුරු කරන “මන” සහ ඒ තුලින් ලැබෙන “ධම්ම” පහල වුනේ. ඒ මන සහ ධම්ම නිර්මාණය වන අවස්ථාවේදීමයි මනෝ විඤ්ඤාණය පහල වුනේ. මන, ධම්ම, මනෝ විඤ්ඤාණ යන අවස්ථා 3ම එකවිට හටගෙන එකවිට පැවතී එකවිටම ඉතිරි නැතිවම ගෙවී යනවා. ඒත් ක්ෂණයක් පාසා මේ සිද්ධ වෙන් සිද්ධිය තුලින් සටහනක් ඉතිරි වෙනවා. ඒ සටහනම ඇත්තක් ලෙසින් වර්ථමානයේ ක්‍රියාත්මක යථා තත්වය ලෙසින් වරදවා වටහාගෙන අප ඇසුරු කරනවා.

ඒයි “මෝඩයා!!!” දැන් මොකද වුණේ. මේ වචන පෙල ඇහුණාම ඔබට හිතට කම්පාවක්, ගැටීමක්, තරහක් ආවද? දැන් ඉතින් මේ වචන පෙලේ ඇත්ත මොකක්ද කියලා හොයලා බලන්න සිද්ධ වෙනවා. මේ වචන පෙලේ ඇත්ත තෝරගත්තාම තමන් ගැනම හිනා යාවි ඇත්ත දැක්ක නැති කම නිසා කොච්චර නම් අනුවණ විදියට කරදරද ගොඩකට දුක් ගොඩකට පත්වෙනවද කියලා.

“මෝඩයා” කියන වචන අපට ඇහෙන විදිය පෙන්වන්න මෙච්චර වෙලා අප විසින් විග්‍රහ කරගත්තාවූ දත්තයන්ට අනුව වගුවක් නිර්මාණය කලා. ඔබ දන්නවනේ “මෝඩයා” කියන වචනය කියන්නවත් එය අපට ඇහෙන්නවත් ගත වෙන්නේ කොතරම් නම් සුළු මොහොතක්ද කියලා. කොච්චර ක්ෂණයකින් එය අපිට කියන්න පුළුවන්ද කියලා දැන් ඉතින් හිමීට කියලාම බලන්නකෝ. කොච්චර සුළු මොහොතක්ද ගත වුණේ නේද? ඒ කියන්නේ කෙනෙක් මෙය ඔබට කිව්වොත් කොච්චර නම් සුළු කාලයකින් ඔබ අනන්ත දුක් රැසක් ලබාගන්නට අනන්තව දැවෙන්නට හේතු ඇතිකරගන්නවද?

ඉතින් “මෝඩයා” කියලා වචනය ඇහෙන මොහොතක ඒ අවස්ථාව මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් අතීතයට එකතුවෙන අවස්ථාවන් සමූහයක් ගොඩනැගෙන්නේ කොහොමද කියලා තෝරගනිමුකෝ.

| ආසන්න අතීත මතක සටහන් | ඉතාමත් ආසන්න අතීත මතක සටහන් | සෝත ඉන්ද්‍රිය / කණ | අපිට ඇසෙන වර්ථමාන මොහොත | ආසන්න අනාගතය |
|---|---|---|---|---|
| | | ← | "මෝ" | "ඩයා" |
| | "මෝ" | ← | "ඩ" | "යා" |
| "මෝ" | "ඩ" | ← | "යා" | |
| "මෝ + ඩ" | "යා" | ← | | |
| "මෝ + ඩ + යා" | | ← | | |

ක්ෂණයකින් අප විශ්වාස කරනවා අපිට ඇහුනේ "මෝඩයා" කියන වචනය තමයි කියලා. දැන් ඉතින් තද වෙනවා... තරහා යනවා... ද්වේශයෙන් දැවෙනවා!!!

පළවෙනි තීරුවෙන් පෙන්වන්නේ "ආසන්න අතීතයයි" දෙවෙනි තීරුවෙන් පෙන්වන්නේ "ඉතා ආසන්න අතීතයයි" තුන්වෙනි තීරුවෙන් පෙන්වන්නේ කණ නම් සෝත ඉන්ද්‍රියයි. දැන් කණ කියන්නේ කුමක්දැයි යන්තමට හෝ දන්නවානේ නේද? තුන්වෙනි සහ හතරවෙනි තීරුවෙන් පෙන්වන්නේ ආසන්න අනාගතයේදී ඇසීමට නියමිත ශබ්දයයි.

ඉතින් කව්රුන් හෝ ඔබට "මෝඩයා" කියනවා නම් ඒ ක්ෂණයකදී ඇසෙන වචනය ඔබට ඇසෙන්නේ ඉහත වගුවේ පෙන්වන ආකාරයටයි. මුලින්ම "මෝ" කියන ශබ්දය ඇසෙනවා. භාෂා ඥානය අනුව භාෂාව ඉගෙන ගෙන තියෙන ආකාරය අනුව ඒ ඇසෙන ශබ්ද තරංගය "මෝ" ලෙසින් හඳුනාගන්නවා. ඊළඟට පිළිවෙලින් "ඩ" ශබ්දයත් "යා" ශබ්දයත් ඇසෙන විට ක්ෂණයකින් ඒවා ඒ ඒ ශබ්ද ලෙසින් හඳුනාගන්නවා. මේ ක්‍රියාවලිය ඉතාමත් සීඝ්‍රයෙන් ක්ෂණයකදී සිද්ධ වෙන නිසාම අප විශ්වාස කරන්නේ අපිට මොහොතකදී "මෝඩයා" කියන වචනයක් ඇසුණාය කියලා.

ඒත් ඒ තීරණය ගන්න ක්ෂණයේදී අපිට ඇහුණ ශබ්ද ටික අතීතයට එකතු වෙලා කාලයක් ගත වෙලත් ඉවරයි. ඉතින් මායාවක් වගේ දැනෙන්නේ වචනයක් ඇහුණාය ඒ ඇහුණෙත් මේ මොහොතේමය කියලයි. ඒ විතරක් නෙවේ "මෝඩයා" කියලා කිව්ව පුද්ගලයෙක් ගැන සංඥාවක් ඇතිවෙනවා... "මෝඩයා" කියලා අහගත්ත "මම" කියන පුද්ගල සංඥාවත් ඇතිවෙනවා... ඒත්ඇත්තටම "මෝඩයා" කියලා වචනයක් කියන්නවත් කෙනෙකුට බැනේ. පිටකරන්නේ ශබ්දයක් පමණයි...

අපි ඇත්තටම මේ කථා කරන්නේ වචන කියලා හිතාගෙන හිටියට එහෙම නැති බව නුවණින් දැකිය යුතුයි. මොහොතක් මොහොතක් පාසා කථා කරනවා කියලා ශබ්ද මාලාවක් පිට කරනවා. ඒ ශබ්ද මාලාවට අපි සංකේත දීලා තියෙනවා. ඒ සංකේත තමයි අපි හඳුන්වන්නේ භාෂාවක් කියලා.



ඉතින් ඒ භාෂාව හෙවත් සංකේත ඉගෙන ගත්තොත් තමයි අපිට මේ පිටකරපු ශබ්ද ටික මොකක්ද කියලා තෝරගන්න හැකියාවක් ඇතිවෙන්නේ. හිතන්න මේ වචනයේම අර්ථය රැගත් වචනයක් වෙන භාෂාවකින් කියනවා. ඉන්දියානුවෙක් ඇවිත් ඔබට "බේවකූෆ්" කියනවා. දැන් ඉතින් හින්දි භාෂාව දන්නේ නැතිනම් ඔබ හිනාවෙලා "හා හා හොඳයි හොඳයි" කියලා කියාවි. හින්දි භාෂාව දන්නවා නම් "ආ! මට මෝඩයා කිව්වා" කියලා ගැටේවි.

එහෙනම් ඇයි මේ ඔබ දන්න සංකේත ටිකකට පමණක් ඇලෙන්නේ ගැටෙන්නේ? මෙතැන ගැටලුව සංකේත දැනගැනීම නිසා නොවන බව හොඳින්ම අවබෝධ කරගත යුතුයි. එහෙම නොවුනොත් ඔබ **සංඥා නොගන්නා අසංඥී භාවනාවන්** වඩන්නට තැත් කරන්නට තිබෙන හැකියාව බහුලයි. ඉතින් ඇත්ත නොදන්නාකම කොතරම් බලපෑවද කියලා දැන් පැහැදිලියිද?

ඇත්ත නොදන්නාකම නිසාම බාහිරයෙන් ලැබුණ ශබ්ද සංඥාවක්ය කියලා අදහසක් දැනෙනවා. ඒ ශබ්ද සංඥාව දුන්නේ පුද්ගලයෙක්ය කියලා අදහසක් එනවා. ඒ ශබ්ද සංඥාව ඇසුන දැනුන "මම" ලෙසින් පුද්ගල සංඥාවක් දැනෙනවා. සරලවම බාහිර අභ්‍යන්තර ලෙසින් ලෝකයක් නිර්මාණය වෙලා. ඇසුරු කරන්නේම මතක සටහනක් පමණයි යන සිහිය නැතිවෙලා. **ඉන්නේම අසිහියෙන්...** ඒ නිසා ලැබෙන ප්‍රතිඵලයත් දුක් සහගතයි... වෙහෙසකරයි... දුක් රැසක් උරුම කරන්නට හේතු සකස් වෙනවා.

ඉතිරි නැතිවම ගෙවී යන ස්වභාවය නොදන්නාකම නිසාම පංච ඉන්ද්‍රියයන්ට ගෝචරව අත්දැකගන්නට නොහැකි නිසාම නුවණින්ම විමසා දැකිය යුතු නිසාම අපට වරදිනවා. මෙන්න මේ දේ හොඳින්ම තෝරගත යුතුයි.

ගෙවී ගිය දෙයක මතක සටනක් ඒ මොහොතේ යථාර්ථය ලෙසින් ඇසුරු කරගෙන ඒ මතක සටහනම සැබෑවක් කරගෙන ඒ මතක සටහනට සිත කය වචන ක්‍රියාත්මක කරමින් කටයුතු කරනවා. අවුලක් වෙලා කියලා අනුමාන වශයෙන් හෝ දැන්වත් දැනෙනවද?

## ...මායා ආදරය - 22

කව්රු හරි ඔබට ආදරය කරනවා කියලා කිව්වොත්?

සමහරවිට කෙනෙක් ඔබට ආදරය කරනවා කියලා කිව්ව මොහොතේම "අයියෝ කිව්ව අපරාදේ / කිව්ව මෝඩකම" කියලා පසුතැවෙනවාත් ඇති. ඒත් ඔබ "අනේ මෙයා මට ආදරේ කරනවා, කොච්චර කාලෙක ඉඳන් ආදරේ කරනවා ඇතිද? මෙයා මට ආදරේ කරන්නේ ඇයි දන්නේ නෑ? මේ වගේ කෙනෙක් මට ආදරේ කරනවානේ..."ආදී වශයෙන් කථන්දර ගොඩක් හදාගෙන තව තවත් මේ අවස්ථාව ඇසුරු කරමින් ස්ථිර කරගන්නට පොරකනවාත් ඇති.

| ආසන්න අතීත මතක සටහන් | ඉතාමත් ආසන්න අතීත මතක සටහන් | සෝත ඉන්ද්‍රිය / කණ | අපිට ඇසෙන වර්ථමාන මොහොත | ආසන්න අනාගතය |
|---|---|---|---|---|
| | | ← | "ආ" | "දරය" |
| | "ආ" | ← | "ද" | "රය" |
| "ආ" | "ද" | ← | "ර" | "ය" |
| "ආ + ද" | "ර" | ← | "ය" | |
| "ආ + ද + ර" | "ය" | ← | | |
| "ආ + ද + ර + ය" | | ← | | |
| ක්ෂණයකින් අප විශ්වාස කරනවා අපිට ඇහුනේ "ආදරය" කියන වචනය තමයි කියලා. දැන් ඉතින් හැඟීමක් ඇතිවෙනවා… වින්දනයක් ලබනවා… ඇලීමක් හටගන්නවා… බැඳෙනවා!!! | | | | |

ඔය ඔක්කෝම කියලා "මමත් ඔයාට ආදරෙයි" කියන්න හදනකොටම අර මනුස්සයා කිව්වොත් "අයියෝ, සමාවෙන්න වැරදීමක් මම නිකමට වගේ කිව්වේ… ඔයාට ආදරේ කරන්න මට පිස්සු නෑ" කියලා? දැන් ඉතින් දුක හිතෙනවද නැත්ද?

දුක හිතුණේ ඇයි එහෙනම්? එහෙනම් මොනවටද ඇත්තටම මේ ඇලෙන්නේ බැඳෙන්නේ? මොනවටද ඇත්තටම අපි මේ ගැටෙන්නේ? මොනවද ඇත්තටම මේ ඇලෙන්නවත් ගැටෙන්නවත් තියෙන්නේ? මායාව නොදැක්ක මනසක ඇතිවෙන මායාවක් එක්කයි මේ හැම දෙයක්ම කරන්නේ. අපේම මනසේ සිරකරුවෝ වෙලා. අපේ මනස විසින්ම අපිව මායාවකට හසුකරගෙන. හොඳින් හිතලා බලන්න හැම අවස්ථාවක්ම පිළිබඳව. ඔබට වටහාගන්නට යම්තම් හෝ හැකිවේවි.

මොන අවස්ථාවක් ගත්තත් එකම සිද්ධාන්තය තමයි සිද්ධ වෙන්නේ…



ඇවිද්දත්… නැටුවත්… කෑවත්… බිව්වත්… සෑම මොහොතකම ඔබ යථාර්ථය ලෙසින් අත්දකිමින් ඉන්නේ මෙන්න මේ හීන ලෝකයේමයි… දැන්වත් නැගිටිමු නේද?

ඉතින් මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් අතීතයට එකතු වන අවස්ථා සමූහයකින් යම් යම් මොහොතක් ගෙන එය සටහන් කරගෙන ඒ සටහන ඇත්තක් සේ අත්දකිමින් රැවටී සිටින අපි මායාවක හසුවෙලා ඉන්නවා. ඉතින් මේ දකින රූප වල, ඇහෙන ශබ්ද වල, දැනෙන ගන්ධයන්ගේ රසයන්ගේ ස්පර්ශයන්ගේ යථා ස්වභාවය සුළු වශයෙන් මේ හැම තැනකදීම අපි කථා කලා. මේ දේම තමයි සෑම සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තුවකටම පොදු ලෙසින් අප සිදු කරන්නේ.

ඔබට කැමැති රූපය අත්දැකගැනීම පිණිස තමයි මේ නිර්මාණයකරන සිද්ධ වෙන්නේ. ඒත් ඉතින් මුල පටන්ගෙනම කැමැත්ත ඉෂ්ඨ වෙලා නෑ. රැවටිලා පමණයි. අන්න ඒ නිසා දුකට පත්වෙන්නට සිද්ධ වෙනවාමයි.

ටිකක් හිතන්න ඡායාරූප ශිල්පියෙක් තමන් ගත්ත ඡායාරූපය තුල ඇත්තටම සත්තු ඉන්නවා, පුද්ගලයෝ ඉන්නවා, ද්‍රව්‍ය වස්තු තියෙනවා කියලා අදහස් අරගෙන ඒ ඡායාරූපය සමඟ ඇලෙන්නට ගැටෙන්නට බැඳෙන්නට කටයුතු කරනවා නම් එය පිස්සුවක් නෙවේද? ඒ ඡායාරූප ගිනි ගන්නා විට ඒවායේ ඉන්න සත්ව පුද්ගල ද්‍රව්‍ය වස්තු ගිනි ගන්නවා කියලා හිතුනොත් පිස්සුවක් නොවේද? ඒ ඡායාරූපයේ ඉන්න සත්ව පුද්ගල ද්‍රව්‍ය වස්තු වලට ඝණ, ද්‍රව, වායු, උෂ්ණ සංඥාවෙන් ඔබ ගන්නවා නම් ඒවා අල්ලන්නට විඳින්නට හැකියි කියලා ඔබට හිතෙනවා නම්.... පිස්සුවක් නොවේද?



උදාහරණයකට හිතන්න කෙනෙක් තමන් ප්‍රිය කරන නළුවාගේ හෝ නිළියගේ හෝ වේවා තමන්ගේ පෙම්වතාගේ හෝ පෙම්වතියගේ හෝ වේවා තමන් ආදරය කරන්නාවූ වෙනත් අයෙකුගේ හෝ වේවා ඡායාරූපයක් බදාගෙන එය සිප වැළඳගනිමින් එයත් සමඟින් කථා කරමින් එයත් සමඟ ආදරයෙන් බැඳෙමින් එයත් සමඟ තරහා වෙමින් සරලවම අප ඇත්ත දෙයක් ඔස්සේ කියනවා, කරනවා, සිතනවා කියලා හිතන්නාවූ සෑම දෙයක්ම ඒ ඡායාරූපයක් සමඟ කරනවා නම් ඔබට ඒ ගැන මොකද හිතෙන්නේ? මොන පිස්සුවක්ද... මහා පිස්සෙක් කියලා හිතෙන්නේ නැත්ද?

ඔන්න “සබ්බේ පෘතග්ජනා උම්මන්තකා - සියලු පෘතග්ජනයෝ උම්මත්තකයෝය” කියලා විටෙක බුදු හිමියන් පැවසුවා. හේතුව දැන් පැහැදිලිත් ඇති. ඒත් කමක් නෑ කෙටියෙන් ඒ කිව්වේ ඇයි කියලා කියනවා නම් උපමාව තුල ඡායාරූපයක් ඇත්ත තත්වයක් ලෙසින් පිළිගෙන විශ්වාස කරගෙන සිතුම් කියුම් කෙරුම් කලා වගේ මොහොතක් පාසා අවිද්‍යාව තිබෙනතාක් අප තුල සිද්ධ වෙන්නේත් මේ කියන ඡායාරූපයක් සමඟ ගනුදෙනු කරන ස්වභාවයක්ම පමණයි.

මේ අපි ඇත්තක් සමඟ කියනවා කරනවා සිතනවා යැයි සිතාගෙන සිටින ඇත්ත හෙවත් වර්ථමානය ඉතාමත් වේගයෙන් මොහොතක් පාසා අතීතයට එකතු වෙන අතීත මතක සටහනක්ම පමණයි. එහෙත් එහි වේගය නිසා ඒ තත්වය අත්දැකගන්නට පංච ඉන්ද්‍රියයන්ට නොහැකි වෙනවා. අන්න ඒ නිසා ධර්මය තුලින් නුවණින් මෙන්න මේ වේගය සහ එය සිදුවන ආකාරය නුවණින් දැකගන්නවා. මොහොතක් පාසා ඡායා රූප කරගනිමින් ඡායාරූප පටිගත කරගන්නවා යැයි හඳුනාගන්නවා.

ටිකක් හිතන්න... කෙටියෙන් කියනවා නම් ඔබ ඔය ඔබ යැයි සිතාගෙන සිටින “මම” ලෙසින් සිතාගෙන සිටින ඇස, කණ, දිව, නාසය, කය සහිත තත්වයත් නොදන්නාකම නිසාම ලැබුණ රූපයක් පමණමයි එතැනින් එහාට ගිය අමුතු දෙයක් නෑ කියලා වැටහෙනකොට ඔබට මොනවා හිතේවිද?



මෙච්චර කාලයක් "මම" කියලා හිතාගෙන හිටියෙත් අන් කවරකටවත් නොවේ ධර්මයේ විග්‍රහ වන ඇස, කණ, දිව, නාසය, කය සහ මනට ගෝචර වන රූපාකාරයක්ම පමණයි ඇත්ත නොදන්නාකම නිසාම එයට පුද්ගල සංඥාවක් සණ සංඥාවක් ආදී දැ දෙමින් රැවටුණ තරම වැටහෙනවා නම්... ඒ තරමින් අතහැරීම මිදීම සිද්ධ වෙනවා... මමත්වය එන්න එන්නම නැතිවෙනවා...

මේ දේවල් පංච ඉන්ද්‍රියයන්ට ගෝචර දේවල් නොවන බව ඔබටම පැහැදිලි ඇති. අන්න ඒ නිසා බුදු වදන සිහිපත් කරගන්න. "මාගේ ධර්මය ප්‍රඥාවන්තයින් පිණිස බව" උන්වහන්සේ පෙන්වා දුන්නේ මේ දේවල් තෝරාගත යුත්තේ නුවණින්ම වන නිසාමයි.

මේ ඇත්තක් ලෙසින් පිළිගෙන විශ්වාස කරගෙන කටයුතු කරන්නේම මායාවකටයි කියන අවබෝධය තුලින්ම එතෙක් කාලයක් උඩු යටිකුරු වෙලා තිබ්බ දෙයක් නිවැරදි අතට පෙරලෙනවා... එතෙක් කාලයක් අඳුරේ අතපතගාමින් සිටි දේ හසුවන ආලෝකය පහල වෙනවා... පෙර නොඇසූ විරූ දහමක් ලෝකයක් තමන් තුලම පවතින බව අවබෝධ වෙනවා. එච්චර කාලයක් පිස්සුවෙන් ඇත්ත කරගත්තාවූ තත්වයන්ගේ යථාර්ථය කුමක්දැයි අවබෝධ වෙනවා. සැක සංකා දුරු වෙලා මේ මායාවක් ඇත්ත කරගනිමින් කරන කටයුත්ත නවතා දමන මාර්ගය පෑදෙනවා.

## ...අසහනය වෙහෙස - 23

දැන් නැවත සිහිපත් කරන්න... කැමරාව කියන උපකරණය හෝ එයට තිබූ පෙනීමේ හැකියාව ගැටලුවක් වුණාද? නෑ! එය කරදරයක් වුණාද? නෑ! එතැන මහන්සියක් වෙහෙසක් ගැබ්වුණාද? නෑ! බරක් ගැබ්වුණාද? නෑ! පෙළීමක් ගැබ්වුණාද? නෑ!

එතකොට ඒ කැමරාව කියන උපකරණය භාවිතයට ඡායාරූප ශිල්පියෙක් ඉදිරිපත් වුණා. දැන් ටිකක් විතර කරදරයක් මහන්සියක් වෙහෙසක් බරක් පෙළීමක් ගැබ්වෙන්න පටන්ගන්නවා! ඇයි? ඒ එකතුව තුල යම් යම් කටයුතු ටිකක් ක්‍රියාත්මක වන නිසා. මෙන්න මේ අවස්ථාව තුලදී තමයි අවිද්‍යාව ඇති කෙනෙකුට අවිද්‍යාව ක්‍රියාත්මක වීමෙන් ඡායාරූපකරණයේ යෙදීමේ තීරණය ලැබෙන්නේ. එතකොට අවිද්‍යාව ප්‍රහීණ කල අරිහතුන්වහන්සේ විසින් ඡායාරූපකරණයේ අවබෝධයෙන් යුතුව යෙදෙන්නේ මේ සිද්ධ වන සිද්ධිය නුවණින් ප්‍රත්‍යක්ෂ වශයෙන් අවබෝධ කරගත් නිසාම ඒ තුල ප්‍රඥාව ක්‍රියාත්මක වීමෙන්මයි.

උන්වහන්සේගේ මෙන්න මේ විපාක වශයෙන් කටයුතු සිදුවීමේදී සිදුවන තත්වය දන්නා නිසාම ප්‍රත්‍යක්ෂ නුවණකින් එය දකින නිසාම ඒ තුල ඇතිවන වෙහෙස බර මහන්සිය පෙළීම දන්නා නිසාම ඒ තත්වය මඟහරවා ගැනීම පිණිස නැතිවීම පිණිස තමයි අරිහත්වයෙන් පසුවත් ලෝකයේ යතාර්ථය නැවත නැවත මෙනෙහි කරනවා කියලා කියන්නේ. ඒ කිව්වේ මෙන්න මේ සිද්ධිය වෙනවා කියලා දැකීමම තමයි තවත් ආකාරයකින් ලෝකය "අනිච්ච දුක්ඛ අනත්ත" වශයෙන් දකිනවා කියලා කියන්නේ. එහෙම නැතිව වචන කීපයක් මෙනෙහි කර කර කියවන්නට යෙදෙනවා නොවෙයි.

දැන් මෙතැනදීත් පැහැදිලි ඇති සුපිරිසිදු අවස්ථාවක් යටතේ සිත, කය, වචනය කියන දේ ක්‍රියාත්මක වෙන්නේ නෑ. ඒ තත්වය තුල ජීවිතයක් පවත්වාගන්නට නොහැකියි. අන්න ඒ නිසා අරිහත්වයෙන් පසුවත් කටයුතු කරගෙන යෑම පිණිස යෙදෙන විපාක සිත කියන අවස්ථාව තිබෙනවා.

ඒ විපාක සිතත් සමඟ සෑම මොහොතකම ප්‍රඥාව ගැබ්වෙන නිසාම අරිහත්වයෙන් පසුව සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කියන හඳුනාගැනීමේ ස්වභාවය තණ්හාවක් සමඟ යෙදී උපාදාන වෙමින් නැවත භවයක් සෑදීමට තරම් ප්‍රබල වෙන්නේ නෑ. තැන තැන හා වෙන්නේ නෑ. හා වෙන්නට ස්ථිර වශයෙන් පවතින යමක් බලාපොරොත්තුවට කැමැත්තට අනුව ලැබෙන යමක් නැති බව දන්නවා. අන්න ඒ නිසාම හා වෙන්නට දෙයක් ලැබෙන්නේ නෑ.

එහිදී නිර්මාණය වන විඤ්ඤාන අවස්ථාව පංච ස්කන්ධයේ තුල තිබෙන්නාවූ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ අවස්තාවේ යෙදෙන මූලික විඤ්ඤාණ අවස්ථාව මිසක් අවිද්‍යාව ගැබ්වී ක්‍රියාත්මක වන විඤ්ඤාණ අවස්ථාවට පත්වෙන්නේ නෑ. ඒ කියන්නේ මූලික මායාවක් දකින අවස්ථාව පමණයි. ඇයි ඡායා - රූප වෙලාමයි පේන්නේ එය නවත්වන්නට නොහැකියි. එයත් සාමාන්‍ය තත්වයක් නොවන බව දැන් ඔබට යන්තමට හෝ වැටහෙනවා ඇති. අන්න ඒ අවස්ථාව තුල යෙදෙන විඤ්ඤාණ කියන අවස්ථාව තමයි මෙතැනදී කියන්නේ.

එතැනදී මනට ධර්ම ලෙසින් සකස් වෙන මනෝ විඤ්ඤාණ ස්වභාවය තුල නොදැනුවත්කම මුල්වී වැරදි වැටහීම් සහිත සකස් වීම් සිදුවන්නේ නෑ. ඡායාරූප ශිල්පියෙක් ඡායාරූපයක් ගන්නේ නැතිව කැමරාව තුලින් ලෝකය දකිමින් එය භාවිතා කරනවා වගේ අවස්ථාවක් තමයි එවැනි අවස්ථාව.

අභිධර්මයේ චිත්ත විථියක් ලෙසින් කොටසක් විස්තර වෙනවා. ඒ කියන්නේ ක්ෂණයක් පාසා අප මෙපමණක වෙලාවක් කතා කරපු ධර්මය ක්‍රියාත්මක වී සිත සකස් වෙන ආකාරය පිළිබඳව තමයි එයින් පෙන්වන්නේ.

1. භවාංග, 2. භවාංග චලන, 3. භවාංග උපච්ඡේද, 4. පංචද්වාර ආවර්ජන, 5. විඤ්ඤාණ, 6. සම්පටිච්ඡන, 7. සංතීරණ, 8. වොත්තථන, 9. 1වන ජවන, 10. 2වන ජවන, 11. 3වන ජවන, 12. 4වන ජවන, 13. 5වන ජවන, 14. 6වන ජවන, 15. 7වන ජවන, 16. සහ 17. තදාලම්භන චිත්තක්ෂණ

ඉතින් මෙය උපමාවට සසඳනවා නම් ඡායාරූප ශිල්පියා කැමරාව අතැතිව ඒ තුලින් බාහිරය බලන අවස්ථාව හරියට මෙහි 8 වෙනි අවස්ථාව දක්වා හෙවත් වොත්තපන අවස්ථාව දක්වා සිදුවන ඡායා - රූප කර දැක හඳුනාගන්නා අවස්ථාව වන තෙක් සිද්ධ වන අවස්ථාවයි.

ඒ දකින්නාවූ රූප කෙරෙහි යථාවබෝධය නොමැති විට ඒ සකස් කරගත්තාවූ රූප නිත්‍ය සංඥාවකින් යුතුව භාරගෙන බාහිරයේ පවතින්නාවූ රූප යැයි විශ්වාසය ගොඩනැගීම තුලින් 8 වෙනි අවස්ථාවේදී ගන්නා තීරණය සසර පැවැත්ම සකස් කිරීම පිණිස හෝ සකස් නොකිරීමට හේතු වෙනවා.

අරිහතුන්වහන්සේ යනු මේ සිද්ධිය නුවණින් ප්‍රත්‍යක්ෂ වශයෙන් දැක අවබෝධ කරගෙන සිටින්නෙක් නිසා මේ 8වෙනි අවස්ථාව වන වොත්තථන අවස්ථාවේදී සැපයක් ලෙසින් දුකක් ලෙසින් සැප දුක නැති මධ්‍යස්ථ ලෙසින් හෝ ප්‍රතිචාර දැක්වීමට තරම් සුදුසු දෙයක් නොවේ යන්න තමයි ලැබෙන තීරණය. ඒ නිසා එතැනින් එහාට ශක්තියක් සකස් කරන්නේ නෑ.

ඒ කියන්නේ ඒ ජවන චිත්තක්ෂණ බලයක් රහිත බල ශූන්‍ය අවස්ථාවක් ලෙසටයි ක්‍රියාත්මක වෙන්නේ.

එහෙත් ඒ ඇත්ත නොදන්නාකෙනෙක් නම් මේ අවස්ථාවේදී ගන්නා තීරණය තමයි ප්‍රතිචාර දැක්විය යුතුයි යන්න. ප්‍රතිඵලය ලෙසින් ඡායාරූපයක් සටහන් කරගෙන ඒ ඡායාරූපය සැබෑවක් ලෙසින් වරදවා වටහාගෙන එයට ඇලීම, ගැටීම හෝ මධ්‍යස්ථ ලෙසින් ප්‍රතිචාර දැක්වීම සිද්ධ වෙනවා. ඒ අනුව යහපත් හෝ අයහපත් හෝ මධ්‍යස්ථ ලෙසින් ප්‍රතිචාර දැක්වීම තමයි ජවන 7ක් ක්‍රියාත්මක වීම තුලින් පෙන්වන්නේ.



ලෝභ ද්වේශ මෝහ හෝ අලෝභ අද්වේශ අමෝහ හෝ ලෙසින් දැක්වූ ප්‍රතිචාරය තමයි ජවන තුල ගැබ්වෙන්නේ. අවිද්‍යාව දුරු නොකල සිතක ප්‍රඥා චෛතසිකය බලවත් නැති නිසාම මේ කියන වොත්තථන අවස්ථාවේදී ලෝභ, ද්වේශ, මෝහ හෝ අලෝභ, අද්වේශ, අමෝහ චෛතසික මුල්වී ජවන් සිත් මඟින් ශක්තිය මුදාහරිනවා. ඒ අනුව තීරණය ලැබෙනවා. 16 සහ 17 වෙනි අවස්ථාවෙන් තදින් බැඳෙන්නට යෙදෙනවා හෙවත් ස්ථිර කරගන්නවා යන්නෙන් පෙන්වන්නේ ඒ ලැබෙන ප්‍රතිඵලය තමයි.

ඉතින් මේ න්‍යාය ධර්මය බව තෝරාගත යුතුයි. මෙය නුවණින් අවබෝධ කරගන්නවා විනා මෙය දැකගන්නට හැකි එකම උත්තමයා සම්මා සම්බුදු කෙනෙක් පමණමයි. මේ කරුණ එකතු කලේ මෙතෙක් කතා කල දෑ සිතක් ක්‍රියාත්මක වන විට ඒ ඒ අවස්ථාවට ගැලපෙන්නේ කෙසේදැයි ඉතාමත් කෙටියෙන් පහදා දීමටම පමණයි.

## ...ආශ්වාදය පසුපස දුක - 24

ඉතින් උපමාව තව දුරටත් නුවණින් දැකගෙන සියුම් අවස්ථාවන් විග්‍රහ කරගන්නට යොමුවෙමු.

ඡායාරූප ශිල්පියා විසින් වෙහෙසක් දරලා මහන්සියක් වෙලා බරක් සහිතව පෙළීමක් සහිතව දුක් කරදර රැසක් සහිතව යම් රාමුවක් රූගත කරගන්නවා. ඒ සියලූ දුක් පෙළීම් කරදර බර මහන්සිය ආදී දුක් රැස ආවේ කලාත්මක ඇස පහල කරගෙන කලාත්මක රූපය පහල කරගෙන කලාත්මක ඡායාරූපය කියන ප්‍රතිඵලය ලබාගැනීම කියන අවස්ථාව තුලයි. බොහෝ වෙහෙසක් මහන්සියක් සහිත දුකසේ යම් කටයුත්තක් සිද්ධ වුණා.

ඒත් අවුලක් ඇතිවෙනවා. මොකක්ද? ඒ දුක වෙහෙස මහන්සිය අසහනය සහිත අනන්ත දුක යටපත්වෙලා ආශ්වාදය මාත්‍රය ගොඩනැගෙනවා. කුමක් තුලින්ද? ඡායාරූප ශිල්පියා ඡායාරූපය පටිගත කරගත්ත ගමන් එය පටිගත වෙලා තියෙන ආකාරය දැකගෙන සතුටු වෙනවා. නියම ඡායාරූපයක් කියලා. එහෙමත් නැතිනම් වැඩකට නැති කැත ඡායාරූපයක් කියලා ගැටෙනවා. එහෙමත් නැතිනම් මේ අවස්ථාවන් දෙකටම පත්නොවී ඡායාරූපයක්ය කියලා අදහස් ගන්නවා. මේ අවස්ථා 3 තුලම ආශ්වාද මාත්‍රය කියන අවස්ථාව ගැබ්වෙනවා.

හොඳයි කියන සතුටු වීම තුල සතුටු හැඟීමේ උපරිමය ආශ්වාද අවස්ථාවයි. හොඳ නෑ කියන ගැටීම තුල ගැටීම් හැඟීමේ උපරිමය ආශ්වාද අවස්ථාවයි. සාමාන්‍ය ඡායාරූපයක් ලෙසින් උපේක්ෂා අවස්ථාවට පත්වීමේදී ඒ උපෙක්ෂා හැඟීමේ උපරිමය එහි ආශ්වාද අවස්ථාවයි.

මෙන්න මේ ආශ්වාද අවස්ථාව නිසාම මේ කටයුත්ත තුල ගැබ්වී තිබූ සියලූ දුක් අසහනයන් යටපත්වෙනවා. ඒ ගැන සිහියක් නැතිවෙනවා. ප්‍රතිපලය පවතින්නක් ලෙසින්ම ස්ථිර සංඥා ඇතිව නිත්‍ය හැඟීමෙන් යුතුව ලැබෙනවා. දුක් අසහනයන් යටපත්වූ නිසාම එය දැකගන්නට නොහැකි වූ නිසාම ඒ ඒ ලැබෙන්නාවූ අවස්ථාවන් සැපයක් වශයෙන්මයි හැඟීම ඇතිවෙන්නේ.

මේ නිත්‍ය සැප හෙවත් බලාපොරොත්තු වූ පරිදි ඡායාරූපයක් ලැබුණාය කියන හැඟීම නිසාම සාරත්වය කියන හැඟීම එකදිගට පවතින්නාවූ පොදියක් වශයෙන්ම පවතින්නාවූ වටිනාකමක් දීමට සුදුසු අවස්ථාවක්ය කියන සංඥාව හැඟීම උපදිනවා.

ආශ්වාද පසු පස හඹා යෑම තුලින් දුක උරුම වෙනවා යැයි පවසනවා. ඒත් එය වෙන්නේ කොහොමද කියලා අප දැනගත යුතුයි. නැතිනම් ආශ්වාදය මතුපිට අර්ථයකින් ගෙන හැමදාම රැවටිලා තමයි ඉන්නට සිද්ධ වෙන්නේ.

මිනිසෙක් උපතේ සිට ක්‍රමයෙන් වැඩෙමින් තරුණ බවට පත්වී මැදිවියට පත්වී මරණයට පත්වීම කියන්නාවූ අවස්ථාවන් තුල තරුණ බවට පත්වූ කාලය තමයි ඒ සිද්ධියේ උච්චතම අවස්ථාව හෙවත් ආශ්වාද අවස්ථාව ලෙසින් අප හඳුනාගන්නේ. මෙන්න මේ ආකාරයට සෑම මොහොතකම "උදයංගම, අත්තංගම, ආශ්වාද, ආදීනව, නිස්සරණ" කියන්නාවූ අවස්ථාවන් රැස උදාවෙමින් පැවතී වැයවීමට ලක්වෙනවා. අන්න එවන්වූ වැඩපිලිවෙලක් සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ලෙසින් මැනගැනීම් සිදුකරගැනීම තුලින් "මම, මගේ" ලෙසින් වටිනාකම් ලැබීම තුල තමයි මේ අවුල සිද්ධ වෙන්නේ.




ඉතින් ඕනෑම රූපයක ඒ කියන්නේ:චක්ඛු රූප – රූප රූප, සෝත රූප – ශබ්ද රූප, ඝාණ රූප – ගන්ධ රූප, ජිව්හා රූප – රස රූප, කාය රූප – පොට්ඨබ්බ රූප, මනෝ රූප – ධම්ම රූප කියන්නාවූ මේ සියලූ රූපයන් සකස් වෙන්නේම සහ ඒවායේ ධර්මතාවය වන්නේම මේ කියන්නාවූ උදයංගම, අත්තංගම, ආශ්වාද, ආදීනව, නිස්සරණ කියන්නාවූ අවස්ථාවන් ක්‍රියාත්මක වන වැඩපිලිවෙල බව නුවණින් දැක පැහැදිලි කරගත යුතු වෙනවා.

සරලවම කියනවා නම් "ලෝකය"ක් ලෙසින් සකස් කරන්නාවූ ඕනෑම සංඛතයක් තුල මේ කියන අවස්ථාවන් 5 අනිවාර්යෙන්ම ගැබ්වෙනවා. ඡායා – රූප කරගෙන නොනැවතී ඒ රූප සමඟහාදවෙන්නට පටන්ගත්තාවූ මොහොතේ පටන්ගෙන ලෝකය නිර්මාණය වෙනවා. අන්න ඒ ලෝකය තුල හටගන්නා ආශ්වාද අවස්ථාවට ප්‍රතිචාර දැක්වීම තුල තමයි දුකට පත්වීමට හේතු වෙන්නේ. ඉතින් නිවීමට පමණයි මෙය අදාල වෙන්නේ නැත්තේ. එයට හේතුව එය හේතුවකින් සකස් වන්නක් නොවන නිසාමයි.

එවිට මේ කියන්නාවූ චක්ඛු රූපය හෝ රූප රූපය වැනි සියලූ රූපාකාරයන් ප්‍රිය වුණත් මධුර වුවත් අප්‍රිය වුවත් අමධුර වුවත් ඒ සෑම අවස්ථාවකදීම ඒ ඒ රූපයන් තුල ආශ්වාද අවස්ථාව හෙවත් ඒ රූපයේ උච්චතම අවස්ථාවක් අත්දැකගන්නට හැකිවෙනවා.

,ලෝකය, යථාවත් ලෙසින් අවබෝධ කර නොගන්නා තාක් මෙන්න මේ කියන්නාවූ "උදයංගම, අත්තංගම, ආශ්වාද, ආදීනව, නිස්සරණ" වැඩපිළිවෙල නොදැන නොදැක එහි ආශ්වාද අවස්ථාවට ප්‍රතිචාර දැක්වීම සිද්ධ වෙනවා.

- 1. ඒ ප්‍රතිචාරය විටෙක ඇලීමක් බැඳීමක් විය හැකියි...
- 2. විටෙක ගැටීමක් ද්වේශයක් විය හැකියි...
- 3. විටෙක ඇලීමක් ගැටීමක් නැති මෝහය ගැබ්වූ උපේක්ෂා සහගත මධ්‍යස්ථ ප්‍රතිචාරයක් විය හැකියි.

ඉතින් ආශ්වාදය පසු පස හඹා යෑම කියන්නේම ඉහත විස්තර කල 3 ආකාරයට ප්‍රතිචාර දැක්වීමයි.

විටෙක බුදු හිමියන් පෙන්වා දෙනවා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංච ස්කන්ධය උපාදාන කිරීම තුලින් ඇතිවන සුඛ සෝමනස්ස ස්වභාවය ඒ ඒ දෑහි ආශ්වාද ස්වභාවය බව. ඉතින් යමෙක් විසින් පද අර්ථයන් ඉක්මවා නිසි අවබෝධයෙන් යුතුව ධර්මය දකින්නේද අන්න එහිදී මේ කියන "සුඛ සෝමනස්ස" ස්වභාවය යනු අන් කවරක්වත් නොව ඉහත පෙන්වා දුන්නාවූ ආකාර 3කට ප්‍රතිචාර දක්වන ස්වභාවයමයැයි නුවණින් දැකගන්නට හැකිවේවි.

ඒ වගේම බුදු හිමියන් පෙන්වා දෙනවා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංච ස්කන්ධය උපාදාන කිරීම තුල තිබෙන්නාවූ අනිච්ච, දුක්ඛ, විපරිණාමධම්ම කියන්නාවූ ස්වභාවයම ඒවායේ "ආදීනවය" ලෙසින් අවබෝධකලයුතු බව.

මේ ඉහත කරුණු පෙන්වා දෙන්නාවූ සූත්‍ර දේශනා ඇසුරු කිරීමට සූත්‍ර පිඨකය < සංයුත්ත නිකාය 3 < ඛන්ධ සංයුත්තය < 3. භාර වග්ගය < 5 / 6/ 7 ලෙසින් පඨම, දුතිය, තතිය අස්සාද සූත්‍ර ලෙසින් සූත්‍ර දේශනා 3ක් තිබෙනවා < පිටුව 50 – 55 (පී.ඩී.ෆ් 77 – 81) කොටස් කියවා බලන්නට ඔබට හැකියි.

යම් අවස්ථාවක උච්චතම අවස්ථාව හෙවත් "ආශ්වාද" අවස්ථාවට ඉහත ආකාරයෙන් ප්‍රතිචාර දැක්වීම තුලම ගැබ්වෙන්නේ යථාර්ථය නොදන්නාකමයි. තවත් ආකාරයකින් කියනවා නම් "අවිද්‍යාව" මුල්වී පටිච්ච සමුප්පාද චක්‍රයන් ක්‍රියාත්මක වීම සිද්ධ වෙනවා.

"අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, ජරාමරණ, සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාසා සම්භවන්ති - ඒව මේතස්ස කේවලස්ස දුක්ඛක්ඛන්ධස්ස සමුදයෝ හෝති" හෙවත් "සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ආදී මෙසේ සියලූ දුක් රැස පහලවේ!" යන ධර්ම සිද්ධාන්තයම ක්‍රියාත්මක වෙනවා. ලෝකය නිර්මාණය වීම තුල ඇතිවන දුක් රැස උරුම වෙනවා. "ආශ්වාදයෙන්" පසුව "ආදීනවය" උරුමයක් ලෙසින් ලැබෙනවා.

එතකොට "අනිච්ච දුක්ඛ අනත්ත විපරිණාමධම්ම" ආදී ලෙසින් යමෙක් ලෝකය දකිනවා කියන්නේම මේ කියන්නාවූ පටිච්ච සමුප්පාද හෙවත් හේතු ඵල සකස් වෙන ක්‍රමරටාව නුවණින් දැකගැනීමමයි. නොදැනුවත්කම මුල්ව ක්‍රියාත්මක වන මේ සිද්ධිය දැකගැනීම තුල සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු දෘෂ්ඨීන්ගෙන් නැතිවන ආකාරයට හෙවත් "මම, මගේ, මගේ ආත්මය" ලෙසින් වටිනාකම් නොදෙන ආකාරයට ලෝකය අවබෝධකරගැනීම සිද්ධ වෙනවා.

ඒ කියන්නේ හේතු සකස් වෙන ආකාරය දැකීම තුලින්ම තමයි හේතු නැවත සකස් නොවන ආකාරයට කටයුතු කිරීම හෙවත් හේතු නිරෝධය අවබෝධ කරගන්නට හැකිවෙන්නේ. ඒ දේ යථාවත් ලෙසින් අවබෝධ කරනොගතහොත් නැවත නැවතත් මේ ක්‍රියාවලියට යටත්ව දුක උරුම කරගැනීමට සිදුවෙනවා.

අන්න ඒ නිසා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංචඋපාදනස්කන්ධයන්හි "ඡන්දරාගය විනය", "ඡන්දරාග ප්‍රහාණය" හෙවත් ඒවායේ "නිස්සරණය" බව අවබෝධ කල යුතුයි යන්න බුදු හිමියන් විසින්ම පෙන්වා දෙනවා.

ඒ වගේම රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංචස්කන්ධය උපාදාන වන්නේම මේවායේ පවතින ආශ්වාද අවස්ථාව නිසාම බව තවත් අවස්ථාවක බොහෝම පැහැදිලිව පෙන්වා දෙනවා.

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංචස්කන්ධය උපාදාන වීම තුල යම් ආදීනවයක් තිබුනේ නැතිනම් එය අවබෝධ නොකලේ නම් සත්වයාට මේවායෙන් මිදීම පිණිස අවශ්‍ය කරන්නාවූ කලකිරීම ඇතිනොවන බවද පෙන්වා දෙනවා. ඒවාගේම මේ අවස්ථාවන්ට යම් හෙයකින් නිස්සරණය කියන්නාවූ අවස්ථාව නොයෙදුනේ නම් කිසිදිනක මේවායෙන් මිදීමක් නික්මයාමක් සිදුනොවන බවත් ඒ නිස්සරණ අවස්ථාව තිබෙන නිසාම ඒවායෙන් මිදීමක් නික්මයාමක් විද්‍යාමාන වන බවද පෙන්වා දෙනවා.

## ...ආශ්වාද, ආදීනව, නිස්සරණ - 25

මේ දේ ඉතාමත් කෙටියෙන් ගැඹුරු විග්‍රහයක් කර දෙන්නට උත්සාහ කරන්නම්.

1.රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංචස්කන්ධය උපාදාන වන්නේම මේවායේ පවතින ආශ්වාද අවස්ථාව නිසාම බව තවත් අවස්ථාවක බොහෝම පැහැදිලිව පෙන්වා දෙනවා.

ආශ්වාද අවස්ථාව කිව්වේ තවත් ආකාරයට රූපයේ ඇත්ත නොදන්නා කම නිසාම සුව වශයෙන් දුක් වශයෙන් හෝ මධ්‍යස්ත වශයෙන් දැක්වූ ප්‍රතිචාරයයි. මේ ප්‍රතිචාර දැක්වීම කියන්නේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංච ස්කන්ධ තත්වයන්ගේ යථාර්ථය නොදැන ඒවා නිත්‍ය වශයෙන් ලැබූ සංඥා විපරීතයමයි. පවතින්නාවූ දෙයක් යහපත් හෝ අයහපත් හෝ මධ්‍යස්ථ වශයෙන් ඇසුරු කරන්නට ලඟට ඇදෙන එක ආසන්නට ලංවෙන එක සාමාන්‍ය දෙයක්නේ. අන්න උපාදාන වුනා කියන්නේම ඒ නිසාමයි. ආශ්වාද අවස්ථාව ඒවා තුල පවතින්නේම අප ඒවායේ යථාර්ථය නොදන්නාකම නිසාමයි.

2. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන්නාවූ පංචස්කන්ධය උපාදාන වීම තුල යම් ආදීනවයක් තිබුනේ නැතිනම් එය අවබෝධ නොකලේ නම් සත්වයාට මේවායෙන් මිදීම පිණිස අවශ්‍ය කරන්නාවූ කලකිරීම ඇතිනොවන බවද පෙන්වා දෙනවා.

මොකක්ද මේ කිවූ ආදීනවය. රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ වල ඇත්ත දැක්කේ නැතිකමම (අවිද්‍යාව) හේතු වුණා ඒවා ඔස්සේ වැරදිවූ සකස් කිරීම් සිදුකරන්නට (සංඛාර)... ඒ වැරදි සකස්කිරීම් උපකාරයක් වුණා වැරදි වැටහීමක් ලබාදෙන්නට (විඤ්ඤාණ)... ඒ ලැබුණ වැරදි වැටහීම ඔස්සේ අලුත් රූප මවාගන්නට කතන්දර හදාගන්නට ඒ අනුව හිතන්නට හේතු සකස් වුණා (නාම රූප)... ඒ මැනගත්ත ආකාරයටම තමන් මවාගත්ත දේට අනුවම දකින්න, අහන්න, විඳින්න මොහොතක් පාසා ඉන්ද්‍රියයන් සකස් වෙනවා (සළායතන)... ඒ සකස් වෙච්ච ඉන්ද්‍රියය තුලින් ලැබුවේම

වරදවා වටහාගත්තාවූ සංඥාවක් නිසාම ලැබුනේම නොගැලපෙන වැරදි ස්පර්ශයක් (සංඵස්සය)... වැරදියට ස්පර්ශය ලැබෙන කොට ලැබෙන වේදනාවත් ලැබෙන්නේ වැරදිලාමයි (වේදනා)... මේ ඔක්කෝම වරදිනකොට හා වෙන්නෙත් වැරදි සංඥාවකින්මයි මුල පටන්ගත්තේම නිත්‍ය වශයෙන් පවතින කැමැත්තට අනුව බලාපොරොත්තු වෙච්ච රූපය ලැබුණාය කැමැත්ත ඉෂ්ඨ වුණාය කියන වරදවා ගත් සංඥාව නිසාම ඒ ඒ තැන හා වෙනවා (තණ්හා)... හා වෙන තැනට ලං වෙලා ඒ ඇසුර වැඩි කරගන්නවා තව තවත් බැඳෙනවා (උපාදාන)...

ඔන්න උපාදාන වන තැනට පත්වෙන විට අවස්ථා 9ක් සකස් වෙලා කිලිටි වෙලා... උපාදාන වීම පිණිස ආසන්න ආදියේ හෙවත් ආසන්න අතීතයේ නව අවස්ථාවක් ක්‍රියාත්මක වුනා... ආදියේ නවයක් සකස් වෙලා දුක ගෙන දෙන්නට හේතු වුණා...

මේ ටික දැනගත්තාම තමයි නියමාකාර කලකිරීම ඇතිවෙන්නේ... මෙච්චර දවසක් සැබෑවක් ලෙසින් යථාර්ථයක් ලෙසින් හීන ලෝකයක හීන බල බලා හිටියා වගේ හිස් වැඩපිලිවෙලක්නේ කර කර හිටියේ කියලා වැටහෙනවා... කලකිරීමක් ඇතිවෙනවා...



හීනෙන් අවදිවෙන්නට අවශ්‍යතාවයක් ඇතිවෙනවා... මෙච්චර කාලයක් මායාවක් ඇත්තක් ලෙසින් ගෙන පුදුම වෙවීනේ හිටියේ කියලා කලකිරීමක් ඇතිවෙනවා... මායාවක් සිද්ධ වෙනවා මායාව සිද්ධ වෙන ආකාරය ප්‍රත්‍යක්ෂ වශයෙන්ම දැනගත යුතුයි කියලා මායාව කෙරෙහි පුදුම වෙනවා වෙනුවට කලකිරීමක් ඇතිවෙනවා... මායාවෙන් මිදෙන්නට අවශ්‍යතාවයක් ගොඩනැගෙනවා...

මේ හේතු ඵල දහම අවබෝධයෙන් එතෙක් කාලයක් වරදවා වටහාගෙන ඇසුරු කල නිච්චයැයි සංඥාවක් ලැබුණ ලෝකය අනිච්ච බව වැටහෙනවා... එතෙක් කාලයක් නිත්‍ය වශයෙන් යමක් ඇසුරු කලා නම් ඒ ඇසුරු කලේ විහින්ම සකසා ගත්තාවූ මනෝ සටහනක් මිස යථාර්ථය නොවෙන බව වැටහෙනවා. එතෙක් කාලයක් කැමැත්ත ඉෂ්ඨ වුණායැයි බලාපොරොත්තුව ඉෂ්ඨ වුණායැයි රැවටුණා මිසක් බලාපොරොත්තු වූ සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ස්වභාවයන් මායාවක් මිස යථාර්ථයක් නොවේ යන්නම දැකගන්නවා. කලකිරීමක් ඇතිවෙනවා...

මේ සකස් කිරීම තුලම කොතරම් වෙහෙසක් දුකක් බරක් ගැබ්වෙලා තිබුනේද යන්න ඔන්න දැකගන්නට හැකිවෙනවා... මායාවක් ඇත්තක කරගන්නට වෙහෙසවූ තරමින් ඇතිවූ දුක දැකගන්නට හැකිවනවා... දුක්ඛ බව වැටහීමෙන් කලකිරීම ඇතිවෙනවා...

එතරම් කාලයක් "මම" වුනේ, "මගේ" වුනේ "මගේ ආත්මය" ලෙසින් වටිනාකමක් දුන්නේ මේ දේවල් නොදැන සිටිය නිසාවෙන්ම බව වැටහෙනවා... අසාරත්වය දකිනවා... හිස් බව දකිනවා... අර්ථ ශූන්‍ය බව දකිනවා... අනත්ත බව විපරිණාමධම්මයක් බව නුවණින් දැක කලකිරෙනවා... මිදෙන්නට අවශ්‍යතාවයක් සකස් වෙනවා. නියම මාර්ගය පෑදෙනවා.

3. ඒවාගේම මේ අවස්ථාවන්ට යම් හෙයකින් "ඡන්දරාගය විනය","ඡන්දරාග ප්‍රහාණය", හෙවත් "නිස්සරණය" කියන්නාවූ අවස්ථාව නොයෙදුනේ නම් කිසිදිනක මේවායෙන් මිදීමක් නික්මයාමක් සිදුනොවන බවත් ඒ නිස්සරණ අවස්ථාව තිබෙන නිසාම ඒවායෙන් මිදීමක් නික්මයාමක් විද්‍යාමාන වන බවද පෙන්වා දෙනවා.

එච්චර කාලයක් දැක්මේ වරදක් නිසාම සිදුවූ මේ අනාථ වැඩපිලිවෙල දැක්ම නිවැරදි වන තරමින් නිවැරදි වන බව නුවණින් දකිනවා. දැක්මක් නැතිව ඉන්නවා කියන්නේ හරියට අන්ධ වෙලා හිටියා වගේ කියලා වැටහෙනවා.. ඉන්ද්‍රියයන් 6 කියන්නේ මොකක්දැයි දන්නේවත් නැතිව අන්ධ වෙලා හිටිය බව දැනගන්නවා... අන්ධ වුණාම තැන තැන අඳුරේ අතගාන්න සිද්ධ වෙනවා... අහුවෙන දේ ගැන නිවැරදි වැටහීමක් නැතිව වැරදි වැටහීමක්ම එන්න තියෙන හේතු වැඩියි.

මෙන්න මේ දේ ගැන අවබෝධ වෙනවා අන්ධ බව නැතිවෙලා ඇස පහල වෙනවා. ඔන්න ඇස පහල වූ තැන් පටන්ගෙන අඳුරේ අතපතගාන්නට අවශ්‍ය වෙන්නේ නෑ. එතරම් කාලයක් හා වුනේ ඇසුරු කලේ බැඳුනේ වැරදි දැක්මක් නිසාමයි කියලා වැටහෙනවා... ඒ අවබෝධය තුලින්ම හා වීම් නතර වෙනවා. මිදීමක් සිදුවෙනවා. හිස් වැඩපිලිවෙලින් ඉවත්වී ඒවායෙන් නික්මයාමක් සිදුවෙනවා.

බලන්න කොතරම් අපූරුවට මේ දේවල් එකිනෙකට ගැලපෙනවාද කියලා... මෙතරම් අපූරු පෙර නොඇසූ විරූ දහමක් කොතරම් ආශ්චර්යකද්ද යන්න තමන්ටම අත්දැකගන්නට හැකිවෙනවා. එවන් වූ ක්‍රමවේදයක්ම තමයි බුදු හිමියන් විසින් පෙන්වා දී තිබෙන්නේ.

එතරම් අපූරු පෙර නොඇසූ විරූ දහමක් මඟ හරවාගෙන පෙර ඇසූ විරූ දහමක්ම ආශ්චර්යක් ලෙසින් ඇසුරු කරන විට ඒවා ගැන විමසා බලා මෙහි ඇති ආශ්චර්යය කුමක්දැයි මෙහි පෙර නොඇසූ විරූ දහම් කොටස කුමක්දැයි විමසා බලන්නට ඔබට සිත් පහල වුනේම නැතිද?

එසේ වුණා නම් ඔබට ජය... නොවුනා නම් ඔබ ඒ වෙනුවෙන් සිත් යොමුකල යුතුවම ඇත. නැතිනම් අනාථ වන්නේද ඔබමය.

## ...කැමැති සේ නොලැබීම - 26

මෙම සටහනේ කතා බහ කරන උපමාව තුලින් තවත් වැදගත් කරුණක් ඉස්මතු කරන්නට අවශ්‍යම වෙනවා. "බලාපොරොත්තු වූ පරිදි "ඡායාරූපයක්" ලැබුණාය" කියන තත්වය නැවතත් බාහිරවූ තත්වයක් ඔස්සේ තෝරාගන්නා මට්ටම ඉක්මවා ගොස් වටහාගත යුතුවෙනවා.

ඒ කිව්වේ බලාපොරොත්තුවට අනුව / කැමැත්තට අනුව යමක් ඉටුවුණාය කියලා කියන විට ඔබට සිතෙන්නට පුළුවන් ඡායාරූපය හොඳ එකක්වීම තමයි කැමැත්ත එහෙත් එය හොඳ නැතිවුනොත් තේද මේ කියන විදියට බලාපොරොත්තුව ඉෂ්ඨ නොවන අවස්ථාව / කැමැත්තට අනුව නොපවතින අවස්ථාව කියන්නේ කියලා. අමතක කරන්න එපා එසේ බාහිර මට්ටමකින් තෝරාගන්නට ගියහොත්යම් යම් අවස්ථාවල කැමැත්තට අනුව ඉෂ්ඨ වෙන වෙලාවලුත් තියෙනවානේ... බලාපොරොත්තුවට අනුව ඉෂ්ඨ වෙන වෙලාවලුත් තියෙනවානේ කියලා මේ ආකාරයට බාහිර තත්වයක් අරමුණු කරලා තේරුම් යන්න පුළුවන්. මන්ද බැලූ බැල්මට එවැනි අවස්ථා තිබෙන නිසා. ඉතින් එවැනි බාහිර වූ තත්වයන් ඉක්මවා ගොස් මෙහි පෙර නොඇසූ විරූ දහම දැකිය යුතු වෙනවා. ඒ විග්‍රහයත් විටින් විට පෙරදී සිද්ධ වුණා. එහෙත් වඩාත් පහසුව පිණිස එය වෙනමම මේ ආකාරටයත් තෝරා ගනිමු.

දැන් මේ අවස්ථා 3දීම ඡායාරූප ශිල්පියාට ඡායාරූපයක් තියෙනවාය කියලා නිගමනයක් තිබුණාද නැත්ද? හොඳ ඡායාරූපයක් එහෙමත් නැතිනම් හොඳ නැති ඡායාරූපයක් එහෙමත් නැති දෙකට නැති මධ්‍යස්ථ මට්ටමේ ඡායාරූපයක් ලෙසින් ගත්තාවූ ඡායාරූපයක් කියන නිගමනය ඡායාරූප ශිල්පියාට ලැබෙනවා.

ඔහුට දැකගන්නට අත්විඳින්නට ඡායාරූපයක් කියන ඡායාවක් රූපයක් කරගත්ත ස්වභාවයේ සීමාව ඉක්මවා කටයුතු කිරීම තුල සීමාව ඉක්මවා ශිල්ප දක්වන්නට යෑම තුල තමයි "ඡායාරූපය" කියන්නාවූ ප්‍රතිඵලයක් ලැබුනේ.

එය නිර්මාණය වෙච්ච සකස් වෙච්ච ආකාරය නොදැක්ක නිසාම ඡායා කියන තත්වය අමතකව ඒ ගැන සිහියක් නොතිබූ නිසාම රූපයක් ලෙසින් විහිත් නිර්මාණය කරගෙන සකස් කරගත්තාවූ රූපාකාරයමයි මුලසිටම බාහිරයෙන් ලැබුනේ කියලා වැරදි වැටහීමක් ඇතිවුණා නේද?



ඒ වැරදි වැටහීම / වැරදි දැක්ම මුල්වුණා ඒ පුද්ගලයා නිත්‍ය වශයෙන් පවතින්නාවූ රූපාකාරයන් දකිමින් තිබෙන්නාවූ ඡායාරූපයක් ඔස්සේ සතුට හෝ දුක හෝ උපේක්ෂා සහගත තත්වයකට පත්වෙන්නට.

එහෙම නේද? ඔන්න දැන් හොඳින් ඉවසීමෙන් මේ දේවල් තෝරාගන්නට උත්සාහ කරන්න.

මේ සිද්ධියේදී සිද්ධ වුනේ මොකක්ද කියලා බොහෝම සියුම්ව නැවත නැවත නුවණින් විමර්ශණය කරලා බලන්න. ඡායාරූපය සකස් කරගත්තේම විහින්මයි... එය ප්‍රතිපලයක් ලෙසින් ලැබුනේම නැවතත් විහින්ම සකස් කරගත්තාවූ ස්වභාවයක් තුලමයි. ඒ ටික අමතක වුණාම ඒ ටික ගැන අවබෝධයක් නැතිවුනාම මොකද වෙන්නේ? ෂාහ්! නියමයි!! මාර මැජික් එකක්!! වගේ අදහස් ගෙන ඒ සම්පූර්ණ සිද්ධියත් එක්කම ඇලෙනවා බැඳෙනවා ගැටෙනවා නන් අයුරින් ප්‍රතිචාර දැක්වෙනවා.

ඇස සකස් වෙච්ච ආකාරය නොදන්නාකම නිසාම ඇස කෙරෙහි පුදුමයට පත්වෙනවා ප්‍රතිචාර දක්වනවා. රූපය සකස් වෙච්ච ආකාරය නොදන්නා නිසාම රූපය කෙරෙහි පුදුමයට පත්වෙනවා ප්‍රතිචාර දක්වනවා. ඇසත් රූපයත් හා වෙන අවස්ථාවේ බොත්තම ඔබන මොහොතේ හසුකරගන්නා රූපාකාරයේ ඇත්ත නොදන්නා නිසාම චක්ඛු විඤ්ඤාණයේ පුදුමයට පත්වෙනවා ප්‍රතිචාර දක්වනවා.

මේ සිද්ධිය තුල සකස් වෙච්ච මනෝ විඤ්ඤාණය හෙවත් මනෝ සටහන නොදන්නාකම නිසාම ඒ ප්‍රතිඵලය කෙරෙහි පුදුමයට පත්වෙනවා ප්‍රතිචාර දක්වනවා. ඔන්න ඔය ටික තමයි අවිද්‍යාව තියෙන තාක් පැවැත්ම කියලා කියන්නේ. ඔය ටික තමයි ජීවත් වෙනවා කියලා කියන්නේ. අමුතු දෙයක් නෙවේ. නොදන්නාකම නිසාවෙන් කෙරෙන උමතු වැඩපිලිවෙලක් පමණයි.

කැමරාව තිබුණා එයට පෙනීමේ හැකියාව තිබුණා. ඡායාරූප ශිල්පියෙක් ඒ කැමරාව භාවිතා කරන්නට යෙදෙන විට ඒ කැමරාවේ තිබෙන පෙනීමේ හැකියාව ඔස්සේ යම් කටයුත්තක් කරගන්නට හැකිවෙනවා. උදාහරණයකට සමීප දුරස්ථ රූප රාමු හසුකරගැනීම පිණිස වඩාත් හොඳින් දැකගැනීම පිණිස කැමරාව හසුරවන ආකාරයේ කටයුතු හෙවත් සූම් (zoom) කිරීමේ කටයුතු ආදිය කරමින් එය භාවිතා කරන්නට හැකියි.

කැමරාව ලෝකයට නිර්මාණය කරපු පුද්ගලයා දන්නවා තමන් කැමරාව නිර්මාණය කලේ මෙන්න මේ ආකාරයටයි කියලා. එයාට මේ කැමරාව කියන උපකරණය තුල ඒ නිසා පුදුම වෙන්න කාරණාවක් ගැබ්වෙන්නේ නෑ. හේතුව සකස් වෙච්ච ක්‍රමය දන්නවා. එයා කැමරාව දකින්නාවූ මොහොතක් පාසා කැමරාව ගැන අසන මොහොතක් පාසා කැමරාව කියන තත්වය විඳින මොහොතක් පාසා තමන්ම සකස් කල දෙයක් මිස එතැනින් එහාට ගිය පුදුම වන්නට මැජික් කාරණයක් මේ තුල නැතිබව දන්නා නිසාම ඇලීමක්, ගැටීමක් ආදී ප්‍රතිචාර ඒ ඔස්සේ ලැබෙන්නේම

නෑ. ඒ සිද්ධිය තුල කැමරාව පාවිච්චි කරනවා එහෙත් එයට වටිනාකමක් ලබාදී නැතිබව නුවණින් වටහාගත යුතුයි.

ඔන්න මේ මස් ලේ වලින් සකස් වෙච්ච ඇස් ගුලියේත් දැකගන්නට නොහැකි ඇස කියන තත්වයේත් ඇත්ත දකින කෙනාට මෙහි අරුමයක් නැතිවෙනවා. පුදුමයක් නැතිවෙනවා. රැවටී සිටි මායාවෙන් නිදහස් වෙනවා. මායාව කැඩෙනවා බිඳෙනවා. ඇත්තක්ම අත්දකිනවා. ඒ නිසා වටිනාකම් යෙදෙන්නේ නැතිව අතහැරීම, නොඇලීම, මිදීම සිද්ධ වෙනවා.

## ...මාර කට්ටක් කෑවේ - 27

"මස් ලේ නැති ඇට බලූ ලෙවකන්නේ _ කුස් පිරුමක් ඵලයක් නොලබන්නේ - ලෙස් ඒ සැපතෙහි ලොබ නොසිතන්නේ _ දොස් නොපෙනෙනු මිස දුක්මයි වන්නේ"



බල්ලෝ මස්කටු කනවා දැකලා ඇතිනේ නේද? ඒ අයට වැදගත් නෑ අලූත් මස්කටුවක්ද පරණ මස්කටුවක්ද කියලා ඒ අය කැමතියි ඒක හප හපා ලෙව කමින් ඉන්න තමයි. ඉතින් දන්නවද මේ අය මෙච්චර මස් කටු වලට කැමති ඇයි කියලා? මස්කටුව හප හපා ලෙවකන බල්ලට හරි ඇබැද්දියක් සිද්ධ වෙනවා.

ඒ තමයි එයාගේ විදුරුමස, කට ඒ මස්කටුව නිසා තුවාල වෙනවා. එහෙම තුවාල වෙලා ඒ ලේ රස තමයි එයාට දැනෙන්නේ. ඒත් බලූට කොහෙන්ද ඕක තෝරගන්න තරම් නුවණක්. එයා කරන්නේ දිගටම දිගටම එයාගේම ලේ රස බලන එක තමයි. ඒ වුණාට හිතාගෙන ඉන්නේ මේ මස්කටුවෙන් එන රසයක් තමයි කියලයි. අන්තිමට බඩ පිරිලත් නෑ... තමන්ට තුවාලත් වෙලා... ඒ මදිවට කාලෙත් නාස්ති වෙලා.

ඒ අතර තව බල්ලෙක් එහෙම ආවොත් මේ මස්කටුව ගන්න හරි ජංජාලයයි. ගොරවලා, බුරලා, පොරකාලා, තුවාල කරගෙන තමන්ගේ අයිතිය කොහොම හරි තහවුරු කරගන්න තමයි උත්සාහ කරන්නෙත්.



මස්කට්ටක් හින්දා වෙන අබැද්දිය බල්ලනකෝ... ඇත්තටම මේ සිද්ධියට වග කියන්න ඕන මස්කටුවද? හිතලා බලන්න සිද්ධ වෙන සිද්ධියක් තමයි මේක. මොකද දන්නවද මේ දේම තමයි ඔබයි මමයි කරන්නෙත්. මෙපමණ වෙලාවක් නත් අයුරින් කතා කළේම මේ සිද්ධිය කියලා වැටහෙනවා නේද?

ඔබයි මමයි කෙලවරක් නැතිව ලෙව කන මස්කටුව තමයි මේ පංච කාම ආශ්වාද වැඩපිලිවෙල කියලා කියන්නේ. ඇසෙන් රූප නමැති මස්කටුව ලෙවකනවා, කණෙන් ශබ්ද නමැති මස්කටුව ලෙව කනවා, නාසයෙන් ගන්ධය නැමැති මස්කටුව ලෙවකනවා, දිවෙන් රස නැමැති මස්කටුව ලෙවකනවා, කයෙන් ස්පර්ශය නැමැති මස්කටුව ලෙවකනවා, මේ ඔක්කෝම අරගෙන මනෙන් ධර්ම නැමැති මස්කටුව ලෙවකනවා.

මේ තවත් ආකාරයකට කිව්වේ මොකක්ද? රූපය වරදවා වටහාගැනීම ගැනමයි. ඡායා රූප කරගෙන රූප වලින් ආශ්වාද ලැබෙනවා යැයි සිතමින් රූප ඇසුරු කරනවා. රූප විහින් නිර්මාණය කරගත්තාය කියලා සිහියක් නැතිවෙනවා. හානියක් වෙනවා පමණයි... වෙහෙසට පත්වෙනවා පමණයි... පෙලෙනවා පමණයි... හිස් වැඩපිලිවෙලක් ජනිත කරනවා පමණයි...

මේ කටු කෑම කොච්චර අපේ ජීවිත වලට සම්බන්ධද කියනවා නම් මේ පංච කාම ආශ්වාද වැඩපිලිවෙලට ගොස් හරයක් නැතිව කාලෙ නාස්ති කරගෙන මහන්සි වෙලා දුක් විඳින්න වෙන එක දැනුනම අපි මොකද කියන්නේ, පුරුද්දෙන් වගේ කියන්නේ "අද නම් නියම කට්ටක් කෑවේ" කියලානේ... නේද? මේ තමන් කරන කියන සිතන දේවල තේරුමක් නැති බව පුරුද්දෙන්ම දන්නවා... ඒත් තේරුම් ගන්න තරම් නුවණ මෙහෙයවන්නේ නෑ අපි. ඒ නිසාම සසර අනාථයෝ වෙලා තියෙනවා.

## ...පුදුම වෙන්න දෙයක් නෑ - 28

ඉතින් කැමරාව කියන තත්වයට මැනගැනීමේ හැකියාවක් තිබුනේ නෑ. එහෙත් ඡායාරූප ශිල්පියාට මැනගැනීමේ හැකියාවක් තියෙනවා. කටයුතු කරගැනීම පිණිස ජීවිතය පවත්වාගැනීම පිණිස සිදුවිය යුතු හඳුනාගැනීම තිබෙනවා.

අවිද්‍යාව යෙදෙන විට හඳුනාගත්තාවූ දෑට වටිනාකමක් විශේෂත්වයක් දෙන්නට ක්‍රියාත්මක වෙනවා. ඒකට හේතුව වෙන්නේ සරලවම හඳුනාගත්තාවූ දේහි යතාර්ථය නොදන්නාකමයි.

ඔන්න "ඡායාරූප ශිල්පියා" නිර්මාණය වුනේම විද්‍යාමාන වුනේම මෙන්න මේ හේතුව තුලයි කියලා නුවණින් දැකගන්නවා. ඡායා රූප කරගත්තේ නැතිනම් ඡායාරූප ශිල්පියෙකුත් නැතිබව නුවණින් දැකගන්නවා.

ඒ දැනගැනීම තුලම මේ ඡායාරූප ශිල්පියා කියන තත්වය තුලත් අරුමයක් නැතිවෙනවා. පුදුමයක් නැතිවෙනවා. රැවටී සිටි මායාවෙන් නිදහස් වෙනවා. මායාව කැඩෙනවා බිඳෙනවා. ඇත්තක්ම අත්දකිනවා. ඒ නිසා වටිනාකම් යෙදෙන්නේ නැතිව අතහැරීම, නොඇලීම, මිදීම සිද්ධ වෙනවා.

ඡායා රූප කරගත්තා නිසා ඒ සකස් කරගත්තාවූ මායා රූපාකාරයන්ට වටිනාකමක් දීම නිසාම "ඡායාරූපය" සකස් වෙන බව නුවණින් දකිනවා. ඡායාරූපය ලෙසින් ඇසුරු කරන්නේම මොහොතකට පෙර ගෙවී ගියාවූ අතීත මතක සටහනක්ම මිස අන් කවරක්වත් නොවේය යන අවබෝධය ලැබුනු පසු නැවතත් නුවනින් සකස් වෙච්ච ආකාරය දැකගැනීම තුලම අරුමයක් නැතිවෙනවා. පුදුමයක් නැතිවෙනවා.

රැවටී සිටි මායාවෙන් නිදහස් වෙනවා. මායාව කැඩෙනවා බිඳෙනවා. ඇත්තක්ම අත්දකිනවා. ඒ නිසා වටිනාකම් යෙදෙන්නේ නැතිව අතහැරීම, නොඇලීම, මිදීම සිද්ධ වෙනවා.



ෂාහ්! නියම සතා, ෂාහ්! නියම ගහ, ෂාහ්!නියම කන්ද, ෂාහ්! නියම අරක, ෂාහ්! නියම මේක... ආදී වශයෙන් හෝ ඡේවා චැක්! මේ සතා හරි නැනේ. මේ ගහ හරි නැතේ, මේ කන්ද හරි නැනේ ආදී වශයෙන් හොඳ හෝ නරක වශයෙන් හෝ මධ්‍යස්ථ හැඟීමකින් කටයුතු කරන්නේම ඡායා රූප කරගෙන විහින්ම සකස් කරගත්තාවූ විහින්ම නිර්මාණය කරගත්තාවූ මායාවක් සමඟින්ම පමණයි යන සිහිය පවතින තාක් ඔය කියන්නාවූ කිසිදු තත්වයක අරුමයක් නැතිවෙනවා.

පුදුමයක් නැතිවෙනවා. රැවටී සිටි මායාවෙන් නිදහස් වෙනවා. මායාව කැඩෙනවා බිඳෙනවා. ඇත්තක්ම අත්දකිනවා. ඒ නිසා වටිනාකම් යෙදෙන්නේ නැතිව අතහැරීම, නොඇලීම, මිදීම සිද්ධ වෙනවා.

ඔන්න බුදු හිමියන් පෙන්වා දුන්නාවූ විඤ්ඤාණය නම් වූ මායාකාරයගේ මැජික් සංදර්ශන කරන ක්‍රමය හසුකරගත්තා. මැජික් කරන ක්‍රමය දැනගත්තාම එතැන තවදුරටත් පවතින මැජික් එකක් නැතිබව ප්‍රඥාවන්ත ඔබට වැටහිය යුතුයි. ඔන්න ඔය සිහිය ඔබට ප්‍රත්‍යක්ෂ ඥානය පිණිසත් ප්‍රත්‍යක්ෂ ඥානය මේ මායාවෙන් විමුක්තිය ලැබීම පිණිසත් හේතු වෙනවා.

එදිනෙදා උපමාවකින් නැවතත් හිතන්න... තුනපහ අමුද්‍රව්‍ය පදමට දාලා ඔබ කෑමක් හදනවා... කන්න ගියාම හදපු විදිය දන්නේ නැති කෙනා නම් නියම කෑමක් කියලා රසට වහල් වෙලා වර්ණනා කරනවා. ඒත් හදපු කෙනා දන්නවා ඔය රස ආවේ මෙන්න මේ දේවල් මේ පදමට දාපු නිසාමයි එතැන අමුතු රසක් දෙන්නට තරම් අමුතු මැජික් එකක් වුනේ නෑ කියලා.




අන්න ඒ වගේ තමන්ම හදාගෙන තමන්ම උයාගෙන කනකොට අමුතු රසක් අමුතු ආශ්වාදයක් දැනෙන්නේ නෑ... මෙන්න මේ වගේ තෝරාගන්න ඔබේ අපේ ජීවිත වල සිද්ධ වෙන්නෙත් විහින්ම සකස් කරගෙන විහින්ම ආශ්වාද ලබන වැඩපිලිවෙලක් විනා බාහිරයෙන් ලැබෙන අමුතු යමක් නැති බවම...

## ...නිවැරදි විදසුන - 29

ඉතින් මේ වන විට ධර්මය යැයි අනිත්‍ය දුක්ඛ අනාත්ම වශයෙන් බැලීමට උනන්දු කරවන්නේ කුමක් දෙසද? සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු සංඥාවෙන් මිදීම පිණිස ඡායාරූපයේ අනිත්‍ය දුක්ඛ අනාත්ම ලෙස බලන්න කියනවා. ඡායාරූපය සකස් වෙච්ච ආකාරය ගැන කිසිම හැඟීමක් අදහසක් නැතිව ඡායාරූපයේ ඉන්න රූපාකාරයන්ගේ අනිත්‍ය දුක්ඛ අනාත්ම වශයෙන් දැකගත යුතුයි කියනවා. ප්‍රතිඵල ලැබෙයිද? නුවණින් විමසන්න!!!

මේ ඡායාරූපය ලෙසින් ලැබී ඇති සටහන කියන්නේ ඉන් මොහොතකට පෙර සීඝ්‍රයෙන් ගෙවී ගොස් අතීතයට එකතු වෙච්ච අවස්ථාවක් ග්‍රහණය කරගත්තාවූ අවස්ථාවක් පමණයි කියලා වැටහෙනවද? ඒ කියන්නේ මොකක්ද විපරිණාමයට පත්වෙමින් විනාශයට පත්වෙන ධර්ම ස්වභාවයක් සටහන් තබාගෙන එය ඇසුරු කරනවා. කැමැත්ත ඉෂ්ඨ වුණා බලාපොරොත්තුව ඉෂ්ඨ වුණා කියලා අදහස් ගෙනම තමයි ඒ ඇසුර ලබන්නේ.

අනිත්‍ය නිසා දුකයි කියලා තෝරාගන්නවා නම්, තෝරාගන්නට ඕන ගෙවිලා යන නිසා දුකයි කියලා නොවේ. ගෙවිලා යන දෙයක් ගෙවිලා ගිය දෙයක් සටහන් කරගෙන, ඒ සටහන ස්ථිර වශයෙන්ම ඇත්තටම ඒ මොහොතේ පවතින තත්වයක්ය, ලෙසින් ගත්තාවූ මායා අදහස නිසාවෙන් ඇත්ත තත්වයක් ලෙසින් අදහස් ගත් නිසාවෙන්ම දුක ලැබුණ බව නුවණින් දැකිය යුතු වෙනවා. මනෝ සටහනක් කියන්නේ ඒ තුල දිරන ස්වභාවයක් හෝ කැඩෙන බිඳෙන ස්වභාවයක් නෑ.

ඒ තත්වය බුද්ධ දේශනාවෙන්ම පැහැදිලි කරගත හැකියි. "රූප දිරනවා නාමගෝත්‍ර නොදිරනවා" යැයි පැවසූ බුදු වදන සිහියට ගත යුතුයි. දැන් මේ දිරන රූප මොනවද? ඔබට අනුමාන වශයෙන් හෝ වැටහේවි... මේ කියන්නේ ශුද්ධාශ්ඨක අවස්ථාව ක්‍රියාත්මක වෙලා සකස් කරන රූපාකාරයන් ගැනයි... ඒවා දිරනවා කියන්නේ මොහොතක් පාසා ඉතිරි නැතිවම ගෙවී වෙනස් වී යන ශුද්ධාශ්ඨක වල එකතුවකින් සකස් වී තිබෙන නිසාම ඒ රූපාකාර තත්වයන් මොහොතක් පාසා වෙනස්වීමට ලක්වෙනවා... ඉතිරි නැතිවම ගෙවී යනවා... ඒවායේ මනෝ සටහන තමයි මේ ඇසුරු කරන්නේ යථාර්ථයක්ය කියලා... ඒ සටහන තුල ගෙවී යන්නට දෙයක් නෑ... දිරන්නට දෙයක් නෑ... මන්ද එය මායා සටහනක්... ඕනෑම වෙලාවක සිහිපත් කර ලබාගන්නට හැකියි...

ඒත් ඒ බව නොදැන ඒ ඇසුරු කරන නාම ගෝත්‍ර වලට බාහිරයේ පවතින්නාවූ ස්ථිර වශයෙන්ම පවතින, ඇත්තටම ඒ මොහොතේ පවතින යථා ස්වභාවය ලෙසින් වරදවා වටහාගන්නවා නම්, එතැන තිබූ මායාව දකින්නේ නැති නම්, ඔන්න කෙනෙක් ස්ථිර වශයෙන්ම පවතින ඇත්තටම පවතින තත්වයක් ලෙසින් අදහස ඇතිව ඒ ලැබුනු සටහන රූපාකාරයෙන් භාරගත්තා වෙනවා. අන්න එවන් වූ සකස් කිරීමක් තුල ඇතිවෙන්නේ දුකමයි. ගැබ්වෙන්නේ දුකමයි...

ඒ ඡායාරූපය තුල සත්ව පුද්ගල ද්‍රව්‍ය වස්තු ලෙසින් ඒ ඒ වටිනා සාරවත් හැඟීමෙන් යුතුව දකිමින් කටයුතු කලේම අතීතයට ගෙවී ගිය අවස්ථාවක් සටහන් තබාගෙන මිස එය යතාර්ථය නොවේ කියලා වැටහෙනවා නේද? එසේ සත්වයෙක් පුද්ගලයෙක් ද්‍රව්‍යයක් වස්තුවක් ලෙසින් අදහස ගෙන ප්‍රතිචාර දක්වන්නට ඉහත පැහැදිලි කරපු නොදන්නාකම හේතුවක් වුණා. ඔන්න ඇත්ත නොදන්නාකම සසර පැවැත්මක් හදන්නට හේතු වෙනවා කියන්නේ ඒ නිසයි.

ඉතින් මේ අනිත්‍ය වචනය දැන් හුරු වෙලා... ස්ථිර නැත කියන විට අදහස එන්නේම බාහිර වූ තත්වයක් උදෙසාමයි... ඒ මදිවට පෙර නොඇසූ විරූ දහමක් වෙනුවට ඕනෑම කෙනෙකුට තෝරාගන්නට හැකි තත්වයක් වන, සාමාන්‍ය ධර්මතාවය නොඉක්මවූ "යමක් හටගත්තා නම් විපරිණාමයට පත්වී ගෙවී විනාශයට පත්වීම" නමැති ස්වභාවයම තෝරාගන්නවා. ඉන්පසුව එයම කියවා කියවා මෙනෙහි කරමින් ඉන්නවා. කෙලෙස් ටික එහෙමමයි... අංශු මාත්‍රයකවත් කෙලෙස් වල අඩුවක් නෑ... එහෙත් කෙලෙස් යටපත් වීම නම් යහමින් සිද්ධ වූ නිසාම රැවටීමට ලක්වෙනවා. ඉතින් මේ දේවල් නුවණින් දැක තෝරාගත යුතුමයි... නැතිනම් අනාථයි... හැමදාම වගේ...

පැටලෙන්නේ නැතිව ලිහාගන්නට හොඳම පහසුම ක්‍රමය තමයි **තමන්ගේ කැමැත්ත ඉෂ්ඨ වෙලාම නැති බවම නුවණින් දැකීම...** ස්ථිර වශයෙන්ම පවතින ඇත්තක් තමයි බලාපොරොත්තුව. ඒත් ඇත්ත කියලා ගත්තේම මායාවක් නම් ස්ථිර වශයෙන් පවතින ඇත්තක් එහි තිබිලාම නෑ. එසේ නම් බලාපොරොත්තුව ඉෂ්ඨ වෙලාම නෑ. දුකට පත්වෙලා පමණයි. අන්න ඒ නිසා ඇසුරු කරමින් පවතින්නට තරම් සාරවත් නෑ යන්න නුවණින් විමසා දැකගත යුතුයි.

හොඳින් තේරුම් ගන්න මේ අවස්ථාව. ඡායාරූපයක් වශයෙන් ඒ ඒ දත්තයන් ලබාදෙන්නේ වර්ණ මාත්‍ර රැසක් එකතුවීමෙනුයි. ඡායාවක් සකස් වෙන්නේ ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන තත්වයන් 8හි එකතුව වන ශුද්ධාශ්ඨක විවිධාකාර වශයෙන් රාශි වීමක් තුලයි. ඒ තුලත් විග්‍රහ කරගන්නට බොහෝ දෑ තිබෙනවා.

ඉතින් සරලවම ඒ ඡායාව ලෙසින් මාත්‍රයකදී හසුවන දෙයක් තුලින් සත්වරූපාකාර සටහන් ද්‍රව්‍යරූපාකාර සටහන් ගෙන ඒවාට වටිනාකම් දෙමින් ඒ මත පුද්ගලරූපාකාර සටහන් සහ වස්තු රූපාකාර සටහන් දක්වා වර්ධනය වෙමින් ඇලෙන්නට ගැටෙන්නට බැඳෙන්නට වුනේ ඡායාරූපය කියන අවස්ථාවේ ඇත්ත දැක්කේ නැතිකමමයි.

ඒ ආකාරයටම තමයි බාහිරයේ අපි ඡායාරූපයක් වශයෙන් අල්ලාගන්නට යමක් තිබුණාය කියලා අදහස එනවා නම්, ඒ තුල පවතින යථාර්ථයත් ඒ අකාරයම තමයි. දැන් අවුල වුනේ මේ යථාර්ථය නොදැක්ක නිසා මොහොතක් පාසා ඡායාරූපකරණයේ යෙදී සිටිනවා.

ඡායාරූපයක් ලැබෙන මොහොතක් පාසා ඒ ඡායාරූපයට තමයි ප්‍රතිචාර සියල්ලම දක්වන්නේ. මෝඩකමක මහත කියන්නේ ඡායාරූපයට ප්‍රතිචාර දක්වන විට දැනෙන්නේම බාහිරයේ සත්‍යයයෙන්ම පවතින්නාවූ තත්වයකට තමයි මේ ප්‍රතිචාර දක්වන්නේ කියලයි. හරියට ඡායාරූපය ඇත්ත දෙයක් වශයෙන් පිළිගත්තා සේමයි. ඡායාරූපයක් බදාගෙන ඇත්ත තත්වයක් බදාගෙන ඉන්නවා යැයි සිතනවා වගේ දෙයක්.

කැමරාව හෙවත් මස් ලේ ඇස සතෙක් දකින්නේවත් ද්‍රව්‍යයක් දකින්නේවත් මොනයම් හෝ හඳුනාගැනීමක් කරන්නේවත් නෑ කියන දේ නුවණින් දැකගන්න. ඔබට මේ මස් ලේ ඇසක් නැවත සකස් වෙන්නට තියෙන හේතු වලින් මිදෙන්නට ඒ හේතු නිරෝධ කරගන්නට හැකිවේවි. නුවණින් දැකිය යුතු ජීවත් වෙලා ඉන්න විටම නිරෝධ කල හැකි ඇස, කණ, දිව, නාසය, කය සහ මන දැකගන්න... ඔබට නිසැකවම මිදීමක් ලැබේවි!

සතර අපාගත මට්ටමෙන් මේ මස්ලේ ඇස හෙවත් කැමරාවක ස්වභාවයෙන් ක්‍රියාත්මක වන ඇස සකස් නොවෙන මට්ටම සෝතාපන්න අවස්ථාව කියලා නම් කරන්නට හැකියි. කාම ලෝක මට්ටමෙන් මේ මස්ලේ ඇස හෙවත් කැමරාවක ස්වභාවයෙන් ක්‍රියාත්මක වන ඇස සකස් නොවෙන මට්ටම අනාගාමී අවස්ථාව කියලා නම් කරන්නට හැකියි. කිසිදිනක මේ මස්ලේ ඇස හෙවත් කැමරාවක ස්වභාවයෙන් ක්‍රියාත්මක වන ඇස කිසිදු ආකාරයකින් සකස් නොවෙන මට්ටම අරිහත් අවස්ථාව කියලා නම් කරන්නට හැකියි.

## ...ඡායාරූපකරණයෙන් මිදීම - 30

හරියට ඡායාරූපකරණය නිසි ලෙසින් අවබෝධකරගන්නේ නැතිව ඡායාරූපය තමයි ඇත්ත එයම තමයි සුවයක් සැපයක් හෝ දුකක් දෙන්නේ නැතිනම් මධ්‍යස්ථ ස්වභාවයේ ප්‍රතිචාර දැක්වෙන්නේ මේ ඡායාරූපය නිසාමයි කියලා විශ්වාස කරනතාක් ඡායාරූපයට වටිනාකමක් දෙන තාක් ඡායාරූපකරණය පිණිස කැමරාවකුත් අවශ්‍ය වෙනවා, ඡායාරූප ශිල්පියෙකුත් අවශ්‍ය වෙනවා, ඡායා රූප කරගැනීම පිණිස කටයුතුත් සිද්ධ වෙනවා. හේතු තිබෙනතාක් ඵලය විද්‍යාමානයි!

ඡායා රූප කරගන්නා "ඡායාරූප" යේ යතාර්ථයත්..., ඡායාරූපකරණය පිණිස ඡායා හසුකරගැනීමට උපකරණයක් වශයෙන් කැමරාව සකස් වුණා මිස කැමරාව නිසා ඡායාරූපකරණය සිදුවෙනවා නොවේ යන්න වැටහුණා නම්...

ඡායාරූපකරණය ඇත්ත නොදන්නාතාක් එහි ශිල්ප දැක්වීම පිණිස ඡායාරූපශිල්පියෙකුගේ අවශ්‍යතාවය ගොඩනැගුනා මිස මේවා තියෙන නිසා ඡායාරූපකරණය වෙනවා නොවේ කියලා යම් මොහොතක වැටහුණා නම්...

ඡායාරූපකරණය තුල සිද්ධ වෙන්නේ මෙන්න මේ තරම් සියුම් මෝඩකමක් මිස එහි අමුතු මැජික් සංදර්ශනයක් නෑය කියලා වැටහුණා නම් ඡායාරූපකරණයේ අවශ්‍යතාවයත් නැතිවෙනවා. ඡායාරූපකරණයේ අවශ්‍යතාවය නැතිවූ තැන කැමරාවක්වත්, ඡායාරූප ශිල්පියෙක්වත් අවශ්‍ය වෙන්නේත් නෑ. ඒවාත් ඒ සමඟින්ම නැතිවෙනවා.

කැමරාවක් අවශ්‍ය නැති තැන ඡායාරූප ශිල්පියෙකුට කවර ශිල්පද? ඔන්න ඡායාරූප ශිල්පියාගේ අවශ්‍යතාවයත් නැතිවෙනවා. ඡායාරූප ශිල්පියාත් කැමරාවත් නැති තත්වයක කවර ඡායාරූපද? ඔන්න හේතු නිරෝධයෙන් ඵලය පූර්ණ වශයෙන්ම ඉතිරි නැතිවම නිරෝධ වෙනවා. සිද්ධවෙන්නේ මෙච්චරයි මෙතැනින් එහාට ගිය අමුතු මැජික් සංදර්ශන නොමැති බව වටහාගැනීම තුලම අතහැරීම සිද්ධවෙනවා.

දැන් මේ පෙනීමේ හැකියාව නොවේ අපට නිවනක් නැති කරලා තියෙන්නේ. එහෙත් පෙනීම හැකියාව ලැබී තියෙන්නේද සාමාන්‍ය තත්වයකින් නොවේ යන්නද දැකිය යුතුයි. නැතිනම් මතු රාග ද්වේශ මෝහ ලැබීමට හේතුවන අනුශය ඉතිරිවෙනවා.ඉතින් නිවනින් අපිව බැහැර කරන්නට ක්‍රියාත්මක වන අවිද්‍යාව නැමැති බලවේගය ක්‍රියාත්මක වන්නේ කෙසේද යන ආකාරය යම් කිසි ප්‍රමාණයකට මට්ටමකට මේ සටහන තුල විග්‍රහ වුණා.

ඔන්න උපමාවට සසඳා හිතන්න! මේ නොදැනුවත්කම දැනුවත්භාවයක් වූ තැන නැවත මේ වගේ වෙහෙසකර වැඩපිලිවෙලක අවශ්‍යතාවය නැතිවෙනවා. අවශ්‍යතාවය නැති තැන ඒ අවශ්‍යතාවය පවත්වාගන්නට වුවමනාකලාවූ කළමනා ටිකත් අවශ්‍ය නැතිවෙනවා. ඔන්න නිරෝධය! මේ දේ නුවණින් දැකගන්නට නැවත නැවත සත්ධර්මය ඇසුරු කරන්න. මේ පෙර නොඇසූ විරූ ධර්මය දැකගන්නාතෙක් නොනවතින්න. තමන්ගේ සෙවීම් සියල්ල මේ අවබෝධයත් සමඟින් නතර වෙනවා. ඒ වෙනුවෙන් කැපවෙන්න. පාඩුවක් නෑ... ලාභයක්මයි!!!

මෙතෙක් කලාවූ විග්‍රහය පුංචි වැකි කීපයකින් ගොනු කොට අප මහා බුදු රජාණන්වහන්සේ විසින් බොහෝම අපූරුවට පෙන්වා දී තිබෙනවා...

සූත්‍ර පිඨකය < සංයුත්ත නිකාය - 1 < සගාථ වග්ගය < 1. දෙවතා සංයුත්තය < 4. සතුල්ලපකායික වග්ග < 34. නසන්ති සූත්‍රය < පිටු අංක 40 - 42 < ( PDF පිටු අංක 66 - 68)

**න තෙ කාමා යානි චිත්‍රානි ලොකෙ සඞ්කප්පරාගො පුරිසස්ස කාමො,**
**තිට්ඨන්ති චිත්‍රානි තථෙව ලොකෙ අථෙත්ථ[1] ධීරා විනයන්ති ඡන්දං.**

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

**ලෝකයෙහි විචිත්‍ර වූ යම් (රූපාදි) අරමුණු ඇත් ද, ඔහු කාමයෝ නො වෙත්. පුරුෂයාගේ (ශුභාදිවශයෙන්) සංකල්පිත රාගය තෙමේ කාමය යි. ලෝකයෙහි විසිතුරු වූ (රූපාදි) අරමුණු එසේ ම සිටී. වැලි ත් පණ්ඩිතයෝ මේ ආරම්මණයන්හි ඡන්දරාගය දුරු කෙරෙත්.**

විපාක ඵලය වශයෙන් රූප පේනවා, සද්ධ ඇහෙනවා, ගන්ධ රස ස්පර්ශ ධර්ම විඳිනවා... ඒ අවස්ථාවත් සමාන්‍ය තත්වයක් නොවේය පෙර අවිද්‍යා සංඛාරයන්හි ඵලයක්යැයි කියලා මෙතෙක් කලාවූ විග්‍රහයට අනුව ඔබට යන්තමට හෝ පැහැදිලි ඇති... මේ තත්වයේදී පෙනෙන්නාවූ රූප හෝ වේවා ශබ්ද හෝ වේවා අනෙකුත් ගන්ධ රස ස්පර්ශ ධර්මයන් හෝ වේවා ගැටලුවක් නොවන බවට ඔබට මෙතෙක් විග්‍රහයේදී පැහැදිලි වන්නට ඇති. ඉතින් බුදු වදනට අනුවත් මේ තත්වය කාමය නොවන අතර කාමය වන්නේ අප සිතේ හටගත් "සංකල්පිත රාගයයි"...

මෙතෙක් ඡායාරූපකරණය ඇසුරෙන් විග්‍රහ කරගත් පරිදි ඡායාරූප සටහන් කරන එක නවත්වා ගන්නවා. ඡායාරූප ශිල්පියා විසින් කැමරාව තුලින් දකින තාක් ඡායා රූප වෙලා පෙනීම සාමාන්‍ය දෙයක් වගේ තමයි දැනෙන්නේ. එහෙත් ඇත්ත දැනගත් පසු ඡායාරූපකරණය ඒ ඒ මට්ටමින් නතර වෙනවා. ඡායාරූපය ඇත්තක් ලෙසින් භාරගෙන දක්වන ප්‍රතිචාර නතර වෙනවා. එහෙත් විසිතුරු ලෙසින් විචිත්‍රවත් ලෙසින් පෙනීම නතර වෙන්නේ නෑ. එහෙත් ඒ විචිත්‍රවත් ලෙසින් පෙනෙන ඡායාරූපයේ යථාර්ථය දන්නවා.

ඒ ලැබෙන අරමුණක් පාසා යථාර්ථය දන්නා මනසකට දැනෙන්නේ ඡායා රූප කරගත්තා මිසක් ඒ රූප සැබෑව නොවන බවයි. අන්න ඒ නිසා ඒ රූප (රූප රූප, ශබ්ධ රූප, ගන්ධ රූප, රස රූප, ස්පර්ශ රූප, මනෝ රූප) සමඟ හා වෙන එක නවතිනවා. ඇස, කණ, දිව, නාසය, කය සහ මන කියන්නාවූ අවස්ථා 6කින් අන්ධ වී යථාර්ථයක් නොදැක අඳුරේ අතපතගාමින් හා වෙමින් සිද්ධ වෙච්ච අබැද්ධිය නතර වෙනවා. තැන තැන හා වෙන්නට අවශ්‍ය කරන පරිසරය තිබුණත් ඇත්තටම සිද්ධ වෙන්නේ කුමක්දැයි දන්නා නිසාම ඒ කිසිඳු අවස්ථාවක හා වෙන්නේ නැතිව අතහැරීම නොඇලීම මිදීම සිද්ධ වෙනවා. "සංකල්පිත රාගය" හෙවත් විහින් සකස් කරගෙන විහින් බැඳුන ස්වභාවය නතර වෙනවා.

මේ තියෙන්නේ තවත් තැනකදී බුදු හිමියන් විසින් කාමය සහ කාමය ඇතිවෙන්නට හේතු හෙවත් කාම ගුණයන් කියන්නේ මොනවාදැයි පහදා දෙන අවස්ථාවක්.

මෙතැනදිත් පැහැදිලි කරනවා

සූත්‍ර පිඨකය < අංගුත්තර නිකාය - 4 < 1. ඡක්ක නිපාතය < දුතිය පණ්ණාසකය < මහා වග්ගය < 9. නිබ්බේධික සූත්‍රය < පිටු අංක 200 - 210 < ( PDF පිටු අංක 219 - 230)

**පඤ්චිමෙ භික්ඛවෙ කාමගුණා: චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා ඉට්ඨා කන්තා-මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා. සොතවිඤ්ඤෙය්‍යා සද්දා -පෙ- ඝානවිඤ්ඤෙය්‍යා ගන්ධා -පෙ- ජිව්හාවිඤ්ඤෙය්‍යා රසා -පෙ- කායවිඤ්ඤෙය්‍යා ඵොට්ඨබ්බා ඉට්ඨා කන්තා මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා. අපිච බො භික්ඛවෙ නෙතෙ කාමා, කාමගුණා නාමෙතෙ අරියස්ස විනයෙ වුච්චන්ති.**

**66. සඞ්කප්පරාගො පුරිසස්ස කාමො**
**නෙතෙ කාමා යානි චිත්‍රානි ලොකෙ,**
**සඞ්කප්පරාගො පුරිසස්ස කාමො**
**තිට්ඨන්ති චිත්‍රානි තථෙව ලොකෙ,**
**අථෙත්ථ ධීරා විනයන්ති ඡන්දන්ති.**

එහි දී ඇති සිංහල අර්ථය මෙසේයි...

මහණෙනි, ඉෂ්ට වූ කාන්ත වූ මනවඩන ප්‍රියරූප වූ කාමෝපසංහි වූ රජනීය වූ චක්ෂුර් විඥෙය රූපයෝය... ශ්‍රොත්‍රවිඥෙය ශබ්ද යෝ ය ... ඝ්‍රාණ-විඥෙයගන්ධයෝ ය. ජිව්හා විඥෙය රසයෝය ... ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූ ප්‍රියස්වභාව ඇති කාමෝපසංහිත වූ රජනීය වූ කායවිඥෙය ස්ප්‍රෂ්ටව්‍යයෝ ය යි මෙ කාමගුණ පඤ්චක මහණෙනි, වැලිත් මොහු කාමයෝ නො වෙති මොහු ආර්‍යයන්ගේ විනයෙහි කාමගුණ නම්හයි කියනු ලැබෙත්

66. ලොවුහි පුරුෂයාක් හට සඞ්කල්ප විසින් උපන් රාගය, කාම වෙයි. යම් බඳු විසිතුරු ආලම්බනයෝ වෙත් නම් තුලුහු කාම නො වෙත්. පුරුෂයාගේ සඞ්කල්පරාගය ම කාම වෙයි. ලොව්හි විසිතුරු වස්තුහු එලෙසින් ම සිටුනාහ. වැලිත් එ අරමුණු කෙරේ උපන් ඡන්දරාගය ධීරයෝ විනයනය කරත්.

ඒ වගේම පැටලෙන තැන් ගැන ප්‍රවේශම් වෙන්න. ඡායා රූපකරගත්ත බව අමතක කරලා රූප කියන තත්වයම සැබෑවක් කරගෙන ඒ රූප බිඳ බැලූවාට කඩා බැලූවාට පිළිකුල් කලාට මැරෙන බව සිහි කලාට ආදීනව වශයෙන් බැලූවාට රූපය සැබෑවටම බිදෙනවාද? රූපය කියන සංඥාවෙන් මිදෙන්නට හැකිවෙනවද? දැන් මේ ප්‍රතිචාර දක්වන්නේ කුමක් දෙස බලාගෙනද? ඔව්! ඡායාරූපය දෙස බලාගෙන තමයි සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ලෙසින් හැඟීමකින් යුතුව කටයුතු කරන්නේ. ඒ දේ නුවණින් අවබෝධ කරගන්න. නැතිනම් අමාරුවේ!

හොඳ නරක හෝ මධ්‍යස්ථ හැඟීම පහල වුනේම මේ ඡායාරූපය කියන සටහනට මිසක් බාහිරයේ වූ තත්වයකට නොවේ කියලා වැටහෙනවද? රූපය බාහිරයේ තිබෙන දෙයක් නොවන බව දැකගන්නට හැකිවෙනවාද? රූප දැක්ක ඇස කුමක්දැයි හඳුනාගන්නට හැකිවෙනවාද? ඔක්කෝම අඟක් මුලක් නැතිව පැටලිලා තව තවත් මුලාවම මෝහයම ඔප්නැංවිලා එනවා මිසක් ලැබෙන නිවීමක් තියේවිද?



මිරිඟුවක් දෙස බලාගෙන මිරිඟුවක් යන බව අවබෝධයෙන් තොරව එතැන තිබෙන්නේ ජලය ඒ ජලය මෙන්න මේ වගේ කරදර දෙනවා දුක් දෙනවා ඒ නිසා ඒ ජලයට ඇලෙන්න බැඳෙන්න හොඳ නෑ කියලා ඒ ජලය කෙරෙහි ඇතිවන රාගය යටපත් වෙනවා නම් ද්වේශය යටපත්වෙනවා නම් එතැන තිබූ ජලය කියන සංඥාවේ යථාර්ථය දැකගත්තේ නැතිනම් මෝහය ඉවත් වෙලාද?

නිවන කෙසේවෙතත් මේ ආකාරයට විදර්ශනා කලහොත් ලැබෙන යමක් තියෙනවා... ඒ රැවටීමක්! රාගය මතුවෙන්නේ නෑ... ද්වේශය මතුවෙන්නේ නෑ ඒ නිසාම හිතාගන්නවා හරි දැන් ඉතින් මෝහයත් නෑම තමයි කියලා. මේ අවබෝධයද?මාර්ග ඵලයක් ලැබී ඇතැයි පවා සිතෙන්නට පුළුවන්... එතරම්ම භයානකයි... ඒ නිසා බුද්ධිමත්වන්න!

රූපය පිරිසිඳ දැකලාද මේ තත්වය උදාවුනේ? නෑ! රැවටීමක් පමණයි. රූපය එහෙමමයි. එය විදගන්නට නොහැකි වුණා. රූපයේ ප්‍රිය භාවය සිඳලා අවබෝධ කරගත යුතුයි. මොකක්ද ප්‍රිය භාවය සිඳිනවා කියන්නේ... කැමැත්තට අනුව බලාපොරොත්තුවට අනුව ලැබුනේ බලාපොරොත්තු වූ කැමැති වූ රූපයක්ද නැතිනම් ඡායා සමූහයක්දැයි නුවණින් විමසා බලනවා.

මිරිඟුවක ජලය දකින විට ජලය ලෙසින් ලැබූ රූපාකාරය ලැබුනේ කෙසේදැයි නුවණින් විමසා බලනවා.

ඔන්න ජලය නැමැති රූපාකාරයේ ප්‍රියභාවය ජලය ලෙසින් දැකගන්නට බලාපොරොත්තු වූ කැමති වූ රූපාකාරයේ ඒ ස්වභාවය ඉවත් කරලා ඇත්ත දැකගන්නට නුවණ මෙහෙයවූවා. මැජික් සංදර්ශනය ලැබෙන කොට එයට වශී නොවී වශී බව සිඳලා බිඳලා ඇත්ත දැකගන්නට සිහියෙන් ඉන්නවා...

ඔන්න මිරිඟුවක ජලය ලෙසින් පෙනුනේ මෙන්න මේ හේතු සකස් වීම නිසාමයි කියලා දැනගන්නවා. ඉන්පසුවත් ජලය පේනවා ඒත් කැමැත්ත බලාපොරොත්තුව ඉෂ්ඨ වෙලා නෑ කියලා වැටහෙනවා... ජලය ලෙසින් ගෙන බැඳෙන්නේ නෑ ඇලෙන්නේ නෑ.. ගැටෙන්නේ නෑ... ජලය ලෙසින් භාරගැනීමක්ම සිදු වෙන්නේ නෑ ඒ නිසාම මෝහය ක්‍රියාත්මක වෙන්නේත් නෑ.

ඉතින් මේ ආකාරයට නිසි විදර්ශනාව පිණිස නිසි ලෙසින් විදගන්නට අවශ්‍ය කරන ක්‍රමය හෙවත් විද බලන විද්‍යාව නිසි ලෙසින් පෙන්වා දෙන්නන් දුර්ලභයි. ඒ දේ පෙන්වා දෙන විට නිසි ලෙසින් ග්‍රහණය කරගන්නට අවශ්‍ය කරන මානසික පසුතලය දෙන්නෝද දුර්ලභයි. ඔන්න වෙච්ච වින්නැහිය! මෙය නුවණින් දැකගන්න! ප්‍රවේශමෙන් කටයුතු කරගන්න! නියම ධර්මය මතුවේවි. නිවීම බොහෝ දුර නොවේවි. සසර කෙටි බව තමන්ටම අත්දැකගන්නට හැකිවේවි. සසර කෙලවරක් පේන මානයේ බව ඒ ඒ මට්ටමෙන් අත්දැකගන්නට හැකිවේවි!

ඉතින් මේ ඉතාමත් කෙටියෙන් ගැඹුරු අභිධර්ම කරුණු සහිත දර්ම කොටසක් සරල උපමාවකින් පෙන්වා දීමක් පමණයි. පද ඉක්මවා වචන ඉක්මවා ගැඹුරු අදහස අනුමාන වශයෙන් හෝ අවබෝධකරගන්නට උත්සාහ ගැනීම සුදුසුයි. පද වල එල්ලී සිටියාට පද වෙනස් කරනවා යැයි වාද විවාද කරගත්තාට ලෝකය පිළිබඳව අනුමාන වැටහීමක්වත් නොමැතිනම් අනාථයෙනුත් අනාථ බව නිති සිහියේ තබාගන්න!!!

කිසිවෙකුටත් ඔබව ගලවාගැනීමට නොහැකියි... කාටවත් බෑ අපේ ගැලවුම්කාරයා වෙන්න... අපි මෙන්න මේ දේ නුවණින් දකින මොහොතේ වැටහේවී කොතරම් සියුම් අවස්ථාවකින්ද මේ සියලූ දුක් රැස නිර්මාණය වෙලා තිබුනේ කියලා. මෙච්චර කාලයක් කියපු කරපු හිතපු දේවල් අපරාදේ කියලා හිතේවි!!! මොන පිස්සුවකින්ද හිටියේ කියලා දැනේවි!!! කාටවත් මෝඩයෝ කියන්නට පිස්සෝ කියන්නට මොහොතකටවත් නොසිතේවි!!!

ඉතින් මේ පෙර නොඇසූ විරූ දහම මතුකරගැනීමට තව තවත් පහසුවෙන් අවබෝධකරගැනීම පිණිස අවශ්‍ය කරන්නාවූ තවත් බොහෝ ධර්ම කරුණු කාරණා ඔබට අවස්ථාව ලැබෙන පරිදි උදාහරණ උපමා තුලින් ගලපා ලැබෙන්නට සලස්වන්නම්! එතෙක් පින්වත් කළ්‍යාණ මිත්‍රයාණන්වහන්සේලා හමුවී සත්ධර්ම ශ්‍රවණයටම මුල්තැන ලබාදී තමන්ගෙන් විය යුතු යෝනිසෝ මනසිකාරය සහ ධර්මානුධර්ම පටිපදාව යන කරුණු නිසි ලෙසින් සම්පූර්ණ කරගැනීමට තම තමන්ටම අවස්තාව උදාකර දෙන්න!!!

පොත පත තුලින් කියවා හෝ වේවා පොඩි කාලයේ පටන්ගෙන අසාගත්තාවූ දෑ හෝ වේවා මොන යම් හෝ ආකාරයකින් තමන් දන්නා දත්තයන්ට ගලපමින් සත්ධර්මය ශ්‍රවණය කරන එක දැන්වත් නතර කර දමන්න! අන්න එයම තමයි පෙර නොඇසූ විරූ දහම් දැකගැනීම පිණිස ලබාදිය යුතු මානසික පසුතලය. නිසි විමර්ශණය එවිට පැදේවි. ඉතින් ඔබ සැමටම ප්‍රඥාවන්තව කටයුතු කරගැනීමට හැකිවේවා!!! වචන පදවල හිරවී නොසිට කළ්‍යාණ මිත්‍ර ආශ්‍රය නිසි ලෙසින් ලබාදෙත්වා!!! **ඡායාරූපකරණයෙන් මිදෙත්වා!!!**

මෙතැන් පටන්ගෙන ප්‍රකට භාවනා ක්‍රම කීපයක් ගැඹුරු අදහසින් යුතුව කරගන්නා අයුරු ඉතාමත් කෙටියෙන් පෙන්වා දෙන්නම්. කල්‍යාණ මිත්‍ර ආශ්‍රය නිසි ලෙසින් ලැබ මේ භාවනාවන් නිසි ලෙසින් කරගැනීමට හැකි දහම අවබෝධකරගෙන හෝ අවබෝධයෙන් යුතුව භාවනාවක් දැනටමත් කරනවා නම් එය සාර්තක කරගන්නට අවශ්‍ය කරන උපකාරය ලැබගෙන අප්‍රමාදීව නිවන පූර්ණය පිණිස කටයුතු කරගැනීමට උත්සාහවන්ත වන්නට හැකිවේවා!!! තෙරුවන් සරණින් නිවනම වේවා!!!

**මතු සම්බන්ධයි...**

## මුද්‍රණය කිරීමේ පහසුව පිණිස මේ වන විට සකසා නිම කර ඇති වෙනත් ග්‍රන්ථ...

1. නිවනක් නැති දෙතිස් කථා
2. නැණවත් බුද්ධ පූජාව
3. නිදහසට කාරණා සුදුසුද?
4. සතුට පිණිස යැපෙන්නෙක් නොවෙමු!

## අන්තර්ජාලයේ සත්ධර්ම ඇසුර පිණිස අවස්ථා

www.nirvanadhamma.com

www.signlanguages-nirvanadhamma.com

http://blog.nirvanadhamma.com

http://hiddenbuddhism.blogspot.com

http://damwarusa.blogspot.com

http://hiddenbuddhism2.blogspot.com

## අන්තර්ජාලය ඔස්සේ (සත්ධර්ම ඇසුර පිණිස) සම්බන්ධ වීමට අවස්ථා

E mail : viduransi@gmail.com

On Face Book :

www.facebook.com/viduransi | www.facebook.com/nirvanadhamma | https://www.facebook.com/groups/73073047891 | https://www.facebook.com/BuddhismforDeaf

On Twitter :

https://twitter.com/nirvanadhamma

**නිරපේක්ෂතාවය කරා “නිර්වාණ ධර්ම”...**

සෑම මිනිසෙක් තුලම ලැබිය යුතු නිවීම තිබෙන නිසාම ඒ නිවීම මතු කරගැනීම පිණිස අංශු මාත්‍ර හෝ උපකාරයක් වීම **www.nirvanadhamma.com** වෙබ් අඩවියේ ප්‍රධාන අරමුණයි. ආගම් ජාති කුලමල තත්ව තානාන්තර භේදයකින් තොරව සත්‍ය ගවේෂණය කොට ඒ තමන් තුලම තිබෙන්නාවූ නිවීම සැබෑ සැනසීම මතු කරගැනීම පිණිස **“නිර්වාණ ධර්ම”** වෙබ් අඩවිය ඔස්සේ සෑම විටකම පාහේ ඔබව උනන්දු කරවන්නේ ඒ නිසාමයි.

ලොව වටා දහස් ගණනින් සිත් සතන් සුවපත් කරමින් පිරිසිදු සත්ධර්මය බෙදන්නට මේ වන විට **“නිර්වාණ ධර්ම”** වෙබ් අඩවිය සමත්වී තිබෙනවා. ලොව වටා බහුතරයක් පිරිස වෙත මේ අපූරු ගැඹුරු විද්‍යාව විවෘත කරදීම පිණිස ගුණාත්මකව, නිර්මාණාත්මකව විවිධ භාෂා ඔස්සේ හැකි සෑම අයුරකින්ම කටයුතු කරන අතර නොපෙනෙන ලෝකයේ සැඟව ඇති අනතුර පෙන්වා දෙමින් ලෞකිකවූත් සුගතිගාමීවූත් පැවැත්ම පිණිස හේතුවන්නාවූ ක්‍රියා පිළිවෙලින් ඔබ්බට මනස මෙහෙයවා ප්‍රඥාවන්තව මිනිසත්බවින් නිසි ඵල නෙලාගැනීමේ වැදගත්කම සිහිපත් කරදීමට මේ වෙබ් අඩවිය පසුතලය සකසා දෙනවා.

යමෙකුට කළගුණ සළකනවා නම් ආදරයක් දක්වනවා නම් එය පෙන්වීමට හොඳම ක්‍රමය මේ අනන්ත දුක් රැසෙන් මිදෙන්නට මඟක් විවර කර දීමෙන්මයි... ඒ ප්‍රඥාවන්තභාවය ලැබගැනුම පිණිස ආධාරයක් උපකාරයක් වන දෑ නිවී සැනසීමට ආකර්ශණයක් ඇතිකරවන දෑ ලබා දීමමයි... අන්න ඒ නිසාම ධර්ම දානය සියලූ දානයන් අභිබවා යයි... සියලූ දුක් කෙලවර කරගන්නා මාර්ගය පාදා දෙන නිර්වාණ ධර්මය ලබාගැනීම පිණිස පසුතලය සකසා දීම පිණිස මිනිසෙක් වශයෙන් මට කල හැකි පුංචි කොටස කරනේනෙමි. මිනිසෙක් වශයෙන් අන් සතහට දැක්විය හැකි ආදරය ගෞරවය නිසි කෘතගුණ සැළකීම මට හැකි පමණින් කරන්නෙමි.

රාගයෙන් ද්වේශයෙන් මෝහයෙන් රත්වී අවුල් ජාලයන් වී තිබෙන්නාවූ සිත් සුවපත් කිරීම පිණිස විශ්වයේ එදා මෙදා තුර පහළ වූ මහා මනෝ වෛද්‍ය විශේෂඥයාණන්වහන්සේ පෙන්වා දුන්නාවූ ක්‍රම වේදයන් **“නිර්වාණ ධර්ම”** ඔස්සේ ඇසුරු කරන්නට හැකි උපරිමයෙන් අවස්ථාව සලසා දෙමි. වචනයේ පරිසමාප්ත අර්ථයෙන්ම නිවීම සැනසීම උදාකරගැනීමට හැකි... කිසිවෙකුටත් අපහාස උපහාස නොවන රාග සිත්, ද්වේශ සිත්, මෝහ සිත් පහල වීමට රුකුල් නොදෙන අයුරින් ධර්මයක් ලබා දීම පිණිසම වෙන් වූවකි.

ඉඳින් නිවීම පිණිස... සැබෑ සතුට ලැබීම පිණිස... සියලූ දුක් කෙලවර කරගැනීම පිණිස... ආගම්, ජාති, කුලමල, තත්ව තානාන්තර භේදයකින් තොරව සිත් සතන් සුවපත් කරගැනීමට කැමතිවූ සියලූ සතට **“නිර්වාණ ධර්ම”** දිවියට ආශිර්වාදයක්ම වේවා!!!
තෙරුවන් සරණින් ඔබ සැමටම නිවී සැනසීමම වෙත්වා!!!
සැබෑ සතුටම සැනසීමම ලබත්වා!!!

